සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

14 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2556ක් වූ උඳුවප් මස (ව්‍යවහාරික වර්ෂ 2012 දෙසැම්බර්)

## රටක සිරිත් දුසිරිත් අනුව ඇතිවන
## සම්පත්තිය හා විපත්තිය



සැඟව ගිය බොදු මග යළි රැගෙන සැම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-



# බඹ ලොව නොදුටු දුක



මානය නැගෙයි අන් බඹුනගෙ තරම දැකා<br>
ඕනය එවිට තම ලොකු කම ගන්න රැකා<br>
හීනය නොතිබුණොත් ඔද තෙද තකට තකා<br>
පානය සතුට මුත් බඹ අත් බවද දුකා

සව් සත දකින විට තම දූ දරුවො ලෙසේ<br>
මවු පිය ලෙසට ඇවිලෙයි මහ ගින්න හිසේ<br>
අවුරුදු කප් ගණන් යන මුත් නැතිව තොසේ<br>
සෙව් සුව සතුට නැත හද ගින්දරකි මෙසේ

මර බිය අඩුව නැත කොයි මොහොතකද කියා<br>
ජර මර පෙනෙයි හිඳිනා විට දිවැස අයා<br>
වෙර නැති විටදී සිහි කරනට ලොවට දයා<br>
සුර බඹ වුවත් වැළපෙයි පිළිසරණ සොයා

සහපිරිවර සමග සිටියත් බලය මත<br>
වහ වහ බිඳෙයි සුව සතුටද නැතිව හිත<br>
අහවර වන විටදී අත් බව බියද එත<br>
මහ බඹුටත් මැරෙන දවසක් හිමිව ඇත

එන විට කල්ප වැනසුම මතු දිනයක දී<br>
පැන ගත නොහැක සුව විඳ මහ බඹුට බැඳී<br>
නැණ බල ඇතත් දිවියට කිසි ඉඩක් නොදී<br>
පෙන බුබුලක් ලෙසින් යයි බඹ ලොවත් බිඳී

පෙර කළ හේතුවේ එල ගෙවමින් දැනට<br>
කරදර අඩු ලොවක් ගොඩ නැගුණත් පිනට<br>
තොර වන විටදී ආයුස මතු එන දිනට<br>
කරනට දෙයක් නැත දුක එනවා මනට

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවනට පියගැට පෙළක් වන් වූ

# දේවතානුස්සතිය





බුද්ධානුස්සතිය, ධම්මානුස්සතිය, සංඝානුස්සතිය, සීලානුස්සතිය, ත්‍යාගානුස්සතිය...... ආදී වන්නා වූ දස අනුස්සතිවලින් එකක් තමයි දේවතානුස්සතිය කියන්නේ. දේවතානුස්සතිය නිවැරදි ආකාරයෙන් දැනගෙන වැඩුවොත් නිවනින් කෙළවර කරගන්න පුළුවන්. ඒක සිද්ධ වෙන්නේ වඩන ආකාරය අනුවයි. වඩන ක්‍රම දෙකක් තියෙනවා. ලෝකය අල්ලගෙන සිටින පුද්ගලයා දේවතානුස්සතිය වඩන ක්‍රම වේදය එකක්, ආර්යයෝ නිවන කරා යන දේවතානුස්සතිය වඩන ක්‍රම වේදය තව එකක්.

ලෝකය අල්ලගෙන සිටින පුද්ගලයා මේ ලෝකයේ අනිච්ච බව, දුක්ඛ බව, අසාර බව නුදුටු නිසාම, මේ සංසාරයේ සැරිසරන්නේ තම තමන් ඉන්න අත්බැව හොඳයි කියන දෘෂ්ඨියේ ඉඳගෙන. ඒ කෙනා මේ අත්බැව හොඳයි කියන දෘෂ්ඨියේ ඉඳගෙන, ඒ ඒ අත්බැවත් සමග බැඳී එන දුක් කන්දරාවලට තියෙන අකමැත්ත නිසා, එසේ දුක් කරදර නැතිව ඉන්න තියෙනවා නම් හොඳයි කියන බලාපොරොත්තුවේ ඉඳගෙන, ඒ ඒ අත්බවයට වැටහෙන දෘෂ්ඨිය අනුව, ප්‍රිය මධුර දේ කෙරෙහි ඇලීමෙන්, ඒ වගේම ඒ ඒ අත්බවයට වැටහෙන දෘෂ්ඨිය අනුව අනිෂ්ඨ, අප්‍රිය ලෙස අරමුණු වන දේ සමග ගැටීමෙන් සංසාර ගමනේ යනවා. ඉතින් මේ සත්වයා ඒ ඒ අත්බැව්වලට අනුව ප්‍රිය මධුර දෘෂ්ඨියේ (යම් කෙනෙකුගේ දෘෂ්ඨියට ප්‍රිය මධුර දෙයක් තවත් කෙනෙකුගේ දෘෂ්ඨියට අනුව අප්‍රිය අමධුර වෙන්න පුළුවන්) බැඳී ඉන්න තාක් කල් (උපාදානය ඉවර වෙන කල්) ඒ අදාල අත්බැවෙන් මිදීමක් නම් නෑ. මෙන්න මේ විදියට සත්වයින් අනාදිමත් කාලයක පටන් සංසාර ගමනේ සැරිසරනවා.

ඉතින් මේ සංසාර ගමනේ සැරිසරන සත්වයා එක් කාලයක සතර අපායේ ඉපදෙනවා. එහි අනන්ත දුක් කන්දරා විඳලා, ඒ පාප කර්ම විපාකය අවසන් වුනාම සමහර විට පෙර සසර කරපු අපරාපරීය පුණ්‍ය කර්මයක් කර්මානුරූපව ඇදිල ඇවිත් මිනිස් අත්බැව්වල, දිව්‍ය අත්බැව්වල පවා උපදිනවා. නමුත් ඔහු මේ ලෝකය වටිනවයි කියන දෘෂ්ඨිය අත්හැර නැති නිසා, තවදුරටත් ඇලීමෙන්, ගැටීමෙන් කරන පාප කටයුතු නිසා නැවත සතර අපාගත වෙන්නත් පුළුවන්. ඒ ආකාර වූ ස්වභාවයක් ඇති මේ සංසාරය ගැන අවබෝධයක් නොමැතිකම නිසාම (අවිද්‍යාව නිසාම) සත්වයා මෙහි සැරිසරනවා.

මේ විදිහට මේ සංසාරයේ සැරිසරන සත්වයා වඩන දේවතානුස්සතිය මොකක්ද කියල දැනගනිමු.





**සංසාරයේ සැරිසරමින් ලෝකය අල්ලගෙන සිටින පුද්ගලයා දේවත්වයට පත් වීමෙන් ලැබෙන සැප, ආයුෂ... ආදී වන්නා වූ බලාපොරොත්තු ඇතිව හෙවත් ඡන්දරාග සහගතව දෙවියන් සමග එක් වෙලා, දෙවියෙක් වෙලා ජීවත් වෙන්න ඇත්නම් කොච්චර හොඳද කියන අදහසින් දේවතානුස්සතිය වඩනවා. දෙවියෙක් වීමට අවශ්‍ය කරන්නා වූ යම් සුචරිතයක් පින් දහමක් ඇත්නම්, ඒක මම කරන්න ඕන කියල නිතර දෙවියන් සිහි කර කර දේවතානුස්සතිය වඩනවා.** මෙක අබුද්ධෝත්පාද කාලවලත් පවතින දේවතානුස්සතියක්, දෙවියන් සිහි කරන ක්‍රමයක්. ඒක ලෝකයට අයිතියි, අවිද්‍යා සහගතයි, ''අවිද්‍යා පච්චයා පුණ්‍යාභි සංඛාරා'' කියන පටිච්ච සමුප්පාද චක්‍රයයි එහිදී ක්‍රියාත්මක වෙන්නේ. සසරින් එතෙර වෙන්න මේ දේවතානුස්සති ක්‍රමයෙන් බෑ. එහෙනම් සසරින් එතෙර වීම අරමුණු කරගෙන වඩන දේවතානුස්සතිය මොකක්ද කියල දැනගනිමු.

**සසරින් එතෙර වීම අරමුණු කරගෙන දේවතානුස්සතිය වඩන්නේ, මූලික වශයෙන් දහම් දර්ශනය පහළ වෙලා, දහම් ඇස පහළ වුනු කෙනෙක් හෙවත් ලෝකයේ අනිච්ච, දුක්ඛ, අනත්ත බව දැකපු කෙනෙක්.** මෙහෙම දැක්ක කෙනාට පේනවා මේ අත් බැවෙන් අත් බැවේ, අල්ල ගැනීමෙන් විඳින, එකින් එක දුක් කරදරවල හැටි.

සතර අපාය කියන්නේ කොච්චර දුක් ගොඩක් විඳින්න තියෙන තැනක්ද? නිරය මහා ගිනි ගොඩක්, අප්‍රමාණ දුකක්, බැලූ බැලූ තැන සැනසුම් මාත්‍රයක්වත් දකින්න නෑ. පොඩි මොහොතක්වත් ආස්වාද මාත්‍රයක්වත් නෑ. දකින දකින තැන අසහනයෙන් පීඩිත වෙලා, ගිනිගෙන දැවෙන තැවෙන විවිධාකාර කම්කටොලු බාධක එන ස්වභාවයක් ඇති තැනක්. එතන මහා දුක්වලින් පිරිලා. ඒ අත් බැවේ ඉන්නකල් අනන්ත දුක් විඳිනවා. සැනසුමක් කියන මාත්‍රයක් ටිකකටවත් නෑ. අන්න ඒ වගේ ස්වභාවයක් තමයි එතන තියෙන්නේ. ඉතින් ඇයි මෙහෙම අවස්ථාවකට සත්වයා පත්වෙන්නෙ? අසාධාරණයේ උපරිමය සිද්ධ කළ සත්වයන්ටයි මෙබඳු විපාක ජාතියක් හිමි වෙන්නෙ. මෙබඳු අනිෂ්ඨ අප්‍රිය විපාක (නිරය නම් අපාය) උදාවෙන්න හේතුව, ලෝකයේ ආස්වාදයන් උපරිම අසාධාරණයෙන් විඳීම සුදුසු යැයි ඇති දෘෂ්ඨිය මුල් ☞

කරගෙන කරන කටයුතු නිසයි. **මිනිහෙක් වෙලා ඉපදිලා උපරිම අසාධාරණයෙන් විඳින ආස්වාදය විඳින්නේ කොයිතරම් කෙටි කාලයකද?** උපරිමයෙන්ම අවුරුදු සීයක් හෝ ඊට වඩා අඩු කාලයක් පමණයි. එතෙක් කල් ගෙවපු අසාධාරණයට අනුකූල වූ ජාතිය පහළ වෙන්නේ ඊට පසුවයි. නමුත් ඒ විපාකය ගෙවිය යුතු කාලය නම් හිතාගන්න අමාරුයි. සමහරවිට අන්තඃකල්ප ගණන්. එතකොට මහා අසාධාරණයකින් විඳපු ආස්වාදයට මොකද වුනේ? මහා ආදීනවයක් ඉතුරු කරල ඒකත් ගෙවිල ගියා. එහෙනම් **ආස්වාදයක් ලැබුව වුනත්, එයින් මහා විනාශයකට ඇද දමපු නිසා, ලබපු ආස්වාදය හිස් දෙයක් මෙන්ම භයානක දෙයක් කියල වැටහෙනවා. හරයක් ඉතුරු වුනේ නෑ. අනාතෙන් අනාතයටම ඇදිල ගියා.** එහෙනම් තමන් අසාධාරණය කරන ලද කර්මයන්ගේ බලය ගෙවී යන තුරු අපායෙන් මිදෙන්න බෑ. ඒ කර්ම වේගය ගෙවා කෙළවර වී නැවත සුගති අත්බැවකට හේතු වන අපරාපරීය වශයෙන් නැගෙන කුසල ධර්මයන් නැගී ආවොත් අපායෙන් මිදෙනවා.

ඔය ඉහත කී නිරය සහිත සතර අපායට අයිති එක කොටසක් තමයි ප්‍රේත විෂය. **සමහර ප්‍රේත කොටස් ඉන්නවා නැගිට ගන්න, යන්න එන්න පණ නෑ. බඩගිනියි, කර්ම ශක්තියෙන් හට ගත්ත කයක් නිසා පෝෂණය වෙන්නේ කර්ම ශක්තිය ප්‍රධාන කරගෙන. ඉතින් බඩගින්නෙ හිටියට මැරෙන්නෙ නෑ.** මිනිහෙකුට නම් වතුරවත් නොගෙන හත් දවසක් බඩගින්නෙ හිටියොත් මැරෙන්න වෙනවා, මේ කය පවත්වන්න බෑ. නමුත් එහේ හත් දවසක් නෙවෙයි, හත්සිය අවුරුද්දක් හිටියත් බඩගිනි වේදනාවේ ඉන්නවා මිසක් මැරෙන්නෙ නෑ. ඒ ප්‍රේත අත්බැවේ හැටි. මේ වගේ මස් ලේ සනීභවන කයක් එහෙ නෑ. කර්ම බලය මුල් කරගත් සූක්ෂම කයක් තමයි හැදිල තියෙන්නේ. ඒ කය නැගි නැගී දුක් දෙනවා, මැරෙන්නෙ නෑ. ප්‍රේත කොට්ඨාශයේ ස්වභාවය ඒ ආකාරයි.

ඒ වගේම තවත් කොට්ඨාශයක් ඉන්නවා තිරිසන් අත්බැව්වල. තිරිසන් සතුන්ට අර තරම් විපාක වේදනා නැති වුනාට, උන්ගේ ජීවිතයෙත් වැඩි හරියක් තියෙන්නේ අනාත තත්ත්වයක. කවදා හරි ඇහැ පේන්නෙ නැතුව ගියා නම්, කන ඇහෙන්නෙ නැතුව ගියා නම්, අත පය, ඇඟ හෝ තටු හයිය නැතුව ගියා නම්, පොඩ්ඩක් වෙලා තාවකාලිකව හෝ අසනීපයක් හැදුන නම් ඒ උගේ අවසානය. මොකද උන්, උන්ගේ ජීවිත අවසානය දක්වා ගෙවන්නේ එකෙක් අනිකාගෙන් පොර කකා තරඟකාරීවයි. **හැම වෙලේම සතා බලාගෙන ඉන්නේ අමු අමුවේම අනිකව මරාගෙන කන්න. එක සතෙකුට බැරි වෙන වෙලාව එනකල්, පුළුවන් සතා බලාගෙන ඉන්නවා.** ඊට වඩා බලය, ශක්තිය ඇති සතා බලාගෙන ඉන්නවා, ඌට බැරි වෙන වෙලාව එනකල් ඌව මරාගෙන කන්න. **ඒ තිරිසන් ලෝකය හැම වෙලේම අන්‍යෝන්‍ය වශයෙන් එකෙක් අනිකා මරාගෙන කන්න හෝ යටත් කරගන්න බලාගෙන ඉන්න ලෝකයක්.** මනුස්සයාගේ රැකවරණ යටතේ ගෙදරක හැදෙන සතෙකුට තමයි මැරෙන්නෙ නැතුව වයසට යනකල් ඉන්න පුළුවන් වෙන්නෙ. කැලේ ඉන්න සතෙකුට කවදාවත් ඒ අවස්ථාව උදා වෙන්නෙ නෑ. කැලේ වයසක සත්තු නෑ. වයසට යන්න කාලයක් උන්ට දෙන්නෙ නෑ, තව එකෙක් ඌව මරාගෙන කනවා. වයසට ගිය මුවෝ, ගෝන්නු ඒ එක සතෙක්වත් කැලේ නෑ. ඒ ලෝකෙ හැදිල තියෙන්නෙ පොඩ්ඩක් බැරි වෙනකොට අනිකට ගොදුරු වෙන්න. නිරෝගීව ඉන්න තාක් කල්, ඒ පරපුර විතරක් ඒ තත්වයෙන් ඉන්න පුළුවන් තාක් කල් පමණක් කැලේ ඉන්නවා. සතුන්ට ලෙඩ හැදුනාම හරි අනාතයි. මිනිස්සුන්ට වගේ එක එක බෙහෙත් ක්‍රමයි, බෙහෙත් කරන්න පිරිසයි කැලේ ඉන්න මේ සත්තුන්ට නෑ. කවද හරි මැරෙන්න වෙන්නෙ කැඟහද්දී අමු අමුවෙම මස් කඩ කඩා කද්දි තමයි. කිසිම පිළිසරණක් නෑ, වැස්සට තෙමෙනවා, අව්වට වේලෙනවා, කන්න නැත්නම් වේලි වේලි තමයි ඉන්නෙ. උදව් වෙන්න කවුරුත් නෑ. නමුත් ඔය අතරතුරෙත් පොඩ්ඩක් බැරි වෙනකොට තව සතෙකුට ගොදුරු වෙනවා. නැත්නම් කර්ම ශක්තිය නිසා ඒකෙන් බේරි බේරී තව තවත් කර්මය ගෙවන්න ක්‍රමයක් තමයි හැදිල තියෙන්නේ. මේ විදියේ දුක් විඳින තිරිසන් අත්බැව අපායට අයිතියි කියන්නේ ඒ නිසයි.

තව අපායක් තියෙනවා විනිපාතික අසුර කියලා. ඒ අයට නැගිට ගන්න බෑ, **ශරීර හරි විශාලයි. කම්මැලිකමින් අනුන් රවට්ටල කකා බිබී ජීවත් වුනු අයට කර්ම විපාකයක් වශයෙන්ම ලැබුණු ශරීර තමයි මේ.** අම්ම, තාත්තා හරි හම්බ කරන්න ගිහින් බොහොම වෙහෙස මහන්සි වෙලා ගෙදරට ආවට පස්සෙ, ගෙදර නිකන් ඉන්න දූවරු පුත්තු මොකද කරන්නෙ තවත් ඔහේ නිකන්ම ඉන්නවා. අම්මගෙ තාත්තගෙ වෙහෙස මහන්සිය ගැන කිසි තැකීමක් නැතුව, ''මගෙ ඔලුව කැක්කුමයි, මට බෑ මුකුත් කරන්න'' මේ ආදී වශයෙන් කියල මග හරිනවා. ඉතින් දරු සෙනෙහස නිසා කරන්න දෙයක් නෑ, උදේ ඉඳන් රෑ වෙනකල් දාඩිය මුගුරු දාගෙන මහන්සි වෙලා ආපු අම්මල තාත්තලා දරුවන්ගේ සුභ සිද්ධියට කියල කෑම බීම හදලා, නැගිටපන් පුතේ උඹට අමාරුද කියල නැගිට්ටවලා කන්නත් දෙනවා. එතකොට ඒ අයට කිසි අමාරුවක් නෑ, උඩ පැනල කනවා. අන්න ඒ වගේ **බොරු කරලා අනුන් වෙහෙස මහන්සි කරවල තමා විසින් වෙහෙසට මහන්සියට පත් නොකළ යුත්තන් පවා වෙහෙස මහන්සි කරවල, තම තමන්ගේ වාසියට වැඩ කටයුතු සිදු කර ගන්න අය, මෙන්න මේ කියන විනිපාතික අසුර නිකායේ මහ ශරීර ඇතිව ඊට සුදුසු තැන්වල උපදිනවා.** ඔය පාපයෙන් ඉපදිලා, කර ගත්ත කර්ම ශක්තිය නිසාම කන්න දෙයකුත් නෑ. බඩගින්නෙ දැවෙනවා. මැරෙන්නෙත් නෑ. සමහර විට ගල්වලට, කඳුවලට අරක් ගෙන උපදිනවා. මහ කඳු, ගිනි කඳු වගේ තැන්වල උපදිනවා. ඒ ශරීර ඒ කන්දටම සම්බන්ධ වෙනවා. ගිනි කන්ද තමයි උගේ ශරීරය. ඒ ගල හෝ කන්ද රත් වෙනකොට ඌත් රත් වෙනවා. ඒක දැවෙන කොට පිච්චෙන කොට ඒ අමාරුව ඌ විඳවනවා. මේ දුක කියන්න කෙනෙකුත් නෑ, කියන්නතත් බෑ, කරන්න දෙයකුත් නෑ.

නිරය, ප්‍රේත, තිරිසන්, අසුර **කියන්නා වූ මේ සතර අපායේ යමෙක් උපදින්නෙ මොකක් නිසාද කියල බලනව නම්, මේ අත්බැව්වල ඇති අනාත බව නොදන්නකම නිසාම, මේ අත්බැව් ලබන්න හේතු වන කර්ම හරි වටිනා දෙයක් කියල හිතාගෙන, වටිනවා කියන ආස්වාද ලබාගන්න, අයුතුකම් අසාධාරණකම් කරනවා. එහෙම කරන අයට මේ කියන සතර අපාය හිමිවෙනවා.**

උදාහරණයක් හැටියට කෙනෙක් කලින් අත්බැවක සිදු කරන ලද කාම මිච්චාරය නිසා ඔහුට පහළ වෙනවා අපායේ කටු ඉඹුල් ගහක්. නමුත් ඒ සත්වයා තමන්ගේ තියෙන කර්ම ශක්තිය නිසාම ඒක කටු ඉඹුල් ගහක් බව දකින්නෙ නෑ. ඔහුට පේන්නේ කටු ඉඹුල් ගහ උඩ මැවෙන කාම වස්තුවයි. නමුත් ඊට ඉහළ අත්බැවක සිටින කෙනා දකිනවා මේකෙ නගින්න ගියොත් විඳින්න වෙන වේදනාවේ තරම. නමුත් ඔහු සිටින ඒ අත්බැව හොඳයි කියන දෘෂ්ටිය නිසාම ඔහු ඒක දකින්නෙ නෑ. ඒ නිසා ඔහු එයින් ආස්වාද විඳීම සඳහා කටු ඇනෙද්දී ඇඟ ඉරාගෙන, ලේ පෙරාගෙන එහි නගිනවා. බලාපොරොත්තු වෙච්ච ආස්වාදය ලැබෙන්නෙ නෑ. බලාපොරොත්තු වෙච්ච කාම වස්තුව කටු ඉඹුල පාමුල මැවෙනවා. ඊට පස්සෙ නැවතත් ඒක හොයාගෙන බිමට බහිනවා. නමුත් තමන් බලාපොරොත්තු වෙච්ච ආස්වාදය ලබා ගැනීමේ අරමුණ අත්හරින්නෙ නෑ. තවමත් ඔහුට පේන්නෙ එහි ඇති ආස්වාද ස්වභාවයයි. ඒ නිසාම ඔහු ආයෙමත්

අර ගහට නගිනවා. අන්තිමට ලැබුණු ආස්වාදයක් නෑ, වේදනාවක් වින්දා විතරයි. නමුත් එහි ආස්වාදයක් තියෙනවයි කියන දෘෂ්ඨියෙන් මිදුනෙත් නෑ. මේ කටු ඉඹුල් ගහේ ඔහු දකින ආස්වාද මුලාවේ ඉන්න තාක් කල් ඔහුට ඒ අත්බැව ප්‍රියයි.

එහෙනම් මේ විදිහට සතර අපායේ ඇති ස්වභාවය ඒ ආකාරයෙන්ම දැකපු කෙනා එහි ඇලෙන්නෙ නෑ. ඒ කෙනා සොයා බලනවා සතර අපාගත වෙන්නේ කුමන දෙයක් සිතුවොත්ද, කිව්වොත්ද, කළොත්ද කියල. එහෙම හොයල බලල ඒවායින් අවංකවම වැළකෙනවා. **මෙතනදී ඔහු ඒ පාපකාරී සිතිවිලි, ක්‍රියා, වදන්වලින් වැළකෙන්නෙ, කාටවත් තමන් හොඳ යහපත් පුද්ගලයෙක් බව පෙන්වන්නවත්, තමන් හොඳ පුද්ගලයෙක් කියල ප්‍රශංසා ලබා ගන්නවත් නෙවෙයි. සතර අපායේ ඇති තතු ඒ ආකාරයෙන්ම දහමින් දැකපු නිසයි.** මෙන්න මෙහෙම පුද්ගලයා සතර අපායෙන් නිදහස් වෙනවා. ත්‍රිලක්ෂණය හෙවත් අනිච්ච, දුක්ඛ, අනත්ත මුල් කරගෙන මේ තතු දැක්කොත් අනුෂය නම් වූ පාප මූලය බිඳගෙන සදහටම අපා දුකෙන් මිදෙනවා.

මේ විදිහට ධර්මානුකූලව දකින කෙනා, මේ සතර අපාය මහා භයානකයි කියල එහි ආදීනව දැකල, මම සතර අපාගත වෙන්න කැමති නැත්නම් මොකද කරන්න ඕන කියල හිතනවා. එතකොට ඔහු දකිනවා මීට වඩා හොඳයිනේ මිනිස් ලොව මිනිහෙක් වෙලා උපදින එක කියල. ඔහු දැන් මිනිස් ලොව මිනිහෙක් වෙලා ඉපදිලා ආස්වාද හොය හොයා විඳිනවා. **මිනිසා මේ අත්බැවේ ඇති ආදීනවවලට අකමැති වුනත් මෙහිම ඇලෙන්නේ, මෙහි යම් ආස්වාද ස්වභාවයකුත් දකින නිසයි.** ඔහු ඉන්නේ, අනේ මෙහෙම ආස්වාදයක් වෙන කොහෙන් ලබන්නද? මේ මිනිස් ලොවේ තියෙන ආස්වාදය හරි වටිනවනේ! කියන දෘෂ්ඨියේ. අප්‍රිය අමධුර දේ ලබන්නෙ නැතුව ප්‍රිය, මධුර දේ පමණක් ලබන්න උත්සාහ කරනවා. ප්‍රිය මධුර දේ කෙරෙහි ඇලෙනවා. අප්‍රිය, අමධුර දේ කෙරෙහි ගැටෙනවා. කෙසේ හෝ සටන් කර තරඟ කර මැඩපවත්වා තමා ප්‍රිය කරන දෙය ඒ ලෙස පවත්වාගන්න උපක්‍රම යොදනවා. ඉතින් මේ මිනිස් අත්බැව කෙරෙහිම ඇලෙනවා, විරුද්ධ දේ සමග දූවි දූවී ගැටෙනවා.

හැබැයි ධර්මානුකූලව හිතන කෙනා වැඩිකල් මිනිස් ලෝකයේ තියෙන ආස්වාද පස්සෙ දුවන්නෙ නෑ. ඔහු යථාර්ථය දකිනවා. ඔහු නිතරම දහමට අනුකූලව හිතන්න පුරුදු වෙනවා. ආස්වාදයට රැවටී රැවටී අනන්ත සංසාරයේ තිබුණු ගති ලක්ෂණය දැන් ඔහුට ඉවරයි. ආස්වාද එකක් ජේනකොට දහසක් ආදීනව දෙන පැත්තයි ඔහුට දැන් මෙනෙහි වෙන්නේ. ඔහු දකිනවා මේ මනුෂ්‍ය අත්බැව හොඳයි කියල කොච්චර කිය කියා හිටියත්, මේකෙ මොන හොඳක්ද කියල. **මේ ශරීරය විවිධාකාර ලෙඩ රෝගවලට ගොදුරු වෙන හැටි, විවිධාකාර වසංගත ආවාම පීඩාවට පත් වෙන හැටි, කන්න බොන්න නැති වෙන හැටි, කන්න බොන්න දේවල් හොයන්න තියෙන වෙහෙස මහන්සිය, අනිත් කෙනා පැහැර ගනියි කියන බය, ඒ නිසා විඳින්න වෙන දුක් කරදර..** ආදී වශයෙන් මේ ආකාරයෙන් එකින් එකට මේ තරඟකාරී ලෝකයේ ඇතිවෙන්නා වූ අසහනකාරීත්වයන් මෙනෙහි කරල, අනේ මේ කුණු කයක් අරගත්තම මේක නිසා කොච්චර දුක් වෙහෙස විඳින්න වෙනවද, මේක හොඳයි හොඳයි කියල ගත්තම හරි මුලාවක් නේද කියල දකිනවා.

දහම් දර්ශනය පහළ වෙලා, දහම් ඇස ලබපු කෙනා දකිනවා, අනේ මේ මනුස්සයා ආස්වාද පස්සෙම දුව දුවා මෙහිම ඇලෙන්නේ, ගැටෙන්නේ මෙහි ආස්වාදයක් ඇතැයි කියන දෘෂ්ඨියේ සිටින නිසානෙ කියල. ඒ කෙනා මෙහි ඇති අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය දැකලා, අනේ මේ මිනිස් ලෝකෙ ඇති වටිනාකම මොකක්ද? මෙහි සිටීමෙන් ආස්වාද විඳීම සඳහා කොච්චර දාහයක්ද, ගින්නක්ද විඳවන්න සිද්ධ වෙන්නෙ කියල දකිනවා.

ඒ වගේම මේ කුණු කයක් අරගෙන මේකෙ හැපි හැපී මගේ කියල බදාගෙන පවුල් ජීවිතයක් ගත කරන එක, මේ මගේ පිරිස, මේ මගෙ පුතා, මේ පුතාගෙ පුතා, අපි එකතු වෙලා එකට ඉමුමු, මේ මම හම්බ කළේ මගේ අයට, අනිත් අයට මම හම්බ කරල නෑ... ඔය ආදී වශයෙන් කියමින් මනුෂ්‍ය සංඛාර වඩා ගන්න එක මනුෂ්‍ය කුණු ගොඩේම යළි උපදින්න හේතුවන සංඛාර බව ඔහු දකිනවා. **මෙහෙම මනුස්සයෙක් වෙලා ඉපදිලා ආස්වාදය විඳින්නේ කොයිතරම් කෙටි කාලයක්ද?** උපරිමයෙන්ම අවුරුදු සීයක් හෝ ඊට වඩා අඩු කාලයක් පමණයි නේද කියල ඔහු දකිනවා. එහෙම ගෙවෙන කාලයෙත් මඟදී අබ්බගාත වෙන්න පුළුවන්. නැත්නම් උප්පත්තියෙන්ම අබ්බගාත වෙලා උපදින්න පුළුවන්. එතෙක් කල් ගෙවපු සාධාරණ හෝ අසාධාරණ ජීවිතයේ සුදු හෝ කළු විපාක අවස්ථාව එන්නෙ ඊට පසුවයි. එතෙක් ගත කළ ජීවිතයට අනුකූල වූ ජාතිය පහළ වෙන්නෙ ඊට පසුවයි.

ඒ පුද්ගලයා බලනවා තමන්ගේ කරගෙන, තමන්ට කැමති සේ පවත්වාගන්න වෙහෙසෙමින්, මහා ගිනි උහුලගෙන විඳපු ආස්වාදයට මොකද වුනේ කියල. එතකොට දකිනවා ඒක ගෙවිල ගියා කියල. නමුත් **මගෙ කරගන්න, මට කැමති සේ පවත්වාගන්න රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් කළ කටයුතුවලට උරුම වුනු ආදීනවය පමණක් ඉතුරු වෙනවා. එහෙනම් ආස්වාදයක් ලැබුව වුනත්, එයින් මහ ආදීනවයක් ඉතුරු වුනු නිසා, ඒ ලබපු ආස්වාදය හිස් දෙයක් කියල වැටහෙනවා. හරයක් ඉතුරු වුනේ නෑ.**

එහෙනම් මහා ගිනි උහුලමින්, දාහයක් විඳිමින් ආස්වාද ලබා ගත යුතුයි කියන දෘෂ්ඨියෙන් මිදෙනකල්, ඔහුට මනුෂ්‍ය භවයෙන් මිදෙන්න බෑ. ඒක හිතුවට, පැතුවට සිද්ධ වෙන්නෙ නෑ.

එහෙනම් මේ මිනිස් අත්බැවෙන් මිදෙන්න නම් මොකක්ද කළ යුත්තේ කියල හොයල බලනවා. ඒ සඳහා අවශ්‍ය දේ අවංකවම සිතනවා, කියනවා, කරනවා. මෙතනදී තව දෙයක් තියෙනවා. සමහරු ඉන්නවා තමන් අතින් ඉටු විය යුතු යුතුකම් දැකල අම්මට, තාත්තට, සහෝදර සහෝදරියන්ට, අහළ පහළ අයට, නෑදෑයන්ට තමන් ඒ ඒ දේවල් ඉටු කරල දෙනවා. හැබැයි ඔහු ලෝකය වටිනවයි කියන මුලාවේ ඉඳල ඒ අය තමන්ගේ නිසා තමයි ඒ යුතුකම් ඉටු කරන්නේ. මොහු තවමත් වඩන්නේ මිනිස් සංඛාර. මොහු මිනිස් අත්බැව ඉක්මවා ගියේ නෑ. එහෙමනම් මේ ලෝකයේ අනිච්ච, දුක්ඛ, අසාර බව දැකපු කෙනා මිනිස් අත්බැවෙන් මිදෙන්න නම් කළ යුතු සිතිවිලි, ක්‍රියා, වදන් දැකල අවංකවම ඒ දේවල් කරනවා. ඒ දේවල් කරන්නේ මේ කය නම් වැඩක් නෑ, මේ ජාතියේ දේවල් හැදෙන්නෙ නැති කයක් කොහේ හරි කාට හරි තියෙනව නම් ඒක නම් හොඳයි කියල හිතලයි. මෙන්න මේ ආකාරයෙන් තමයි නිවනින් කෙළවර වන දේවතානුස්සතිය වඩන්න පටන් ගන්නේ. මිනිස්ව සිටින තුරු ඡන්දරාගයෙන් නොබැඳී තම යුතුකම් පමණක් ඔහු ඉටු කරනවා.

ඊට පස්සෙ ඔහු දකිනවා දිව්‍ය ලෝකයේ මේ වගේ දුකක් නැති බව අහල තියෙනවා කියන කාරණය. චාතුර්මහාරාජික දෙවියන්ට නම් මේ වගේ කුණු කයක් නැනෙ කියල අහල තියෙනවා. එහෙනම් එහෙම තැනකටවත් පත් වුනා නම්, ඒක මීට වඩා හොඳයිනෙ කියල, දිව්‍ය ලෝකයේ තියෙන ආනිසංස දකිනවා. ඒවුනාට දිව්‍ය ආත්මභාවයක් ලබන එක හිතුවට සිද්ධ වෙන්නෙ නෑ, පැතුවට සිද්ධ වෙන්නෙ නෑ කියල එතනට පත් වීම සඳහා කුමක්ද කළ යුත්තේ, ඒ දේ මා විසින් කළ යුතුයි කියල නිගමනය කරනවා. ඔහු එතැන් පටන් හොයනවා, බලනවා, හිතනවා, දන්න අයගෙන් අහනවා ☞

කොහොමද එතනට පත් වෙන්නෙ, ඒකෙ උපදින්නෙ මොනවා කරපු අයද, ඒකට හේතුව මොකක්ද කියල. අහනකොට ඒ අය මෙහෙම පෙන්වනවා. මේ **චාතුර්මහාරාජික දිව්‍ය ලෝකයේ අසාධාරණයට එරෙහිව නැගී සිටිමින් දැහැමි අයට පක්ෂව කටයුතු කරන පාලනයක් තියෙන්නේ.** එහෙම රාජ්‍ය පාලනයක් තියෙන කොට රජතුමාගේ රාජ නිළධාරීන් වශයෙන් විවිධ පිරිස් ඒ ඒ පැති පාලනය කරමින් ඉන්නවා. ඒ පිරිස් හැමට යහපත සැලැස්වීම සඳහා, දුෂ්චරිතයක් ඇත්නම් ඒකට පහර ගහලා ඒවා බිඳ හැරලා සුචරිත සමාජයක් ගොඩනගන්න යම් සේවයක් කළ යුතුද, ඒ අය අවංකව ඒ සේවය කරනවා. මෙන්න මේ සේවය කරන එක ලොකු පිනක්. තමනුත් දුෂ්චරිතයෙන් වෙන් වෙලා, දුෂ්චරිත කරන අය මැඩ පවත්වගෙන, සුචරිත දැහැමි පාලන ක්‍රමයකට මග පාදල දෙනවා. රජ්ජුරුවන්ගෙත් රාජ පාක්ෂික නිළධාරීන් ගෙත් පරමාර්ථය විය යුත්තේ මෙන්න මෙහෙම දැහැමි සමාජයක් ගොඩ නගල දීලා, දැහැමි රාජ්‍යයක් ගොඩනගල දෙන එක. ඒ නිසා මේ අයට දරදඬු පුද්ගලයන් මෙල්ල කරන්න සැඩ ගති ගන්න වෙනවා. දුෂ්චරිත පුද්ගලයන් මෙල්ල කරන්න දඬුවම් කරන්න වෙනවා. නමුත් සුචරිත දැහැමි සමාජයක් පවත්වා ගන්න කටයුතු කරන නිසා ඒ අය පිනකුත් සිද්ධ කර ගන්නවා. මේ නිසා සුදු කියන පුණ්‍ය විපාකයත්, කළු කියන පාප විපාකයත් දෙකම මිශ්‍රව කරන කෙනෙක් බවට පත්වෙනවා. හැබැයි සුදු විපාක වැඩියි, මොකද ශාන්ත අයට, දැහැමින්, සුචරිතයෙන් ජීවත් වන උතුම් අයට උදව් දෙන්න, ඒ අයට ප්‍රශංසා කරමින් අනික් අයටත් ආදර්ශයට ගන්න සලස්වමින් හොඳ සමාජයක් හදන්න උදව් කරන, මග පෙන්වන කටයුත්තක් කරන එක විශාල පිනක් යහපතක්. ඉතින් මෙතනට පත් වීම සඳහා කුමක්ද කළ යුත්තේ ඒ දේ කරනවා. මිනිස්සුන්ට දැහැමින් සාමයෙන් ජීවත් වෙන්න අවශ්‍ය කරන්නා වූ, සුබෝපබෝගීව ජීවත් වෙන්න අවශ්‍ය කරන ළිං තොටු, වැව් අමුණු ආරක්ෂා කර දෙනවා, අස්වද්දල තියෙන කෙත්වතු ආරක්ෂා කරල දෙනවා. මේ ආදී නොයෙක් ආකාරයෙන් ජීවත් වෙන්න සුදුසු දේවල් ආරක්ෂා කරල දීල සුචරිතයෙන් ජීවත් වෙන්න අනුශාසනා කරමින් කටයුතු කරනවා. ඒ වගේම දුෂ්චරිතය පිටුදකිමින් දැහැමි සමාජයක් හදන්න කටයුතු කරනවා.

මෙහෙම ජීවත් වෙනකොට මේ පින නිසා චාතුර්මහාරාජික දිව්‍ය ලෝකයේ දෙවියන් අතර උපදිනවා. මෙන්න දෙවියෙක් වෙන්න එක හේතුවක්. ඒ දෙවියන් අතර මේ වගේ ලෙඩ වෙලා දුක් වෙන, වයසට යන, කුණු වෙන ශරීර නෑ. එහි තියෙන දීර්ඝායුෂ දකින කොට ඔහු කල්පනා කරනවා, එහෙනම් චාතුර්මහාරාජිකයේ මහා දෙවියෙක් වෙන එක මනුෂ්‍යයෙක් වෙනවට වැඩිය හොඳයි කියල. එතැන් පටන් දේවතානුස්සතිය ආරම්භ කරනවා. මෙතැන් පටන් ඔහු මේ මස් ලේ කුණු කයක් අරගෙන, මේකෙ හැපි හැපී මගේ කියල බදාගෙන, මනුෂ්‍ය කුණු ගොඩේම යලි උපදින්න හේතුවන මනුෂ්‍ය සංඛාර වඩනවාට වඩා ඒවා ඉක්මවා ගිහින්



කාටත් යහපතක් වෙන ලෝකයේ, පොදු යහපතක් ඇත්නම් සොයා බලා ඒක කරනවා. **හොඳ දේ කරන අතර නරක දේට පහර ගහනවා. කරන ලද හොඳ, නරක දෙකේම පුණ්‍ය සෘද්ධිය බලවත් වෙලා, දර දඬු ගති ලක්ෂණ නිසා සමහර අයගේ අත්වලට ආයුධ කර්ම ශක්තියෙන්ම මැවිල එනවා.** නමුත් ඒ ආයුධ මැවිල එන්නේ නරකක් කරන්න නෙවෙයි. වරදක්, පාපයක් අයුක්තියක් කරන තැන පහර ගහලා හරි සමාජය බේරගන්නයි. ඒ වගේම චාතුර්මහාරාජිකයේ සතරවරම් දෙවිවරුන් වශයෙන් දේව කොට්ඨාශයක් ඉන්නවා. ඔය දෙවිවරුන්ට බොහොම දිගුකල් ආයුෂ තියෙනවා, මහ තේජස්, මහ බලවත්. ලෙඩ වෙන, කුණු වෙන කයකුත් නෑ. ඉතින් ඒ නිසා මට එහෙම කෙනෙක් වෙන්න ඇත්නම් කොච්චර හොඳද කියල මෙහෙම අදහසක් ඇති කරගෙන තමුන් ඊට අනුකූල සංඛාර හිතින්, කයින්, වචනයෙන් ගොඩනැගුව නම්, එයාට ඒ තත්වයට පත්වෙන්න වෙනවා.

හැබැයි ආර්ය ධර්මය අහපු කෙනා ඔතන නවතින්නෙ නෑ. මේ මනුෂ්‍යත්වයට වඩා නම් ඒක හොඳයි කියන එක පිළිගන්නවා. නමුත් ඒ අත් බැව හොඳයි කියන තැන නෑ. **ආර්ය ධර්මය තේරුම් ගත්ත කෙනා දේවතානුස්සතිය වඩන්නේ, දේව අත් බැව් ඉන් පහළ අත්බැව්වලට වඩා දුක අඩුයි කියලයි.** ඊට පස්සෙ දකිනවා, එතනත් මහ කරදරයක් කියල. රජෙක් ඉන්නවා, අණ පනවනවා, රජ්ජුරුවන්ගේ සේවකයො වගේ තමයි ඒ දෙවිවරුන්ට ඉන්න වෙලා තියෙන්නෙ. නිදහසේ ඉන්න බෑ. රජ්ජුරුවො කියනව, යම් කෙනෙක් යම්කිසි අයුක්තියක් අසාධාරණයක් කරනව නම් කරන්න දෙයක් නෑ, ගිහිල්ල ඔවුන්ව මැඩ පවත්වන්න, තමන්ගේ අණසක ඒ ස්ථානයේ පිහිටවන්න, තමුන්ට පුළුවන් දඬුවමක් දෙන්න, මෙහෙම අය විනාශ කරන්න බැඳල ඉන්න අමනුෂ්‍යයෝ ලිහල අරින්න කියල. එතකොට ඒ අයට ඒක කරන්න සිද්ධ වෙනවා. එහෙමත් ක්‍රමයක් දේව ලෝකයේ තියෙනවා. ඔය දේවතාවන්, මහා රෞද්‍ර අමනුෂ්‍යයෝ දේව බලයෙන් අල්ලල බැඳල හිරකරල ඉන්නෙ හරියට අලි, කුළු හරක් මෙල්ල කරගෙන ඉන්නව වගේ. ඒ අමනුෂ්‍යයින්ව, උන්ට ඕන ඒවා කරන්න නිදහසේ යවන්නෙ නෑ. නමුත් සමාජයම අදැහැමි, අසත්පුරුෂ වෙනකොට දෙවිවරුන් මෙහෙම හිතනවා. ''අසත්පුරුෂයො ආරක්ෂා කරල වැඩක් නෑ. උන් හිටියොත් තවත් ලෝකෙට විනාශයක් විතරයි කරන්නෙ, උන්ව අපි තවත් මොකටද රැකගෙන ඉන්නෙ, උඹලගෙ උරුම පැත්තකට උඹල පලයල්ලා, ඕන එකක් කර ගනිල්ලා.'' මෙහෙම කියල දේවතාවන්ගේ බලයෙන් නවත්වාගෙන හිටපු ඒ අමනුෂ්‍යයන් නිදහස් කරල යවනවා. ඒ අසත්පුරුෂයන්ගේ පැත්තට පමණක් සීමා කරල, අර අමනුෂ්‍යයන්ව දේව බැම්මෙන් ලිහල අරිනවා. එතකොට ඒ බැම්මවලින් නිදහස් වුනු අමනුෂ්‍යයන්ට උන්ගෙ අවස්ථාව එනවා. උන් ගිහිල්ල අර අසත්පුරුෂ මිනිස්සුන්ට නොයෙක්

ආකාරයෙන් ලෙඩ රෝග හදමින්, සිහිමුර්ජා කරමින්, හිංගි හිංසා කරමින් කරදර කරනවා. ඒ අසත්පුරුෂයින්ව උපක්‍රමවලින් රවට්ටනවා. ඔවුන් තුළ තියෙන අසත්පුරුෂකම නිසා දේවතාවන්ගේ රැකවරණයෙන් ඉවත් කළාට පස්සෙ ඒ අසත්පුරුෂ මිනිස්සුන්ට කරන්න දෙයක් නෑ. දෙවියන්ට කන්නලව් කළත් පිහිටක් නෑ. ඒ චාතුර්මහා දිව්‍ය ලෝකෙ තියෙන පාලන ක්‍රමයේ හැටි.

''නමුත් බෞද්ධත්වයට පත් වුනාම, ඔහොම අත් බැවක් මම ලබාගත්තොත් මටත් සිද්ධ වෙනවා හතුරන්ට වුනත් හිංගි කරන්න, හතුරන්ට නමුත් හිංගි හිංසා වෙන දේවල් මට නම් කරන්න බෑ. ඒක මහ දුකක්, කරදරයක්, මම අනුන්ට දුක් දෙන්නෙ මොකටද? එහෙම අත් බැවකින් මට වැඩක් නෑ'' මෙහෙම කියල චාතුර්මහාරාජික අත් බැවේ තියෙන ආදීනව දකිනවා. හැබැයි **අනුන්ගෙ නියෝගයන්ට යටත්ව හතුරන්ටවත් හිංසා නොකරන ඊළඟ දේව කොට්ඨාශයක් ඉන්නවා.** ඒ අය ලෝකෙට සේවයක්, හොඳක් කරනවා මිසක් නරකක් කරන්නෙ නෑ, හිංගි හිංසා කරන්නෙ නෑ, හොඳ විතරක් කරල දෙනවා. තමුන්ට හිංගියක් හිංසාවක් කළොත් ඒකත් ඉවසගෙන, ''මට ගැහුවාවේ, මම ගහන්නෙ නෑ, මට බැන්නාවේ, මම බනින්නෙ නෑ, මට අවැඩක් අසාධාරණයක් කරපුවාවේ, මම හොඳක්ම කරනවා, මේ තාවකාලික ජීවිතය මම අයුක්තියෙන් අසාධාරණයෙන් ගෙවන්නෙත් නෑ, අනුන්ට හිංගි හිංසා කරල ගෙවන්නෙත් නෑ, හොඳක්ම කරල අවසාන කර ගන්නවා'' මෙහෙම කියල මේ සංඛාර වඩන කෙනා ගිහින් තාවතිංස කියන දිව්‍ය ලෝකෙ උපදිනවා.

උදාහරණයක් හැටියට මගමානවක කතාව ගන්න පුළුවන්. මගමානවක කියන පින්වතෙක් තම පිරිස සමග එකතු වෙලා තමන්ට ඉන්න ගෙයක් හදාගත්තා. ඒක අනිත් අය පැහැර ගත්තට පස්සෙ තව ගෙයක් හැදුවා. මේ වගේ හදන හදන ගෙවල් එක එක්කෙනා පැහැර ගන්න කොට, අනේ හොඳයි අපි හදපු ගෙයි නුඹලා සන්තෝසෙන් හිටපල්ලා කියල තව ගෙයක් හදලා තව කාට හරි ප්‍රයෝජනයක් ගන්න දුන්නා. ඒ දෙන්නා ඔය ක්‍රමයට පටන් අරගෙන, අනිත් අය තමන් මහන්සියෙන් හරි හම්බ කරපු දෙයින් සැප විඳිනවා දැකල ඒකෙන් සතුටු වෙවී යන ජීවිතයක් ගොඩනගා ගත්තා. ඊට පස්සෙ වැව් අමුණු, ලිං පොකුණු හදල දුන්නා, ශ්‍රමදාන ව්‍යාපාර ආදිය කළා. අනිත් අයගෙන් මොනවා හරි ලැබුනොත් ඒකෙන් ජීවත් වුනා. මේ අදහස් ප්‍රිය කරපු පිරිස තිස්තුන් දෙනෙක් එකතු වෙලා කණ්ඩායමක් වී මේ සේවය කළා. ඒ **තිස්තුන් දෙනාගෙ නමින් තමයි ඒ දෙව් ලොවට තාවතිංස කිව්වේ.** මෙන්න මේව තමයි තාවතිංස කියන දිව්‍ය ලෝකෙ උපදින්න හේතු වෙන සංඛාර. ඉතින් චාතුර්මහාරාජිකයේ යම් දුකක් ඇත්ද තාවතිංසයේ ඒ මට්ටම නෑ. හැබැයි ඒ බෞද්ධයා තාවතිංසය හොඳයි කියන නිගමනයෙත් නෑ. බෞද්ධයා දේවතානුස්සතිය වඩන ක්‍රමය ඒකයි.

ඊට පස්සෙ ඒ බෞද්ධයා දකිනවා, අපි මෙහෙම යහපත් දෙයක් කරල ප්‍රසංසා ලබන්න කැමැත්තක් තියෙනවා, ඒ වගේම අපි යහපත් අයනෙ, අපි යහපත කරනවනෙ, ඒ නිසා ඒ ඒ අයගෙන් ප්‍රසංසාවක් ලබනවා, ප්‍රසාදයක් ලබනවා කියල. ඊට පස්සෙ දකිනවා, මම හොඳක් කළා නම් මට මොකටද අනුන්ගෙන් ප්‍රසංසාවක්, මට එහෙම වැඩකුත් නෑ, මට අල්ලගෙන ඉන්න දේවල් වැඩකුත් නෑ, මම යම්කිසි ආස්වාදයක් විඳිනව නම් ඒකත් මම අල්ලගන්නෙ නෑ, මම කියල බඳාගෙන ඒකෙම ඉන්නෙත් නෑ, මේ ලෝකෙ තියෙන වස්තු කාටත් පොදුයිනේ, මම මොකටද අසාධාරණ විදියට මේක අල්ලගෙන ඉන්නෙ කියල. මෙහෙම දැකල දැහැමින් සාධාරණයෙන් ජීවත් වෙලා ඉන්නවා. අන්න එහෙම අදහසක හිටපු අය ගිහින් යාමය කියන දිව්‍ය ලෝකයේ උපත ලබනවා.

**යාමය කියන දිව්‍ය ලෝකය කියන්නේ මම කියල අල්ලගත්තෙ නැති, නමුත් කාමාස්වාදත් විඳින්න තියෙන තැනක්.** ඒ දේව පිරිස නිදහස්ව ඉන්නවා. අර කියන්නා වූ ඇලිල, බැඳිල ඉන්න ගති ලක්ෂණත් නෑ. ආස්වාදයක් අවශ්‍ය වුනා නම් ඊට අවශ්‍ය දේ හෝ අවශ්‍ය අය පුණ්‍ය ශක්තියෙන්ම එක් වෙනවා. ආස්වාද වින්දට පස්සෙ අල්ල ගන්න බලාපොරොත්තුවක් නෑ. හැබැයි ඒ සියලු දේම එක තැනක පවතින්නෙ නෑ, නැවතිලා නෑ. ගමනෙම තමයි. යාම කියන්නෙ ඒ නිසයි. ඉතින් ඒ ලෝකෙ ස්වභාවයට අනුකූල සංඛාර වැඩුවොත් ඒකෙන් ගිහිල්ල උපදිනවා යාමයේ. හැබැයි තාවතිංසයේ යම්කිසි දුකක් තිබුන නම් ඒ තරම් දුකක් යාම ලෝකයේ නෑ.

ඒ වගේම තියෙනවා තුසිත කියන දිව්‍ය ලෝකය. ඒ ලෝකෙ ඉන්න පිරිසට හිත සතුටු කර ගන්න උපක්‍රම ක්‍රියාත්මක කරන්න අවශ්‍ය නෑ, හිතට නිතරම හරි සතුටක් තියෙනවා, සතුට පිරිහෙන්නෙත් නෑ. **මෙලොවත් කෙනෙකුට අවැඩක් අසාධාරණයක් කරන්නෙ නැතුව හොඳ දේම නිතර හිතමින් සතුටු හිතකින් ජීවත් වෙන පුද්ගලයාගේ මානසිකත්වය තුසිත දෙව්ලොව උපද්දවන්න හේතු වෙනවා.** තුටු වූ සිතක් ඇති නිසයි තුසිත කියන්නෙ. බොහෝ කොටම සෝවාන්, සකෘදාගාමී තත්වයට පත් වෙච්ච අය ඉන්නෙ හැම වෙලේම සතුටෙන් චිත්ත ප්‍රසාදයෙන්. ඒ අය අනුන්ගෙ හිත රිදවල සතුටු වෙන්නෙ නෑ, හිත රිදවන්න කැමතිත් නෑ. අනිත් අයත් සන්තෝසයෙන්, හොඳින් ඉන්නව නම් කැමතියි, දුක් වෙනව නම් කැමති නෑ. මෙන්න මේ ගති ලක්ෂණය වඩපුවාම තුසිත ලෝකයේ ගිහින් උපදිනවා. ඒ ලෝකෙ ආයුෂ යාම ලෝකෙට වඩා වැඩියි. හිතට දුක් දෙන අරමුණු ඒ ලෝකෙ නෑ. එතනට හිත නැගුන බෞද්ධයා, හිත සතුටු කර ගන්න යම් අරමුණක් තියෙනව නම්, ඒක ඇසුරු කරල හිත සතුටු කර ගන්නවා. සතුටු වෙන්න පුළුවන් අරමුණු හොයල බලල සතුටු වෙනවා. එහෙම කෙනා, ''කරපු හොඳ වැඩ කියන්නකෝ, මාත් සතුටු වෙනවා'' කියල, අහල බලල පර්යේෂණ කරල සන්තෝෂ වෙනවා. මෙන්න මෙහෙම සංඛාර වඩන කෙනා තුසිත දිව්‍ය ලෝකයේ උපදිනවා. යාමයට වඩා තුසිතය හොඳයි කියනවා මිසක් තුසිතය හොඳයි කියන බලාපොරොත්තුව ඒ පුද්ගලයාට නෑ. එතනත් යම් කිසි හෝ අසහනයක් තියෙන බව ඔහු දකිනවා.

ඒ පුද්ගලයා එයින් එහාට බලනවා. එතකොට දකිනවා තමන් පමණක් සතුටු වෙවී ඉන්නෙ නැතුව, අන්‍යයන්ටත් ඒ සතුට ලබාදෙන්න තමන් යහපත් වැඩ කරල ආදර්ශමත්ව ජීවත් වෙන්න ඕන කියල. ඒ වගේම අන්‍යයන්ට යහපත් ලෙස සතුටු වෙන්න අවශ්‍ය දැහැමි දේවල් නොපැකිලව ඉදිරිපත් වෙලා ඉටු කර දීමේ පින මේ නිම්මාණ රතියේ උපදින්න හේතු වෙනවා. අන්න ඒ සංඛාර වඩන කෙනාට නිම්මාණරති කියල සතුට නිපදවිලා එන ලෝකයක් හැදෙනවා. රති නිපදවලා ගන්න පුළුවන්, හිතන කොට නිපදවෙනවා, කිසි දේකින් අඩුවක් නෑ. තමන්ට කැමති හැඩයක් වුනත් හිතනකොට හිතපු විදියට නිපදවෙනවා. බාහිර පරිසරයක් හිතුවොත් හිතපු ආකාරයෙන් නිෂ්පාදනය වෙනවා. තමන් හිතන්නෙ මොකක්ද, ඒ රූප ඇති සේ විද්‍යමාන වෙනවා. තමන් හිතනව නම් යම් ලස්සන කෙනෙක්, එතකොටම එහෙම කෙනෙක් මැවිල එනවා. ලස්සන විමානයක් හිතුවොත් හිටිය තැනම විමානය මැවිල එනවා. ලස්සන ශරීරයක් හිතුවොත් ඒ හිතු විදියට ශරීර මැවෙනවා. මේ තමයි නිම්මාණරතියේ ස්වභාවය. තුසිත ලෝකයේ යම්කිසි අසහනයක් ඇත්ද නිම්මාණරතියේ ඒක නෑ. ඒ නිසා ඒ පුද්ගලයා තුසිත ලෝකයට වඩා නිම්මාණරතිය හොඳයි කියල නිගමනය කරනවා. නමුත් ඒකෙත් නැවතිලා නෑ. නිම්මාණරතිය හොඳයි කියල ගන්නේ අර පෘතජ්ජන ගතියේ ඉන්න සාසනයෙන් බැහැර අය. තුසිතයේ තිබෙන්නා වූ යම් අසහනයක් තියෙනව නම්, ☞

නිම්මාණරතියේ ඒක නෑ. ඒ නිසයි ඔහු ඒක හොඳයි කියන්නේ. හැබැයි එතන හොඳයි කියල නිගමනය කරන්නෙ නෑ.

එතනටත් එහා ඒ පුද්ගලයා බලනවා. එතකොට දකිනවා, මේවත් හිත හිතා ඕන කමින් මව මවා ගන්න ඕනනේ කියල. මේ තත්වයත් ඉක්මවා ගිහින් ඒ පුද්ගලයා දකිනවා මහන්සි නැතුව, හිතන්නත් ඉස්සෙල්ල ලඟට එන ක්‍රමයක් තියෙනවා කියල. ඒ තමයි පරනිම්මිතවසවර්තිය කියන ලෝකය. එතනට පත්වෙන්න තියෙනව නම් හොඳයි කියන අදහස ඊළඟට එනවා. අනුන්ට අවශ්‍ය දැහැමි සුව පහසුව තමන්ම සොයා බලා ඉටු කර දුන් පින මේ දෙව් ලොව උපතට හේතු වෙනවා. එතන තමන්ට ඕන දේ, තමන් කරන ලද පුණ්‍ය ශක්තියෙන්ම නිර්මාණය වෙලා එනවා. හිතල නිපදවා ගන්න එකකුත් නෙමෙයි. **පරනිම්මිතවසවර්තිය තමයි උපරිම කාම සම්පත්තිය විඳින්න තියෙන ලෝකය.** මෙතනට හිත තිව්වම ඒ ගති ලක්ෂණයට අනුව කටයුතු කරල, ඒ පුද්ගලයා පරනිම්මිතවසවර්තිය හොඳයි කියල නිගමනය කළා නම්, ඒක නිම්මාණරතියට වඩා හොඳයි කියල කියනවා මිසක් පරනිම්මිතවසවර්තිය හොඳයි කියන තීරණය ගන්නෙ නෑ. මේකත් රාගිකයි, රාග ගිනි සහිතයි, රාග දාහය මෙතනත් තියෙනවා. රාගය නිසා ඇතිවෙන්නා වූ දුකක් ඇත්නම් ඒක මහා දාහයක්, යම් තැනක රාගයට හේතු කාරක නැත්නම් ඒක ශාන්තයි ප්‍රණීතයි කියල එතනදී හිතනවා.

**එහෙනම් අනිච්ච, දුක්ඛ, අනත්ත දැකපු කෙනා දකිනවා චාතුර්මහාරාජිකය, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිතවසවර්තිය කියන්නා වූ සදෙව් ලෝකයේම පැවැත්ම ඉතා ප්‍රියජනක වුවත්, මේ අත්බවයන් ලබා ගන්න රැස් කළ පින ගෙවිල යනකොට මේ එක් එක් අත්බවයෙන් මිදීමත් වෙනවනෙ කියන කාරණය.** ''එහෙනම් මේ දේව අත්බවයත් මට කැමති සේ පවත්වාගන්න හැකියාවක් නැහැනෙ. ඒ වගේම මේ පැවැත්ම ඉතා සුන්දර දෙයක් වුනත් කාම රාග, දාහය මෙතනත් පවතිනවනේ. මේ විදියට මේ මගේ වස්ත්‍ර, ආභරණ, මේ මගේ විමානය කොයිතරම් මනරම්ද, මේ මගේ පරිවාර පිරිස කිය කියා කොතරම් සැප සම්පත් විඳිමින් ගරු ගාම්භීරව හිටියත් මේ පැවැත්මත් ගෙවිල යනව නම් මෙහි හරය මොකක්ද?'' ඒ අය මෙහෙම හිතනවා. ඒ අනිච්ච, දුක්ඛ, අනත්ත දැකපු කෙනා මේ දේව අත්බවය කෙරෙහි ඇලෙන්නෙ නෑ. ඉන්පසු සොයා බලනවා මේ කාම රාග, දාහය නැති තැනක් තියෙනව නම් මීට වඩා හොඳයිනෙ කියල.

එහෙනම් චාතුර්මහාරාජිකය, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිතවසවර්තිය කියන්නා වූ සදෙව් ලෝකයේම එකින් එකට තියෙන දාහය, ගින්න දැකල, ඒවායේ හිත නොපිහිටවා ඉන් එහාට බලනවා. යම් තැනක රාගයට හේතු කාරක නැත්නම් ඒක ශාන්තයි ප්‍රණීතයි කියල හිත තිව්වම බඹ ලොවට හිත පිහිටනවා.

එහෙනම් කාම ලෝකයේ තියෙන යම් දුකක් ඇත්ද, ඒ දුක මේ සදෙව් ලෝකයේම තියෙනවා. ප්‍රථම ධ්‍යාන තලයට ගියා නම් ඒ දුක නෑනෙ, එහෙනම් මට ඊට වඩා හොඳයි ප්‍රථම ධ්‍යාන තලය කියල හිතනවා. ප්‍රථම ධ්‍යාන තලය හොඳයි කියල නිගමනය කළේ, කාම දාහය දෙන්නා වූ දිව්‍ය ලෝකවලට වැඩිය හොඳයි කියලයි. අන්න එතනට ගියාම දකිනවා, ප්‍රථම ධ්‍යාන තලයේ බ්‍රහ්ම පාරිසජ්ජ, බ්‍රහ්ම පුරෝහිත, මහා බ්‍රහ්ම කියල කොටස් තුනක් ඉන්නවා කියල. බ්‍රහ්ම පුරෝහිත කියන්නේ හොඳ දැනුමක් තියෙන, තේරුම් ගන්න පුළුවන් හොඳ නුවණක් තියෙන අය. හැබැයි මහා බ්‍රහ්ම කියන අයගේ යටත් වැසියො වගේ, ඒගොල්ලන්ගෙ මාන්නක්කාරකම්වලට යටත් වෙන්න වෙනවා. නමුත් කාම රාග, දාහය නෑ. කාම රාග, දාහය නැතිවුනාට මහා බ්‍රහ්මයෙකුගෙ තියෙන මාන්නක්කාරකමට, ලොකුකමට, පහළ මට්ටමේ අය යට වෙන්න ඕන. එක එක්කෙනාගෙ පුරසාරකම් පෙන්වනවා, අඩුපාඩු කියනවා. ''උඹට කී දෙනෙක් එක සැරේ මවල පෙන්වන්න පුළුවන්ද? මට දහයක් පුළුවන්. ඕක මොකක්ද මට සීයක් මවල පෙන්නන්න පුළුවන්'' මෙහෙම කියල උද්දාම වෙනවා. ''උඹලට පුළුවන් ඔච්චරද මට දාහක් මවල පෙන්නන්න පුළුවන්නෙ...'', මෙහෙමත් කියල තව කෙනෙක් උද්දාම වෙනවා. **උද්දාමයක් ඇතිවෙනකොට අනික් කෙනාට සංවේගයක් ඇති වෙනවා.** මොකටද මම මෙහෙම සංවේග වෙන්නෙ කියල දහම දැකපු කෙනා හිතන්න පටන් ගන්නවා. එසේම බ්‍රහ්ම පාරිසජ්ජ පිරිස බ්‍රහ්ම පුරෝහිත පිරිසට හා මහා බ්‍රහ්ම පිරිසට යන දෙපිරිසටම යටත් වෙන්න ඕන.

එතකොට ඒ කෙනා බලනවා මීටත් වඩා දුක අඩු තැනක් තියෙනව නම් ඒක මෙතනට වඩා හොඳයිනෙ කියල. එතකොට පේනවා එහෙනම් ද්විතීය ධ්‍යාන තලයේ ඔය දුක නෑනෙ කියල. පරිත්තාභය, අප්පමානාභය, ආභස්සර කියල ද්විතීය ධ්‍යාන තලයෙත් කොටස් තුනක් තියෙනවා. එතන බලපුවහම සමහර අයගෙ ආලෝකය පුංචියි. සමහර අයට මහත් ආලෝක ඇති මහත් සෘද්ධි බල. සමහර අය ඉන්නවද කියල හොයන්නත් බෑ. ඒ අයට ඕනනම් පෙනී හිටිනවා, නැත්නම් අනික් අයට පේන්නෙත් නෑ. අනේ මෙතන අපි බාලයිනෙ කියල සමහරුන්ට සංවේගයක් එනවා. ඊට වඩා අපිට බල තියෙනව කියල සමහරු උද්දාම වෙනවා. උද්දාමයයි, සංවේගයයි මේ ද්විතීය ධ්‍යාන තලයෙත් තියෙනවනෙ කියල ඒකෙ තියෙන අසහනය දකිනවා. ඒ කියන අඩුපාඩුව තෘතීය ධ්‍යාන තලයේ නම් නෑ කියල දකිනවා. ඔය ක්‍රමයට ඉහළට ඉහළට යනවා. මේ ටික බැලුවත් බඹ ලොව ආදීනව දැකල පූර්ණ නිවනෙන් සැනසෙන්න පුළුවන්. තවදුරටත් අවශ්‍ය නම් චතුර්ථ ධ්‍යාන තල මෙන්ම අරූප තලත් මෙසේ දැක උභතෝ විමුක්ත අරිහත්වයට පත්වෙන්නත් පුළුවන්.

ඉතින් ඔය මට්ටමට ගියාට පස්සෙ මොකද කරන්නේ, අන්තිමට මෙහෙම නිගමනය කරනවා. ''අනේ මේ ආකාරයෙන් ගිහින් කොහේ හිටියත් රූපස්කන්ධයයි, වේදනා ස්කන්ධයයි, සංඥා ස්කන්ධයයි, සංඛාර ස්කන්ධයයි, විඤ්ඤාණ ස්කන්ධයයි කියන ස්කන්ධ පංචකයක්නෙ මේ තියෙන්නේ, ස්කන්ධ පංචකයම අනිච්ච, දුක්ඛ, අනත්ත ගොඩක් මිසක් ගන්න හරයක් නෑනෙ. එහෙනම් මට ඔය බඹ ලොව ඕනෙත් නෑ'' මෙහෙම කියල අන්තිමට හිත තියපු ගමන්ම බඹ ලොවෙනුත් නිදහස් වෙලා සසර ගමන කෙළවර කරනවා.

මේ විදිහට තමයි පියවරෙන් පියවරට යන්නෙ. ඒවායේ තියෙන ආදීනව එකින් එක දකිනවා. හිත බඳින්නෙ නැතුව උඩ තලයට හිත තියනවා. ඒකෙ හිත බඳින්නෙ නැතිව ඒකෙ ආදීනව දකිනවා. ඒකෙන් උඩට හිත තියනවා. ඔහොම ගිහින් අවසානයේ කාමයන්ගේ ආදීනව දැකල කාමයන්ගෙන් වෙන් වෙන, අකුසල ධර්මයන්ගෙන් වෙන් වෙන බඹ ලොවේ ඉපදිලා සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකග්ගතා කියන ප්‍රථම ධ්‍යානයට ගිහින් සමාධිය බලවත් නිසා ප්‍රඥාවෙන් සිහිකරනකොටම, පංචස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරනකොටම යථාවබෝධය පූර්ණ වෙනවා. පූර්ණ වුනොත් ගමන ඉවරයි. අරිහත්වයට පත් වෙන්නත් පුළුවන්. ඔය ක්‍රමයට තමයි දේවතානුස්සතියෙන් හිත වඩාගෙන ගිහින් නිවනින් කෙළවර කරන්නේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නයනා නිශ්ශංක**
**(ගෘහ නිර්මාණ ශිල්පිනී)**
**කැළණිය.**

# භාෂා නීති රීතිවලට කොටු නොවී සැඟවුණු දහම් අරුත් මතුකර ගැනීමට බුදුන් වහන්සේ පෙන්වා දුන් පද නිරුක්ති ක්‍රමය ත්‍රිපිටක ධර්මය තුළින්

භාෂා නිරුක්ති හැර වෙනත් විදියකින් පද බෙදා අර්ථ දෙන පද නිරුක්ති ක්‍රමයක් නැතැයි කියමින් තර්ක කරන උදවිය දීඝ නිකාය (3) හි එන <u>අග්ගඤ්ඤ සූත්‍රය</u> අධ්‍යයනය කළා නම්, මේ පද නිරුක්ති කියල ක්‍රමයක් තියෙන බව සාක්ෂි සහිතව දැනගන්න පුළුවන්. වචන හැදිච්ච හැටි මූලික වශයෙන් විස්තර කෙරෙන හොඳ විග්‍රහයක් මේ සූත්‍රයේ තියෙනවා. උදාහරණ ලෙස රජ, බමුණු, බ්‍රාහ්මණ, ක්ෂුද්‍ර, වෛශ්‍ය, මහා සම්මත ආදී වචන හැදුණු හැටි විස්තර වෙනවා. ඒ අනුව **මහජනතාව විසින් සම්මත කරන නිසා මහා සම්මත ලෙස නම් වහර ඇතිවූ බවත් දක්වෙනවා.** මෙහි දී මහා කිව්වේ මහජනයාටයි. සම්මත කිව්වේ සම්මත කරන නිසයි. **ඉන්පසු කෙත්වලට අධිපති වූ නිසා ක්ෂත්‍රිය ලෙස නම් වහර ඇති වූ බවත් දක්වෙනවා.** ගොවිතැන් කෙත් ආදී කටයුතුවලට අධිපති වූ නිසා ක්ෂේත්‍රයක් පාලනය කරන අර්ථයෙනුයි ක්ෂත්‍රිය කිව්වේ. ඊළඟට **ජනතාව රංජනය කරවන නිසා රජ කියන නම ඇති වූ බවත්** සඳහන් වෙනවා. මෙහි රංජනය කරනවා කියන්නේ දැහැමින් ජනතාව යහපතෙහි පිහිටුවනවා කියන එකයි. ''ර'' යන්නෙන් පෙන්වන්නේ රංජනය කියන එකයි. ''ජ'' යන්නෙන් පෙන්වන්නේ ජනතාව කියන එකයි. එහෙනම් රජ කියන වචනයත් දෙකට කඩල නිරුක්ති දීල තියෙනවා. ඉන්පසු ''බ්‍රාහ්මණ'' යන්න හැදුණු හැටි මේ විදියට පෙන්වනවා. **''ළාමක වූ අකුසල ධර්ම බැහැර කළ නිසා බ්‍රාහ්මණ නම් පළමු නම් වහර ඇති විය. ඉන්පසු ධ්‍යාන කිරීම නිසා ධ්‍යායිකයෝයි දෙවන නම් වහර ඇති විය. දැන් මොවුන් ධ්‍යාන නොකරන නිසා අධ්‍යායිකයෝයි කියා තෙවන නම් වහරක් ඇති විය.''**

මේ විදියට පිළිවෙලින් බ්‍රාහ්මණ, ධ්‍යායික, අධ්‍යායික කියන අවස්ථා තුන ඇති වූ හැටි නිරුක්ති මගින් පෙන්වා තියෙනවා. මෙයින් තෙවනුව ඇති වූ අධ්‍යායික කියන වචනයෙන් තමයි අධ්‍යාපනය කියන එක හැදුණේ. මේ අධ්‍යාපනය කියන එක අරගෙන තමයි අද ලොකුවට කෑගහන්නේ. නමුත් ඒ කාලයේ **අධ්‍යාපනය කියන එකට තිබුණේ බොහොම පහත් තැනක්. මොකද ධ්‍යාන නොකරන නිසා අධ්‍යාත්මය ශුද්ධ නැති අයටයි අධ්‍යායිකයන් කිව්වේ.** දැන් ඒ අනුව

(පසුගිය කලාපයෙන් - භාෂා නිරුක්ති සමග පටලවා නොගත යුතු පද නිරුක්ති)



පෙන්වන්න පුළුවන් අධ්‍යායි පුද්ගලයාට අපනයනය කරපු නිසා අධ්‍ය + අපනයනය - අධ්‍යාපනය වූ හැටි. ඒ කියන්නේ ධ්‍යාන කිරීමෙන් යමක් ලබාගත් අයගෙන්, ධ්‍යාන නොකරන අධ්‍යායිකයෝ ඒ ලබාගත් දේවල් ඉල්ලා ගැනීමයි මෙහි දී සිද්ධ වුණේ. හරියට අතපය හොඳට තිබිය දී හරිහම්බ නොකර නිකන් ඉඳගෙන, මහන්සි වෙලා හරිහම්බ කරගත් අයගෙන් ඉල්ලගෙන කනව වගේ වැඩක්. මේ නිසා තමයි එදා අධ්‍යාපනය පහත්කොට සැලකුවේ. නමුත් **පසු කාලයක තමයි ධ්‍යාන කරන අය අඩුවීම මත අධ්‍යාපනයට උසස් තැනක් හිමිවුණේ.** මේ කියන අධ්‍යාපනයම තමයි අද නිවන් මගටත් වඩා වටිනවයි කියල අරගෙන තියෙන්නෙ. ඇතැම් උදවිය අනුන්ගෙන් අපනයනය කරපු දේවල් කටපාඩම් කරගෙන දැනුම රැස්කරනවා හැරෙන්න ඉන් එහාට හිතන්න යන්නෙ නෑ. එසේ ලබාගන්නා දැනුමෙන් ඇතැම් උදවිය ඔළුව උදුම්මාගෙන කෑගහනවා හැරෙන්න තමා තුළ සැඟවිලා තියෙන ශක්තිය මතුකර ගන්න උත්සාහ කරන්නෙ නෑ. මෙතනදී ඉගෙන ගැනීම නෙවෙයි වරද, ඉගෙන ගත්තට කමක් නෑ. ඒකෙන් මත් වීමයි නරක.

**දැන් පද කඩන්න බෑ කියන උදවියගෙන් අහන්න තියෙන්නෙ, ත්‍රිපිටකයේම පෙන්වා තියෙන පරිදි මේ විදියට පද කඩල පෙන්වා තියෙන්නේ මොන භාෂා රීතියකට අනුවද කියා පෙන්වන ලෙසයි. ඒ අය කියන භාෂා**

රීතියට අනුව, සංස්කෘත භාෂා ආභාෂයෙන් ගොඩනගාගෙන පාලි ලියන්න හදාගත් ලිඛිත භාෂාවකට ආදේශ කරගෙන තියෙන, මොනව හරි ව්‍යාකරණ රීතියකට අනුව මේ පද කැඩිල තියෙන හැටි පුළුවන් නම් පෙන්වන්න. හැබැයි ඒ ක්‍රමයෙන් මේ කියන අර්ථයන් ලැබිය යුතුයි, අර්ථයන් වෙනස් නොවිය යුතුයි. මොකද **මේ විදියට පද කඩන හැටි පෙන්වා දීල තියෙන්නේ බුදුන් වහන්සේයි.** ඒ නිසා ත්‍රිපිටකයේ තියෙන මේ කාරණය ඒ අයට ඉවත් කරන්න බෑ. **ත්‍රිපිටකයේ පෙන්වා තියෙන්නේ බුදුන් වහන්සේ දේශනා කරපු මාගධී නිරුක්ති ක්‍රමයයි.** සකාය නිරුක්තිය කිව්වෙත් ඒකටයි. ඒ කියන්නේ ශුද්ධ මාගධී නිරුක්තිය කියන එකයි. **ඒක ව්‍යවහාර භාෂාවෙන් ආපු එකක් මිසක් භාෂා රීති ව්‍යාකරණවලට කොටුවෙලා හදපු එකක් නෙවෙයි.** මොකද මාගධී කියල ලිඛිත භාෂාවක් තිබුණෙ නෑ. නමුත් අද මාගධී ප්‍රාකෘත කියල හදාගෙන තියෙන්නේ අර කියපු භාෂා රීතිවලට කොටුවෙලා හදාගත් ලිඛිත භාෂාවක්. හැබැයි **බුදුන්වහන්සේ දේශනා කළ මාගධී ප්‍රාකෘත ක්‍රමය ශබ්දයෙන් හැඟීම දනවන ව්‍යවහාර භාෂාවක් මිසක් ලිඛිත භාෂාවක් නෙවෙයි.** ලිඛිත භාෂාව කියන්නේ මෑතක දී ලියන්න හදාගත්තු එකක්. නමුත් ඇතැම් විතණ්ඩවාදීන් ඒ අයගේ භාෂා රීතිවලට මාගධී ප්‍රාකෘත කියන්නත්, ත්‍රිපිටකයේ පෙන්වා ඇති පරිදි පද බෙදා නිරුක්ති දෙන ක්‍රමයට උමතු ප්‍රාකෘත කියන්නත් තමයි අද පුරුදුවෙලා ඉන්නේ. ඒකට හේතුව මේ කියන පද නිරුක්ති ක්‍රමය ඒ අය හදාගත් භාෂා රීතීන්ට අනුකූල නොවන නිසා.

දැන් අපට මේ විතණ්ඩවාදීන්ගෙන් අහන්න තියෙන්නේ, බුදුන් වහන්සේ පෙන්වා දුන් රජ, බමුණු, මහා සම්මත... මේ ආදී නිරුක්ති ක්‍රම රටාවත් ඔය කියන විදියට උමතු ප්‍රාකෘත ද කියලයි. ඒක එහෙම නෙවෙයි නම් ඒ අය පැහැදිලිව පෙන්වා දිය යුතුයි, භාෂා රීතියෙන් මේ කියන පද හැඳුණු හැටි. එහෙනම් කව්ද උමතු ප්‍රාකෘතයෝ? පසුව හදාගත් භාෂාවක්, රීතියක් අරගෙන ඒකට කොටුවෙලා ඒකෙන් එහාට යන්නෙ නැතිව ඉන්නව නම් භාෂා රීතියෙන් පද කැඩීම මොන ප්‍රාකෘතද? මේ අය කියන මේ භාෂා රීතියෙන් පද කැඩීම මාගධී ප්‍රාකෘත නෙවෙයි. ඒක භාෂා විශාරදයන් පසුව හදාගත්තු ක්‍රමයක්. එහෙනම් මේ කියන **සමහර විතණ්ඩවාදී තර්කවාදීන් මේ පෙන්වන මාගධී නිරුක්ති ක්‍රම රටාව මහා පිස්සුවක්, උමතු ප්‍රාකෘත එකක් යැයි මේ ආදී ලෙස උසුලු විසුලු කරමින් අපහාස කරනකොට ඒ අපහාසය කරල තියෙන්නේ කාටද කියල හොඳින් කල්පනා කරල බලන්න.** ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පෙන්වපු නිරුක්ති ක්‍රම රටාවට නේද මේ සමච්චල් කරන්නේ? තමනුත් අමාරුවේ වැටිලා බෞද්ධ පින්වතුනුත් අමාරුවේ දාන්න නෙවෙයිද මේ දඟලන්නේ?

මේ විදියට බුදුන් වහන්සේ පෙන්වපු මාගධී ප්‍රාකෘත නිරුක්ති ක්‍රම රටාව ත්‍රිපිටක ධර්මයේ අවස්ථා ගණනාවකදීම පෙන්වා තියෙන බව ඉතා විමසිලිමත්ව බැලීමේ දී පෙනී යනවා. බුද්ධක නිකායේ පටිසම්භිදා මග්ග ප්‍රකරණය (1) හි 95 පිටුවේ, **සමයට ඇදී සිටීම නිසා සමාධි කියන බව සඳහන්** වෙනවා. ඒකත් නිරුක්තියක්. එහිම 325 පිටුවේ ආනාපානාසති ස්මෘති කතා යන මාතෘකාවේ **ආන - ආශ්වාසය, අපාන - ප්‍රශ්වාස ලෙස ආනාපානා කියන වචනය හැඳුණු හැටි සඳහන් කරල තියෙනවා.** ඒ වගේම මෙතන ආශ්වාස ප්‍රශ්වාස කියන්නේ වායුව නෙවෙයි, දසකුසල් හා දස අකුසල් බවත් පැහැදිලි කර තියෙනවා. නමුත් පද නිරුක්ති නොදන්නාකමින් මේ කාරණය තේරුම් ගන්න බැරුව ආනාපානා සති භාවනාව කියමින් උදේ ඉඳන් රෑ වෙනකල් හුස්ම ඉහළ පහළ ඇදීමයි අද කරන්නේ. මේ නිසාම ඒකෙන් නිවන් දැකපු කෙනෙක් හොයාගන්නවත් නෑ. හේතුව බුදුන් වහන්සේ දේශනා කළ ආනාපානා සතිය නොකර වෙනත් දෙයක් කරන නිසයි. ඒ වගේම එහිම 333 පිටුවේ එන පරිදි **මුඛ්‍ය කියන වචනය නිර්වාණ අර්ථයෙන් අරගෙන තියෙනවා.** බෞද්ධයාගේ මුඛ්‍ය පරමාර්ථය නිර්වාණය බවයි මේකෙන් පෙන්වන්නේ. **නමුත් ඒකත් අද වෙනකොට පටලවාගෙන මුඛය කියලයි අර්ථ දක්වන්නේ.**

එහෙනම් මේ සූත්‍ර දේශනාවලින් විග්‍රහ කළේ භාෂා නිරුක්තින් නෙවෙයි. බුදුන් වහන්සේ පෙන්වපු මූලික නිරුක්ති ක්‍රමයයි. මේ තමයි මූලිකවම ධර්මානුකූලව පද හැඳුණු හැටි. නිරුක්ති පටිසම්භිදා ඥානය මතුවුණාට පස්සෙ මේ ආකාරයට පටිච්ච සමුප්පාද සිද්ධාන්තයට අනුව පද හැඳුණු හැටි තේරෙන්න පටන් ගන්නවා. නමුත් මේ නිරුක්ති ක්‍රමයට අද සමහර තර්කවාදීන් භාෂා නිරුක්තිය පටලවාගෙන. නමුත් භාෂා නිරුක්ති, භාෂා රීති කියන ඒවා මෑත කාලයේ දී හදාගත් භාෂා විශාරදයන්ගේ වැඩ. ඒක බුදුන් වහන්සේ දුන් ක්‍රමයක් නෙවෙයි. **ත්‍රිවේද පරප්‍රාප්ත බමුණන්ගේ වේද ක්‍රමයක් තිබුණ නම් ඒ ක්‍රමය අනුගමනය කරලයි මේ භාෂා නීතිරීති හදාගෙන තියෙන්නේ.** නමුත් බුදුන් වහන්සේ වේද ක්‍රම රටාව අනුගමනය කළේ නෑ. **ලෝකයේ බමුණන්ගේ ත්‍රිවේදය කියන එක යන්තම් අපාගත තත්ත්වයෙන්වත් බේරෙන්න පුළුවන් එකක් නෙවෙයි කියල බොහොම පහත් දෙයක් හැටියටයි පෙන්නුවේ.**

නමුත් ආර්ය විනයේ නියම ත්‍රිවේදය කියන්නේ පූර්වේනිවාසානුස්සති, චුතූපපාත, ආසවක්කය කියන මේ ඥාන තුනයි. **මේ ආර්ය ත්‍රිවේදයට අහුවෙන එකක් තමයි නිරුක්ති පටිසම්භිදා ඥානය කියන්නේ.** මේ කියන ත්‍රිවේදයන් ගොඩනගන්න ආධාර කරමිනුයි නිරුක්ති පටිසම්භිදා ඥානය ලැබෙන්නේ. විශේෂයෙන් ප්‍රඥා අධික සෝවාන් මාර්ග අනුගාමිකයාගේ පටන් ඉහළට සියලු දෙනාටම ඒ ඒ අයගේ මට්ටම්වලින් ඒක පිහිටල තියෙනවා. ඒකට ත්‍රිවිද්‍යාලාභී වෙන්නම ඕන නෑ. ඒක විශේෂයෙන් ප්‍රඥා අධිකයන්ට ලැබෙන දුර්ලභ දෙයක්. (ප්‍රඥා අධිකයන්ද දුර්ලභයි) ශ්‍රාවක පාරමිතා පුරන අයට විශේෂයි. ඒකෙන් නිරුක්ති දැක්කට පස්සෙ උදාහරණ උපමා අරගෙන ධර්මයේ හරය විග්‍රහ කරල පැහැදිලි කරල දෙන්න පුළුවන්. ධර්මාවබෝධය ලැබෙන්නේ එතකොටයි. ඒක දකින්නෙ නැත්නම් වෙන කෙනෙකුට ධර්ම අදහසක් අවබෝධ කරල දෙන්න බෑ. ඉතින් **ධර්මයේ එන වචන ටිකක් විතරක් කටපාඩම් කරල, ඒ රාමුව තුළ හිරවෙච්ච කෙනාට මේ නිරුක්ති ක්‍රමය අහන කොටත් වහ කදුරු වගේ වෙනවා.** මොකද ඒ අය ඉගෙන ගෙන නැති, දැනගෙන නැති දෙයක් නිසා. සමහර වෙලාවට හිතල බැලුවත් තේරෙන්නෙ නෑ. ඔලුවෙ කැක්කුම හැදෙනවා. මොනවද මේ කියන්නෙ පිස්සුවක් නේද කියල ඒ විදියට අදහසුත් ගන්නවා. එහෙම අරගෙන ඒ අයම ඒක විවේචනය කරනවා. ඒ විවේචනය කරන්නෙත් දැඩි ද්වේශ සහගතවයි. ඒ තරමටම ලෝක සම්මත භාෂා රීතිවලට හිරවෙලා.

මේ විදියට දෘෂ්ටිගත වූ එක්තරා විතණ්ඩවාදී භික්ෂූන් වහන්සේ නමක්, පටිච්ච සමුප්පාද කියන වචනයේ නිරුක්තිය හේතු සහිතව පැහැදිලි කර තිබියදීත් ඒක එහෙම නෙවෙයි කියල පින්වතුන් මුළා කරන්න උත්සාහ ගෙන තියෙනවා. එහෙනම් ඒකෙ නියම තේරුම මොකක්ද කියල පින්වතෙක් ප්‍රශ්නයක් ඇහුවම ඒකට පිළිතුරු විදියට ''ප්‍රති ඉත්‍ය සමුප්පාද'' කියල ලිස්සල ගියා මිසක් ඒක හැදිච්ච හැටිවත්, තේරුමවත් විග්‍රහ කරල දීල නෑ. ඉතින් පින්වතුන් අහන ප්‍රශ්නවලට උත්තර දෙන්න බැරි වුනාම මොකක් හෝ බොරුවක් කියල ඇඟ බේරගන්නවා මිසක්, තමන් ඒ ගැන දන්නෙ නැති බවවත් අඟවන්න කැමති නෑ. නමුත් බුද්ධ දේශනාව අනුව වෙනත් කෙනෙක් ඒක විග්‍රහ කරල දුන්නම ඒක පිළිගන්නත් කැමති නෑ. තමන්ගේ දෘෂ්ටිය ලොකු කරගෙන, අහංකාරකමට, අනුන් විවේචනය කර කර තමන්ම හරිය කියන කාරණයමයි ලෝකයාට පෙන්වන්න හදන්නේ.

අනෙක මේ ප්‍රති ඉත්‍ය කියන්නේ සංස්කෘත වචනයක්. පටිච්ච කියන

එකම හරබර කරල ගැඹුරට ලියන එකයි ඒකෙන් කරල තියෙන්නේ. මේ එදා හිටපු බමුණන් තමන්ගේ පාණ්ඩිත්‍යය විදහාපාන්න මාන්නක්කාර කමට හදාගත්තු භාෂා විධි තමයි. එතකොට චුල්ලවග්ග පාලි (2) 101 පිටුවේ එන බුද්දක වත්ථුඛන්දකයේ දී බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා, **ධර්ම විග්‍රහයේ දී සංස්කෘත භාෂාව පරිහරණය කිරීම ඇවැතක්** කියා. මාගධී නිරුක්ති ගැන විග්‍රහ කරනකොට සංස්කෘත භාෂාව පාවිච්චි කිරීමට කතිකා කරගත් යමෙලු සහ තෙකුල භික්ෂූන් වහන්සේලා දෙනමට බුදුන් වහන්සේ නිග්‍රහ කළ අවස්ථාවකුයි මෙයින් පෙන්වන්නේ. මාගධී නිරුක්තියෙන් ධර්මය පිරිවහන්න කියලයි එහි දී දේශනා කළේ. ඒ කතා වස්තුවෙහි සාරාංශය මෙහෙමයි. ''ඒ සමයෙහි මිහිරි වචන ඇති, මිහිරි හඬ ඇති බ්‍රාහ්මණ ජාතික වූ යමෙලු සහ තෙකුල යන නම් ඇති දෙබෑ මහණ කෙනෙක් විය. ඔවුන් භාග්‍යවතුන් වහන්සේ කරා එළඹ මෙසේ කී ය. වහන්ස දැන් භික්ෂූන් නානා විධ නම් ඇත්තාවූ ද, නානාවිධ ගෝත්‍රයෙන්, නානාවිධ ජාතියෙන්, නානාවිධ කුලයෙන් නික්ම පැවිදි වූවාහු වෙත්. ඔවුහු ස්වකීය ව්‍යවහාරයෙන් බුද්ධ වචනය දූෂණය කරත්. එබැවින් බුද්ධ වචනය වෛදික භාෂාමය වාචනා මාර්ගයට නගන්නම්හයි කීහ.''

මෙහිදී වෛදික භාෂාව කිව්වේ සංස්කෘත භාෂාවටයි. මෙවිට බුදුන් වහන්සේ මෙසේ දේශනා කළා. ''හිස් පුරුෂයෙනි, තෙපි බුද්ධ වචනය වෛදික භාෂාමය වාචනා මාර්ගයට නගම්හයි කෙසේ නම් මෙබන්දක් කියවුද? හිස් පුරුෂයෙනි, මෙය නොපහන් වූවන්ගේ පැහැදීම පිණිස ද පහන් වූවන්ගේ වැඩිවීම පිණිසද නොවේ. මහණෙනි, මෙය නොපහන් වූවන්ගේ නොපැහැදීම පිණිසද පැහැදුණු ඇතැම් කෙනෙකුගේ වෙනස්වීම පිණිසද වෙයි. මහණෙනි, බුද්ධ වචනය වෛදික භාෂාවට නොනැගිය යුතුයි. යමෙක් නගන්නේ නම් ඔහුට දුකුලා ඇවැත් වන්නේය. මහණෙනි, මාගධී නිරුක්තියෙන් බුද්ධ වචනය පිරිවහන්නැයි'' මෙසේ අනුදැන වදාළා. **මෙහි දී දුකුලා කිව්වෙ දුක්කටාපත්ති කියන එකයි. එනම් දුක් කටයුතු හෙවත් කටයුතු දුෂ්කර වෙනවයි කියන එකයි.** මෙහි දී සංස්කෘත චන්දසින් හිස උදුම්මාගෙන හිටපු යමෙලු තෙකුල යන භික්ෂූන් දෙදෙනා තම මුලාව නිසා සකාය නිරුක්තිය සහිත බුද්ධ වචනය දූෂණය කරනවයි කියා පෙන්වා තියෙනවා. **සකාය කිව්වේ සක හෙවත් ශුද්ධ භාවය කියන එකයි. එනම් ශුද්ධ මාගධියේ නිරුක්තියයි.**

එහෙනම් බුදුන් වහන්සේ මාගධී භාෂාවෙන් ධර්මය දේශනා කළාම ඒක තිබුණේ ව්‍යවහාර භාෂාවෙන්. ඒකට කිසිම ලිඛිත භාෂාවක් සම්බන්ධ වුණේ නෑ. පසුකාලීනව තමයි ලිඛිත භාෂාවක් සකස් කරගෙන, ව්‍යාකරණ නීතිරීති මාලාවකින් කොටුකරගෙන ලෝකායත භාෂාවට වැටෙන භාෂාවක් හැදුවේ. ඒ භාෂාව තමයි අර ව්‍යවහාරයෙන් මුඛ පරම්පරාවෙන් ගෙනාපු ක්‍රමය අත්හැරලා දැන් තියෙන බණ පොත්වලට ගත්තේ. ඒකෙන් සිද්ධ වුණේ මේ කියන හදාගත් ශාස්ත්‍ර නියමයකට නීතිරීති මාලාවක් දාල වටකරගෙන කොටුකරගෙන එයින් එහාට කතා කරන්න නොදී වසා තැබීමයි. මේ කියන ලිඛිත භාෂාවෙන් හදාගත් ලෞකික ශාස්ත්‍ර විධියක් තමයි දැන් මේ පොත් ලියන්න අරන් තියෙන්නේ. මේ නිසා හැමවෙලේම සාක්ෂි පෙන්වන්න හදන්නේ පොතට සීමා වෙච්ච නීතිරීති මාලා පොඩ්ඩක් අරගෙනයි. නමුත් මුලදී ගෙනාවේ අදහස වෙනස් නොවෙන්න ගන්න මුඛ පරම්පරාවෙනුයි. ඒ නිසා තමයි මාගධී නිරුක්තිය පිරිවහන්න කිව්වේ, ඒක වෙනස් වෙන්නෙ නැති නිසා. මේ නිසා සංස්කෘත භාෂාව ගැළපෙන්නෙ නෑ, ගන්නම එපා කියලයි පෙන්වා තියෙන්නේ.

ඒ කාලයේ සංස්කෘතයි, මාගධියි කියල දෙකක් තිබුණත් **මාගධී කියල ලිඛිත භාෂාවක් තිබුණෙ නෑ.** මාගධියෙන් මුඛ පරම්පරාවෙන් ගෙනාවයි කිව්වෙත් ඒකයි. වචන මාධ්‍යයෙනුයි ගෙනාවේ. නමුත් මාගධී භාෂාව කියල අද දෙන්නේ හදාගත්තු භාෂාවකින්. එතකොට ලෝකායත ශාස්ත්‍ර කියන ඒවාට අයිති, ලෝකයා විසින් භාවිතා කරල හදාගත්තු භාෂාවකින් තමයි එදා මුඛ පරම්පරාවෙන් ගෙනාපු ධර්මය අද වෙන කොට ලියල තියෙන්නේ. නමුත් **අද ඒ භාෂා නීති රීතිවලට වහල් කරල යටත් කරල තියාගෙන එයින් එහාට හිතන්න යන්න ඉඩ දෙන්නෙ නෑ.** නමුත් මේ උත්සාහ කරන්නේ ඒ බැම්ම බිඳ දමලා නිරුක්ති පටිසම්භිදා ඥානයෙන් එන අදහස අරගෙන, සැඟවුණු දහම් අරුත මතුකර ගන්නයි. ඒ විදියට ඕනෑම භාෂාවකින් නිරුක්ති මතු කළාට කමක් නෑ, හැබැයි අර කියන හදාගත්තු භාෂා නීතිරීති පැත්තකට දාලා ඒවාට වහල් නොවී. ජනපද නිරුක්තිය ඉවත් නොකර ඒක ගන්නෙයි කියූ බුද්ධ දේශනාවෙන් ඒ කාරණය ඔප්පු වෙනවා. හේතු ඵල ධර්මයට අනුකූලව නිරුක්තිය අරගෙන දහම් තෝර ගත්තම ධර්ම ඥානය වැඩී යථාවබෝධය ලැබෙනවා.

නිරුක්ති ගැන කතා කරන කොට භාෂාව මොකක් වුණත් ජනපද නිරුක්තිය අහෝසි නොකර, ඒක ධර්මය විග්‍රහ කිරීමේ දී තෝරා ගන්නා ලෙස බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මේ නිසා **ජනපද නිරුක්තියට භාෂාවෙන් බාධකයක් නෑ. මොකද ඒ ඒ ජනපදවල භාවිතා වන වචනවලින්, මොන විදියකින් හෝ අදහස ගන්න පුළුවන් නම් භාෂාව මොකක් වුණත් ඒ කියන අදහස අරගෙන ධර්මාවබෝධය ලබන්න පුළුවන්.** භාෂාව ප්‍රශ්නයක් නෑ. ධර්මාවබෝධය ලබන්නේ අදහසින් මිසක් භාෂා නීති රීතිවලින් නෙවෙයි. නමුත් හදාගත්තු භාෂාවක රීති මාලාවකට යටත් කරලා හිරකරන්න ගියාම දහම් අදහස විග්‍රහ කරන්න බැරිව යනවා.

මජ්ඣිම නිකාය (3) 491 පිටුවේ එන අරණ විභංග සූත්‍රයෙන් මේ ජනපද නිරුක්ති ගැන පෙන්වා තියෙනවා. උදාහරණ ලෙස බඳුන හෙවත් කෝප්පය හඟවන්න විවිධ ජනපදවල භාවිතා කරන වචන දක්වා තියෙනවා. පාති, පත්ත, විත්ථ, සරාව, ධාරොප, පොණ, පිසීලව කියන මේ නම්වලින් ඒ ඒ ජනපදවල බඳුන හඳුන්වන බව සඳහන් කර තියෙනවා. මෙහි දී **එසේ භාවිතා කරන වචනවලට, මේකයි හරි අනෙක වැරදියි කියා හෝ අපි කියන එක හරි ඔක බොරුයි කියා හෝ දෘෂ්ටියට වැටෙන්නෙ නැතිව, ඒ ආකාරයෙන් දෘෂ්ටි මතයක පිහිටන්නේ නැතිව, ඒ ඒ ජනපදවල ඒ ඒ වචන හැඳින්වූයේ මොන අදහසකින් ද කියා දැනගෙන ධර්ම දේශනා කරන්නැයි කියා දක්වා තියෙනවා.** ජනපද නිරුක්තිවලට පහර ගැසුවොත් ඒක ධර්ම විරෝධියි කියලත් පෙන්වා තියෙනවා. මේ නිසා ජනපද නිරුක්ති කියන ඒවා තේරුම් ගෙන එසේ ධර්ම දේශනා කිරීම සාර්ථකයි කියලත් පෙන්වා තියෙනවා. ඒ ඒ ජනපදවල ව්‍යවහාර භාෂාව අනුව යමක් හඳුන්වන්න භාවිතා කරන ජනපද නිරුක්ති කියලත් එහිම හඳුන්වා තියෙනවා.

එතකොට දැනට තර්ක කරන සමහර උදවිය නිරුක්ති කියන්නේ භාෂා ව්‍යාකරණ රීතිවලට. නමුත් බුදුන් වහන්සේ නිරුක්ති කියල පෙන්නුවේ මේ කියන නිරුක්ති රටාවට. ඒක භාෂා රීති මිම්මක් නෙවෙයි. ව්‍යවහාර කරන වචනවලින් හඟවන දේ තේරුම් ගැනීමට පෙන්වපු ක්‍රමයයි. මේ කියන ජනපද නිරුක්තියට අද පෙන්වන්න පුළුවන් හොඳ උපමාවක් තියෙනවා. **අපි අද මඤ්ඤොක්කා කියන අල වර්ගයට සමහර ප්‍රදේශවල මයියොක්කා කියල භාවිතා කරනවා. තවත් සමහර ප්‍රදේශවල මයොක්කා කියලත් කියනවා. දැන් අපි ඇහුවොත් ඔය කියන භාෂා රීතිවලින් මඤ්ඤොක්කා - මයියොක්කා වුණ හැටිත්, මයොක්කා වුණ හැටිත් පෙන්වන්න කියල, පුළුවන්ද එහෙම පෙන්වන්න?** එහෙම පෙන්වන්න පුළුවන් භාෂා රීති ක්‍රමයක් නෑ. මොකද මඤ්ඤොක්කා කියන්න බැරි අය මයියොක්කා කියන්නත්, එහෙමත් කියාගන්න අමාරු අය මයොක්කා කියන්නත් පුරුදු වුණේ තමන්ගේ කටට හුරු පහසු ව්‍යවහාර ක්‍රමයකට මිසක් ඔය කියන භාෂා රීති බලල නෙවෙයි. ☞

නමුත් මේ වචන තුනෙන්ම ගම්‍ය වෙන්නේ එකම විෂය වස්තුවක්. මේ ආකාරයට වචන හැඩුණු ක්‍රම රටාවත් සමග තියෙන ශබ්ද රටාවයි මේ තියෙන්නේ. ඒ ශබ්දයෙන් හඟවපු දෙයයි, බුදුන් වහන්සේ නිරුක්ති කියල පෙන්නුවේ. එහෙනම් නිරුක්ති පටිසම්භිදා ඥානයට ගෝචර වෙන්නේ භාෂා රීති ව්‍යාකරණ නෙවෙයි, මේ කියන ශබ්ද රටාවට අනුකූල හැඟීම් මාලාවයි.

භාෂා නීතිරීතිවලට කොටුවෙලා ධර්මය විග්‍රහ කරන්න බෑ කියල පෙන්වන තවත් තැනක් තමයි සංයුක්ත නිකාය 5 (2) හි 285 පිටුවේ එන <u>සංබොසන සූත්‍රය.</u> චතුරාර්ය සත්‍යයට අකුරු අප්‍රමාණයි, ව්‍යංජන අප්‍රමාණයි, පද අප්‍රමාණයි, බෙදුම් අප්‍රමාණයි කියල මෙහි දී පෙන්වා තියෙනවා. එතකොට මේ **චතුරාර්ය සත්‍යය විග්‍රහ කරන්න තියෙන පද අප්‍රමාණ නම්, ඒවායේ අර්ථය විග්‍රහ කරන්න තියෙන අකුරු, ව්‍යංජන, බෙදීම් අප්‍රමාණ නම්, අප්‍රමාණයක් පොතකට සටහන් කරන්න පුළුවන්ද ප්‍රමාණ කරල? චතුරාර්ය සත්‍යය පොතකට සීමා කරල, ඒකෙ විතරයි ධර්මය තියෙන්නෙ කියල ඒ ටිකෙන් විතරක් සාක්ෂි පෙන්වන්න පුළුවන්ද?** එහෙනම් පොතෙන් එහාට ගිහින් චතුරාර්ය සත්‍යය විස්තර කළොත් අර කියපු අප්‍රමාණ කියන එකට අහුවෙන නිසා අපට ප්‍රශ්නයක් වෙන්නෙ නෑ. ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය විග්‍රහ කිරීමේ දී පොතේ සීමාව ඉක්මවලා විග්‍රහ කරන්න තවත් ඕනෑ තරම් ක්‍රම පැහැදිලිවම තියෙනවා. මොකද පොතේ තියෙන්නේ සාරාංශයක්. ඒ විදියට කැටිකරපු ප්‍රමාණයක් තමයි ත්‍රිපිටකයේ තියෙන්නේ. ඒ නිසා යම්කිසි ස්ථානයක තියෙන මට්ටමක චතුරාර්ය සත්‍යයෙන් අදහස මතුවෙලා එන විදියට, ඒකෙන් බැහැර නොවී, ඒකෙන්ම චතුරාර්ය සත්‍යය අවබෝධ වෙන්න මග පෑදෙන විදියට අර්ථ පෙන්වන්න පුළුවන් නම්, ඒ විග්‍රහ කිරීමේ වරදක් නෑ.

මේ විදියට ගියාම වර්ගත් අප්‍රමාණයි. නොයෙක් ආකාරයේ දේවල් උදාහරණ, උපමා සහිතව අරගෙන තමන්ගේ ඥාන මට්ටමට කෙනෙකුට අවබෝධ වෙන විදියට විග්‍රහ කරල කියා දෙන්න පුළුවන්. එහෙනම් **එහෙම අවබෝධ වෙන්න කියා දෙනකොට ඒවායේ අප්‍රමාණ බව නිසා බුදුන් වහන්සේගේ දේශනා සියල්ල පොත්වලට කැටිකරන්න බෑ.** නමුත් අද සමහර තර්කවාදීන් කතා කරන්නේ බුදුන් වහන්සේ දේශනා කළ ධර්මය ප්‍රමාණ කරපු ගානට අරගෙන. කොහෙද ඕක තියෙන්නේ? මොන පොතේ ද තියෙන්නේ? කෝ මේ පොතේ තියෙන්නෙ මෙච්චරයිනේ... ආදී වශයෙන් තර්ක කරනවා. මින් පෙර පෙන්වූ පරිදි එක්තරා භික්ෂූන් වහන්සේ නමක් බුද්ධ දේශනාවටත් පටහැනිව යමින්, පටිච්ච සමුප්පාද කියන වචනය ප්‍රති ඉත්‍ය සමුප්පාද කියල විග්‍රහ කරන්න ගියා. එහෙම විග්‍රහ කළේ පටිච්ච කියන වචනයට ධර්මානුකූලව දීපු නිරුක්තියට පහර ගහන්න. නමුත් ප්‍රති ඉත්‍ය වගේ සංස්කෘත වචන පාවිච්චි කරන්න එපා කියල ඇවැත් පනවා තියෙද්දිත් ඒකෙන්ම ධර්මය විග්‍රහ කරන්න යනවා. අනෙක මේ ප්‍රති ඉත්‍ය කියන වචනය, පටිච්ච කියන වචනය තරම්වත් තේරෙන වචනයක් නෙවෙයි. පටිච්ච



කියන වචනය අපේ කටට හොඳට හුරුවෙලා තියෙනවා. ඒක කාටවත් නැහැයි කියන්න බෑ. ඉතින් මේ විදියට තේරෙන භාෂාවක් තියෙද්දී බුදුන් වහන්සේ අනුමත නොකළ සංස්කෘත භාෂාව යොදා ගන්න අපට අවශ්‍ය නෑ. මොකද ඔය භාෂාව නීති රීතිවලට කොටු කරල මහප්‍රාණ කරල මාන්නක්කාර කමට ප්‍රමාණ කරලයි හදල තියෙන්නෙ. නමුත් ඉහත විස්තර කළ විදියට බෙදීම්, පද, අක්ෂර... අප්‍රමාණ නම් කොහොමද පොතකට සටහන් කරල ප්‍රමාණ කරන්නෙ? අප්‍රමාණ පද කිව්වොත් ඒක ධර්මය නෙවෙයිද? **දන්න කෙනෙක් තේරුම් අරගෙන කිව්වොත් ඒක පොතේ නැහැයි කියල අපට අහක දාන්න පුළුවන්ද?**

එහෙනම් මේ විදියට චතුරාර්ය සත්‍යය අප්‍රමාණ නම්, දුක්ඛ ආර්ය සත්‍යයත් අප්‍රමාණයි. දුක්ඛ ආර්ය සත්‍යය විග්‍රහ කරන කොට කොයිතරම් නම් දුක ගැන විග්‍රහ කරන්න පුළුවන්ද? දුක ඇතිවන ආකාරය විවිධාකාරයෙන් විග්‍රහ කරන්න පුළුවන්. දුකට හේතුවන ආකාරයත් විවිධාකාරයෙන් විග්‍රහ කරන්න පුළුවන්. එහෙනම් දුක්ඛයි, දුක්ඛ සමුදයයි හට ගන්නා ආකාරයෙන් තමයි, සතෙක් හටගන්න කොට සතා හටගන්නේ මෙහෙමයි කිව්වොත් තිරිසන් භවය හට ගන්නවා නම් සැප හටගන්නවා නෙවෙයි. ඒකත් දුක හට ගැනීමක්. එහෙනම් දුක හටගන්නා ආකාරය පටිච්ච සමුප්පන්නව විග්‍රහ කරන්න ගියාමත් මේ විදියටම විග්‍රහ කරන්න පුළුවන්. ලෝකයේ හටගැනීමක් තියෙනව නම් දුක හට ගැනීමයි. ඒක පටිච්ච සමුප්පාදයෙන් විග්‍රහ කෙරෙනවා. ඒකත් අප්‍රමාණව විග්‍රහ කරන්න පුළුවන් කාරණයක්. එහෙනම් මේ විඤ්ඤාණයයි කියමින් පොතේ තියෙන විඤ්ඤාණ හයකට සීමා කරගෙන කැටිකරන්න ගියාම හිරවෙනවා.

ඉතින් මේ විදියට පටිච්ච සමුප්පාදය විග්‍රහ කරද්දී ඒකට හිනාවෙන්නේ දඟලන්නේ, අප්‍රමාණ බෙදීම් ගැන දන්නෙ නැතිව වරද්ද ගත්තු උදවිය. නමුත් අප්‍රමාණව විඤ්ඤාණ විග්‍රහ කරන්න ගියාම හරක් විඤ්ඤාණ, බලු විඤ්ඤාණ, බළල් විඤ්ඤාණ... මේ ආදී ඔක්කෝම විඤ්ඤාණ විග්‍රහ කර ගන්න තියෙනවා. (මෙබඳු විඤ්ඤාණ අනුව ජාති හටගන්නා ආකාරය තේරුම් ගන්න බැරි කමට, එක්තරා භික්ෂූන් වහන්සේ නමක් රූපවාහිනී නාලිකාවකදී ''මෙන්න අමුතු විඤ්ඤාණයක්! හාමත් (බඩගිනි) විඤ්ඤාණ, බලු විඤ්ඤාණ...'' ආදී ලෙස කියමින් අපහාසයක් ද කර තිබුණා. බලු විඤ්ඤාණ සහ හරක් විඤ්ඤාණ පහළ වෙලා, බලු සහ හරක් ජාතිවල උපදින හැටි දන්නෙ නැත්නම් මජ්ඃනිඃ (2) 85 පිටුවේ එන <u>කුක්කුරවතිය සූත්‍රය</u> බලා දැනගන්න.) එතන දී ධර්මානුකූලව විසඳුම එනව නම් ඒකයි බලන්න ඕන. රාගක්ෂයට, ද්වේශක්ෂයට, මෝහක්ෂයට, යථාවබෝධයට හේතුවන බව පේනව නම්, ඒ ධර්මය තුළින් එහෙම මගක් තියෙනව නම් ඒකයි හරය විදියට ගන්න ඕන. ලෝකයේ හදාගත්තු භාෂා විධි ශාස්ත්‍ර විධි අරගෙන හරය හංගන්න ගියාම හරියන්නෙ නෑ. ඒ නිසා තමයි මේ ලෝකායත ශාස්ත්‍රවිධි අල්ලගෙන නිවන් දකින්න හරයක් තියෙනවද කියල බුදුන් වහන්සේ ඇහුවෙත්. ඉතින් නිරුක්ති

සහිතව ධර්මය වටහාගෙන තෝරාගත යුත්තේ මේ නිසයි. ඒක දන ගත්තෙ නැති නිසයි, පොතට සීමාවෙලා හිටිය නිසයි, බලු බළල් විඤ්ඤාණ හැදෙන හැටි පටිච්ච සමුප්පන්නව විග්‍රහ කරද්දී අමුතු විඤ්ඤාණ ජාතියක් කියල ඒවට හිනාවෙන්නේ.

නමුත් සංයුක්ත නිකාය (2) 130 වන පිටුවේ එන පරිවීමංසන සූත්‍රයේ මෙසේ පෙන්වා තියෙනවා. ''සංඛාර පුණ්‍ය වේද විඤ්ඤාණ පුණ්‍ය වේ. සංඛාර අපුණ්‍ය වේද විඤ්ඤාණ අපුණ්‍ය වේ. සංඛාර ආනෙඤ්ඤාභි වේද විඤ්ඤාණ ආනෙඤ්ඤාභි වේ.'' එහෙනම් සංඛාර යම් ආකාර වේද, විඤ්ඤාණ ඒ ආකාර වන බව මූල සිද්ධාන්තයයි. මේ චක්‍රය වැටහුණා නම්, චක්‍රය දන්නවා නම් ඊට අනුකූලව ලැබෙන ප්‍රතිඵලය ගොඩනගල කියන්න පුළුවන්. දැන් මේ කියපු සිද්ධාන්තයේ දී පුණ්‍ය සංඛාර වශයෙන් ගන්න කොට දස පුණ්‍ය ක්‍රියා තියෙනවා. දස පුණ්‍ය ක්‍රියාවෙන් එකින් එකට එන්නා වූ දානමය පුණ්‍ය සංඛාර, සීලමය පුණ්‍ය සංඛාර, භාවනාමය පුණ්‍ය සංඛාර ආදිය යෙදෙන්න ඕන. නමුත් මූලධර්මය තේරුම් ගත්තෙ නැත්නම් මේක තේරුම් ගන්න බෑ. එතකොට දස පුණ්‍ය ක්‍රියා කිව්වම විඤ්ඤාණ දස ආකාරයන් වෙනවා. ඒ වගේම අපුණ්‍ය සංඛාර ගැන කතා කරද්දී සංඛාර අකුසල් වුණාම, අපුණ්‍ය වුණාම විඤ්ඤාණත් අපුණ්‍ය වේ කියන එකයි සිද්ධාන්තය. මෙතන දී දස අකුසල්ම විග්‍රහ වෙන්න ඕන.

එහෙනම් ප්‍රාණඝාතය නිසා ප්‍රාණඝාත අකුසලයෙන් වෙච්ච විඤ්ඤාණයකුයි හට ගන්නේ. එහෙම නැතිව හොරකමින් ඒ ජාතියේ එකක් හට ගන්නෙ නෑ. හොරකමින් හටගන්නේ හොරකමට අනුකූල විඤ්ඤාණයක්. මේ වගේ මේක බෙදිල බෙදිල ගියාම එක එක සතාගෙන් සතාටත් මෙහෙම ක්‍රමයක් හට ගන්නා බව න්‍යාය ධර්මයේ තියෙනවා. **ඉතින් න්‍යාය ධර්මය තේරුම් නොගෙන, අර පොඩි කාලෙ ගණන් හදපු චක්කරේ සහ ඒකට දීපු උදාහරණ ටික විතරක් අරගෙන, ඒකෙ විතරක් එල්ලිලා ඉන්නවා වගේ වැඩක් තමයි මේ විග්‍රහයන්ට හිනාවෙන අය කරල තියෙන්නෙ.** නමුත් චක්කරේ මූලධර්මය තේරුම් ගත්ත නම් ඔය මොකකවත් එල්ලිලා ඉන්න ඕන නෑ, තමන්ටම තේරුම් ගන්න පුළුවන්. එහෙනම් හේතුවට අනුකූලයි ඵලය කියන මූලධර්මයේ දී ඵල නානත්වයක් එනව නම් හේතු නානත්වයකින්මයි එන්න ඕන. නැත්නම් ඵල නානත්වයක් එන්න බෑ. එහෙනම් ජාති නානත්වයක් වෙන්න නම් භව නානත්වයක් වෙන්න ඕන. එහෙම නොවුණොත් එකම ජාතියේ සත්තු තමයි උපදින්න ඕන. නමුත් ඒක එහෙම වෙලා නෑ. කොච්චර නම් සත්තු ජාති ඉන්නවද? ඉතින් මොලයක් තියෙනම් මේ න්‍යාය ධර්මය තේරෙනවා. න්‍යාය ධර්මයේ ඉඳලා දැනුවත් වුණා නම් ප්‍රශ්නයක් නොවී මේ ක්‍රමය තේරෙනවා.

එහෙනම් බල්ලන් උපදින බලු ජාතියේ උපදින්නේ ඊට අනුකූල භවයකින්. හරක් ජාතියේ උපදින්නේ ඊට අනුකූල භවයකින්. මේ තමයි භව පච්චයා ජාති සිද්ධාන්තය. මේ කාරණය තෝර ගන්න බැරිව වලිගය පාග ගත්තු උදවිය තමයි මේ වගේ ධර්ම විග්‍රහවලට හිනාවෙන්නේ, පහර ගහන්නේ. ඒකෙන් මහ ලොකු අපරාධයක් ඒ අය කරගන්නේ. ඒ අපරාධය කරගෙන විපාකය විඳින කොට එදාට මෙහෙම විග්‍රහ කරල තේරුම් කරල දෙන්න කවුරුවත් එන්නෙ නෑ. ආවත් තේරුම් ගන්න පුළුවන් තැනක නෙවෙයි එදාට ඉන්නේ.

එහෙනම් දැන් අපට **ඔප්පු වෙනවා මෙච්චර කල් සැඟවුණු දහමක් තිබුණයි කියන කාරණය.** නමුත් සැඟවුණු බොදු මග යළි මතුවෙනවයි කියනකොට සමහර තර්කවාදීන් ඒක තේරුම් ගන්නෙ වෙන ක්‍රමයකින්. බුදුන් වහන්සේ පෙන්වපු බොදු මග දැනටත් තියෙද්දී, ඒකට වඩා වෙනත් එකක් පෙන්වන කෙනෙක් ඉන්නව කියලයි මේ අය ඒත්තු ගන්වන්න හදන්නේ. සැඟවුණු බොදු මග කියන කොට ඒ අය කියන්නෙ, අද සැඟවිලා නෑ, බොදු මග පැහැදිලිව තියෙනවා කියල. ධර්මයටත් අපහාස කරමින් බුදුන්ගෙත් බුදුන් වෙන්න හදනවා කියන මේ වගේ අදහසක් තමයි සමාජයට දෙන්න හදන්නේ. ඉතින් අපට අහන්න තියෙන්නේ, එදා බුදුන් වහන්සේ දේශනා කළ නිර්මල දහම අද වෙන කොට සැඟවිලා නැතිව ඒ විදියටම තියෙනව නම්, ඇයි ඔය කෑගහන උදවිය ඒ මාර්ගයේ ගිහින් වැඩේ කරගන්නෙ නැත්තෙ කියල. ඔය කෑගහන උදවියට පුළුවන් තමන්ගේ වැඩෙත් කරගෙන මේ සංසාර දුකෙන් පෙළෙන අනෙක් ලෝ සතුන්ටත් ඒ වැඩේ කරගන්න උදව් කරන්න. අඩු ගණනේ තමන්ගේ වැඩේ හරි කර ගන්න පුළුවන් වෙන්න ඕන. ඉතින් ධර්මය සැඟවිලා නැත්නම් කෝ ප්‍රතිඵල?

නමුත් මේ විතණ්ඩවාදී තර්කවාදීන්ට තේරුම් ගන්න බැරිවුණාට යථාර්ථයෙන් බලපුවාම බොදු මග සැඟවිලයි කියන කාරණය ඉතා පැහැදිලිවම පේන්න තියෙනවා. න්‍යාය ධර්මයෙන් **ගත් චක්‍රයයි, ඒ චක්‍රයට අනුකූලව දුන් උදාහරණ එකක් දෙකක් හැරෙන්නයි, තවත් එකක් පිළිගන්නෙ නැතිනම් ඒ පුද්ගලයා ඉන්නෙ ඒ රාමුව තුළ හිරවෙලා.** ඒ විදියට ඉගෙනීමක් තුළ ඉන්නවා මිසක් ඒ තුළින් දැනුවත් වෙලා නෑ. **ගණන් ඉගෙන ගත්තට පස්සෙ ඒ ජාතියේ ගණන් විතරක් හදන්න පුළුවන්. වෙනත් ජාතියේ ගණනක් දුන්නම එතැනම පැටලෙනවා, දැනුවත් නැතිකෙනාට හදන්න බෑ.** මේ වගේ ධර්මය දේශනා කරන කෙනාත්, ධර්මය කටපාඩම් නොකර ඒ සම්බන්ධයෙන් දැනුවත් විය යුතුයි. ඉතින් දැනුවත් නොවී ඉගෙන ගත් කෙනා කොහොමද ධර්ම දේශනා කරන්නේ? පිංවතෙක් ප්‍රශ්නයක් ඇහුවම උත්තරයක් දෙන්න බැරිව හිරවෙනවා. මේ නිසා **ඉගෙනගත් පළියට නිවන් දකින්නවත්, දේශනා කරන්නවත් බෑ.**

මෙතන දී සංයුක්ත නිකාය (3) 243 පිටුවේ එන ෆෙණපිණ්ඩූපම සූත්‍රය හරි වැදගත්. මෙහි දී රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පහ විග්‍රහ කරන්න බුදුන් වහන්සේ උපමාවක් දීල තියෙනවා. රූපය පෙණ පිඬක් වගේ, වේදනාව දිය බුබුළක් වගේ, සංඥාව මිරිඟුවක් වගේ, සංඛාර කෙහෙල් කඳක් වගේ, විඤ්ඤාණ මායාකාරයෙක් වගේ කියල. පටිච්ච කියන එකේ ''පටි'' කියන්නේ සංයෝජන ධර්ම මගින් සසරට බැඳීමයි කියල උපමා සහිතව විග්‍රහ කළාම, සමහර තර්කවාදීන් ''පටි'' කියන්නේ ඉනේ බඳින පටියි කියල ඒක හාස්‍යයට ලක් කරන්න ගත්තා. දැන් මේ වගේ විග්‍රහ කරන්න යනකොට නොදැනුවත්කමේ තරම පෙන්වන්න ඉහත උපමාවන් ගන්න පුළුවන්. බැරිවෙලාවත් ෆෙණපිණ්ඩූපම කියන මේ සූත්‍රය නොතිබුණා නම්, යම් කෙනෙක් කිව්වොත් රූපය පෙණ පිඬක් වගේ, වේදනාව දිය බුබුළක් වගේ... ආදී ලෙස ඒකටත් හිනාවෙනවා, අමුතු ජාතියේ එකක් පෙන්වනව කියල. ''සංඛාර කොහොමද කෙහෙල් කඳක් වගේ වෙන්නේ! කෙහෙල් කඳ දිග, පළල තියෙන ඇද නැති කොටයක් වගේ එකක් නේද?'' දැන් මෙහෙමත් තර්ක කරන්න පුළුවන්. **''පටි'' කියන්නේ බැඳෙන ස්වභාවය පෙන්වන්න දීපු උපමාව බව නිරුක්ති සහිතව පෙන්වා දුන්නමත්, ඒ වගේ සරල කාරණයක්වත් තෝර ගන්න බැරිව ඒකට හිනාවෙන මේ තර්කවාදීන්, සංඛාර කෙහෙල් කඳක් වගේ කියන උපමාව කොහොම නම් තෝර ගන්නද?** දැන් මේ තර්කවාදීන්ට ඒක බුදුන් වහන්සේ දේශනා කරපු එකක් නෙවෙයි කියල පැනල යන්න පුළුවන්ද? එහෙම කරන්න බෑ. මොකද ඒක සූත්‍ර දේශනාවේ තියෙනවා. එහෙනම් නිරුක්ති තෝරන්න දන්නෙ නැතිකමේ වරද මෙතැනදී අහුවෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණු දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# රටක සිරිත් දුසිරිත් අනුව ඇති වන
# සම්පත්තිය හා විපත්තිය

යම් කිසි රටක ජනතාවක් ලෙඩ රෝගාබාධයන්ගෙන් හා ධන ධාන්‍ය අහේනියන්ගෙන් පෙළෙමින්, විවිධාකාර ආපදාවන්ගෙන් නිතර දෙවේලේ පීඩා විඳිනව නම් එතැන සශ්‍රීකත්වයෙන් පිරි සෞභාග්‍යයක් හෝ සාමයක් බලාපොරොත්තු වෙන්න බෑ. බණක් භාවනාවක් කරගෙන නිවන් මග වඩන්නත්, එදිනෙදා ජීවන පැවැත්ම තහවුරු කර ගන්නත් ඒකෙන් සිද්ධ වෙන්නේ විශාල බාධාවක්. රටක් මෙවැනි තත්ත්වයන්ට ඇද වැටීමට හේතුත්, එයින් ගොඩගැනීමට අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ගත් පිළිබඳව ලෝක සම්මත විද්‍යාවන්ට හසු නොවූ සැඟව ගිය දහම් කරුණු කිහිපයක් තමයි මේ පෙන්වා දෙන්න උත්සාහ කරන්නේ.

සමාජයේ යම් කෙනෙක් ආබාධිත තත්ත්වයකට හෝ යම්කිසි දුක් කරදරයකට මුහුණ පෑවොත්, ඒක පෙර කරුමයක් කියල කියන්න බොහෝ අය පුරුදු වෙලා ඉන්නවා. නමුත් එවැනි තත්ත්වයකට පත් වීම කර්මය නිසා සිදු වුණා නොකියා, විග්‍රහ කරල තේරුම්ගත යුතුයි. **ශරීරය ආබාධිත තත්ත්වයට පත් වීමට හේතු වන්නා වූ පාප කර්ම නොකරපු කිසිම සත්වයෙක් මේ ලෝකයේ නෑ.** ඇස් අන්ධ වෙන්න, කන් ඇහෙන්නෙ නැති වෙන්න, ශරීරයට ස්පර්ශ දැනෙන්නෙ නැති වෙන්න, මොළය විකෘති වෙන්න, පිස්සු හැදෙන්න......... කියන මේ ආදී වශයෙන් මේ හැම රෝගාබාධයකටම හේතු වන පාප කර්ම නොකරපු කිසිම සත්වයෙක් මේ සසර ගමනේ නෑ. **හැම සත්ත්වයෙක්ම අඩුවැඩි වශයෙන් ඒව කරල තියෙනවා. කොයි මොහොතක හෝ අතපය කැඩෙන්න, ඇස් අන්ධ වෙන්න, කන් බිහිරි වෙන්න, විවිධාකාර වික්ෂිප්තතාවන්ට පත් වෙන්න හේතු කාරක වන පාප කර්මත්, ඒ වගේම ඇස් නිරෝගී වෙන්න, කන් හොඳට ඇහෙන තත්ත්වයට පත් වෙන්න, හොඳ මානසිකත්වයක් ඇති වෙන්න, අතපය නොකැඩී බේරී ඉන්න පුළුවන් පුණ්‍ය ශක්තියත් දැන් මනුස්සයෙක් වෙලා ඉපදිලා ඉන්න මේ හැම කෙනෙකුගේම කර්ම ගබඩාවේ තියෙනවා.** මේවායින් සමහර අයට සමහර කාලවලදී, අතරමගදී නොසිතූ විරූ දේවල් සිද්ධ වෙන අවස්ථාත් තියෙනවා. උදාහරණ ලෙස යුද්ධයකට ගියොත්, හොඳට අතපය තිබුණු කෙනෙකුගෙත් අතපය කැඩිල ආබාධිත වෙන්න පුළුවන්. එතකොට අහනවා, ඔහු යුද්ධයට ගියත් නැතත් ඒක වෙනවද කියල. නොගියා නම් නොවෙන්නත් තිබුණා. වෙනවාමයි කියල ඒකාන්ත වෙන්නෙ නෑ. හේතුව අපි ළඟ අනන්තරයක් ලෙස සකස්වෙලා තිබුණු ඒ කර්ම, කර්ම ගබඩාවල කොච්චර පිරිල තිබුණත් සමනන්තර ලෙස ඊට අවශ්‍ය කරන්නා වූ පරිසරයක් ගොඩනැගුණොත් තමයි ඒවා ඇදිල ඇවිත් විපාක දෙන්නේ.

මෙතනදී ප්‍රධාන වශයෙන්ම ක්‍රම දෙකක් තියෙනවා. ප්‍රයෝග සම්පත්තිය, ප්‍රයෝග විපත්තිය, ගති සම්පත්තිය, ගති විපත්තිය, කාල සම්පත්තිය,





කාල විපත්තිය, උපධි සම්පත්තිය, උපධි විපත්තිය ලෙස විග්‍රහවෙන සම්පත්තිය හා විපත්තිය තමයි මේ ක්‍රම දෙක. මේ දෙක යෙදිච්ච හැටියට තමයි කරුණු සිද්ධ වෙන්නේ. විපත්ති පැත්තට ආවොත් අර ගබඩාවේ තිබිච්ච පාප කර්මයන් ඇදිල ඇවිත් විපත් ඇති කරන්න හේතු වන්නා වූ පරිසරයක් උදා කරල විපතට පත් කරනවා. මෙවැනි විටකදී ''අපි වාසනාවන්තයෝ අපිට එහෙම කරදරයක් නෑ'' කියල උදම් අනන්න අනෙක් අයට බෑ. ඒ අයටත් කවදා හෝ එවැනි විපත්තියක් ආවොත්, අර ගබඩාවේ තිබූ විපත් හට ගැනීමට හේතු වන්නා වූ පාප කර්ම ඇදිල ඇවිත් විපත් හට ගන්න හේතු වෙනවා. ප්‍රයෝග, ගති, කාල, උපධි කියන මේවායේ සම්පත්ති හතර මතු වෙලා තිබුණු කාලයක් වුණොත් අර විපත්තියට හේතු වන කාරණා කොච්චර කර්ම ගබඩාවේ තිබුණත් ඒවා ඇදෙන්න හේතු නෑ. සම්පත්තියට හේතු වන කාලයක් වුණොත්, ඒ සම්පත් ඇදිල ඇවිත් සම්පත් ඇති කාලයක් බවට පත් වෙනවා. ප්‍රයෝග සම්පත්තිය මුල් වෙලා පටන් ගන්නා ආරම්භයට, පහුවෙලා ලැබෙන අවසාන කාලයේ සත්වයෝ බොහෝ කොටම ප්‍රයෝගයෙන් විපත් කරවන තත්ත්වයට පත් වුණා කියන්නේ දස අකුසල් කරන තත්ත්වයට පත්වෙලා ප්‍රයෝග විපත්තිය සිද්ධ වුණා කියන එකයි.

මෙහිදී තවත් දැනගත යුතු කරුණක් නම්, **පව් කර ගැනීමේ ප්‍රධාන මූලස්ථානය මනුෂ්‍ය ලෝකය බවයි.** මොකද පව් කර ගැනීමේදී වුණත් සතුන්ට ප්‍රධාන වශයෙන් තියෙන්නේ විපාක ස්කන්ධ වශයෙන් ආපු අදහස් ක්‍රියාත්මක වීමක්. හිතාමතා පව් කර ගැනීමේ චේතනාව බලවත් වෙන්නේ මනුෂ්‍යයන්ට. **මනුෂ්‍යයන් කරන පින් පව් දෙක ලෝකයේ පරිසරය වෙනස් කරන්න විශේෂයෙන් බලපානවා.** මනුෂ්‍යයන් දස අකුසල් කරන්න හේතු වෙන්නත් අවශ්‍ය වන පසුතල තියෙනවා. ඒ තමයි කාම වස්තු ඇසුරෙන් ගොඩනැගුන ඡන්දරාගය. **ඡන්දරාගය බලවත් වෙනකොට ලෝකයේ සම්පත් හීන වෙන්න මුලපුරනවා.** ඒ පසුතල ඇවිත් අගහිඟකම්වලින් පෙළෙන කොට තමයි මනුෂ්‍යයා දස අකුසලයට පෙලඹෙන්නේ. එවැනි විටෙක ලෝකය පාපයෙන් බරිත වෙනවා. එතකොට තිබුණු හොඳ ගති ක්‍රමයෙන් දුරු වෙමින් නරක ගතිවලට මිනිස් මනස පරිවර්තනය වෙනවා. ඒ ශක්තිය විශ්වයට පිටවෙලා ගියාම, ලෝකයේ කාල පරිවර්තනයක් ඇති වෙනවා. ඒ හේතුවෙන් බල නැගිලා විශ්වයට ක්‍රියාත්මක වෙලා **ඉර, හඳ පවා කක්ෂයෙන් පිට පනින කාලයක් එනවා.** ඒ අනුව පොළොවත් හැඩ ගැහෙනවා. එවැනි කාලයක් ආවොත් කාල විපත්තිය ක්‍රියාත්මක වෙනවා. ප්‍රයෝග විපත්තියෙන් පටන් ගත්තම ගති විපත්තියට පත් වෙලා මනුෂ්‍යයන්ගේ ගති දූෂිත වෙනවා. ගති දූෂිත වුණාම තමයි කාල විපත්තියට හේතු වන ඉර හඳ පවා කක්ෂයෙන් පිට පනින ක්‍රමයක් එන්නේ. දැන් ඉර හඳ කක්ෂයෙන් පිට පනිනවයි කියන කොට අපේ කක්ෂයෙන් පිට පැනලා නැවතත් ☞

වෙනත් රටක කක්ෂයට එන්නෙ කොහොමද? එක පැත්තකට ගිහින් නැවතත් වෙන පාරකින් අනෙක් පැත්තට යන්නෙ නෑ. එහෙම දියබරියා වගේ ඉර හඳ යන්නෙ නෑ. මෙතනදී අපි නොදකින පැත්තක් තියෙනවා.

මේ අපි ඉන්නා සෑම රටක්, දීපයක්, කුඩා දිවයිනක්, මහා දිවයිනක් හෝ මහාද්වීප හෝ තියෙනවා නම්, ඒවා හැම පැත්තෙන්ම ගිහින් මහ මුහුද යටින් සියල්ලම සම්බන්ධ වෙලා නෑ. ඒ කියන්නේ එක ගුලියට නෙවෙයි තියෙන්නේ. මේ මහපොළොව පිහිටල තියෙන එක්තරා ක්‍රමයක් තියෙනවා. පොල් ගෙඩි පහක් වතුරට දැම්මොත් ඒ ගෙඩි පහ වතුරේ පා වෙලා තියෙනවා. පොල්ගෙඩි පහේම යට පැත්ත ගිහින් වතුර මට්ටමේම තියෙනවා මිසක්, වතුර මත පා වෙලා යටින් එකකට එකක් සම්බන්ධ නැතුවා වගේ තමයි, ප්‍රධාන මහාද්වීප පහත් ලෝකයේ තියෙන්නේ. යටින් ගිහින් බැලුවොත් ඒවා පෘථිවි මධ්‍යයට සම්බන්ධ වෙලා නෑ. මේ ඔක්කෝම තියෙන්නේ මුහුද මතුපිට. ලංකාව ගත්තොත් දිවයිනක් වශයෙන් මුහුද මතුපිට තියෙනවා මිසක් යටින් සම්බන්ධ නෑ. නමුත් මතු පිටින් බැලුවම සම්බන්ධ ඇති සේ පේනවා. උදාහරණ ලෙස අපේ අතක තියෙන මස් පිඬු ගත්තොත් වැලමිටෙන් පහළ තියෙන මස් පිඬුයි, ඉහළ තියෙන මස් පිඬුයි එකම අතේ තිබුණත්, මස්පිඬු දෙක සිව්වලින් වෙන් වෙලා වෙන වෙනමයි තියෙන්නේ. එතකොට මස් පිඬුවක් තවත් මස් පිඬුවකට සම්බන්ධ නොවී ස්ථරවලිනුයි ගැවිලා තියෙන්නේ. මේ වගේ රටින් රටටත් ඒ ඒ ප්‍රදේශයෙන් ප්‍රදේශයට සිව්වලින් හෙවත් ස්ථරවලින් වෙන් වෙච්ච ක්‍රමයක් තියෙනවා. එහෙම ක්‍රමයකට තමයි මේ ලෝකය පිහිටල තියෙන්නේ.

මේ වගේ යම් කිසි මහාද්වීපයක හෝ දිවයිනක හෝ ඉන්නා **මනුෂ්‍යයන්ගෙන් වැඩි පිරිසක් ප්‍රයෝග විපත්තිය මුල් කරගෙන ගති දූෂණය කර ගත්ත නම්, එහිදී ඇතිවී විශ්වයට නිකුත් වන ශක්තියක් තුළින්, ක්‍රමානුකූලව යම් කිසි කක්ෂයක දරා සිටීමේ ආකර්ෂණ මාලාව වෙනස් කරනවා.** දූෂ්‍යතාවයෙන් එහෙම වෙනස් කළොත් ඒ රට දකුණු පැත්තට හැරෙනවා. එනම් මුහුදේ ඒ රට පිහිටා තියෙන හැඩතලය වෙනස්වෙලා රටේ මධ්‍යයෙන් දකුණට හැරෙනවා. මොකද පොළොව තියෙන්නේ වතුරට දාපු පොල් ගෙඩියක් වගේ නිසා පොල් ගෙඩියේ එක පැත්තකට බරක් පැටෙව්වොත් ඒ පැත්ත යට ගිහින් අනෙක් පැත්ත උඩ එනවා වගේ දෙයක් ලෝකයෙත් සිද්ධ වෙනවා. ප්‍රදේශයෙන් ප්‍රදේශයත් ස්ථරවලින් සම්බන්ධ නිසා සමහරවිට එක් එක් ප්‍රදේශයේ හැඩතල වෙනස් වෙන්න පුළුවන්. හරියට හරකෙක් පිටේ හම හොලවනව වගේ. ඒ ඒ ප්‍රදේශවලට පමණක් භූමිකම්පා ඇති වීමත් මෙබඳු හේතු ඵලයක්. මෙතනදී **මනුෂ්‍යයන් විසින් ඇති කරන දූෂ්‍යතාවය හා ගුණධර්මයන් මත එක්තරා කිරණ ශක්තියක් නිර්මාණය වෙනවා.** ඒ කිරණ ශක්තියේ ආකර්ෂණයන්ට ගෝචර වෙලා තමයි මේ ලෝකයේ තියෙන රටවල් ඒ ඒ විදිහට මුහුදේ පා වෙලා, ඇමරිකාව තියෙන පැත්තට ලංකාව නොයා, ඉන්දියාව රුසියාව පැත්තට නොයා මේ විදිහට නිශ්චිත තැන්වල පිහිටල තියෙන්නේ. මේ ආකර්ෂන රටාවන්ට ප්‍රධාන වශයෙන් හේතු වෙන්නේ





මනුෂ්‍යයන්ගේ ගති සිරිත්. **ගති සිරිත් දූෂිත වෙනකොට ආකර්ෂණය දකුණු පැත්තට බර වෙනවා.** (ද+කුණු= කුණු දමන පැත්ත) **ගති සිරිත් පැහැපත් වෙනකොට ඒ ශක්තිය උතුරට බර වෙනවා.** (උතුරු- උත්තරීතර ගුණ) එතකොට ඒ ඒ ආකර්ෂණයන්ට ගෝචර වන රටත් ඒ පැත්තට බර වෙනවා. මධ්‍ය රේඛාවට සමාන්තරව පිහිටා තියෙන කොට ඉර හඳ කක්ෂයේ ගමන් කෙරුවත් ඒක වෙනස් වුණාම ඒ වෙනස් වන පැත්තට අනුව ගමන් කරන ලෙසයි පේන්නේ. රට හෝ ප්‍රදේශය පැත්තකට හැඩගැසුනම සූර්ය කිරණ කක්ෂ ගතවීම වෙනස් වෙනවා.

මෙතනදී යම් කිසි විදියකින් **දකුණු පැත්තට හැරුණොත් ඇති වන කක්ෂ ස්වභාවය යෙදිල තියෙන්නේ ලෝකයට විෂ කිරණ ක්‍රියාත්මක වෙන්න.** මේ කිරණත් යම් කිසි එල්ල කරපු ලම්බක රේඛා දිගේ ගමන් කරන ක්‍රමයක් තියෙනවා. ඒක අපට බලා ගන්න පුළුවන් ප්‍රායෝගික අවස්ථා තියෙනවා. අපි පිනි බිංදුවක් දිහා බලාගෙන ඉන්න කොට ඒක සුදු පාටට පේනවා. තව අඩියක් විතර එහාට ගිහින් බැලුවොත් ඒ ගමන් කරන පැත්තට පිහිටන ශක්තිය නිසා රතු පාටට පේනවා. තවත් අඩියක් දෙකක් එහා පැත්තට ගිහින් බැලුවොත් නිල් පාටයි. මොකද කිරණ විහිදෙන කොට ඔක්කෝම එක ගොඩේ එන්නෙ නෑ. එකිනෙක වෙන් වෙලයි යන්නේ. දේදුන්නක් පායන කොටත් පාට වෙන් වෙලයි පේන්නේ. මොකද කිරණ වෙන් වෙලා එක එක රේඛා දිගේ යම් කිසි කෝණාකාරයකටයි ගමන් කරන්නේ. මේ වගේ, රට සමාන්තරව තියෙනව නම් මේ කියන දූෂිත කිරණ නිසා කෝණය වෙනස් වෙලා දකුණට බරවෙනවා. **මෙහිදී විශාල භූමිකම්පාවක් හෝ ඇති වෙලා සිදුවෙන වෙනස නිසා, පොළොව යටින් ලිස්සල ගිහින් කාබන් තට්ටුවක් වගේ බැඳිල හිරවෙලා තියෙන සිවිය පොඩ්ඩක් චලනය වෙලා පැත්ත වෙනස් කරනවා.** එතකොට උතුරු පැත්තේ තියෙන ආකර්ෂණය දකුණට වැඩිපුර එනවා. ඒ වගේම යහපත් පැත්ත වැඩිල තියේ නම් උතුරට හැරෙනවා. මේ විදිහට රටින් රට හැරෙන කොට ඉර හඳ ගමන් කරන කක්ෂය ඒ ඒ රටට වෙනස් වෙනවා. මේ කාරණය පොත්වල නැතත් සිද්ධ වෙන්නේ මේ ක්‍රමයට.

මේ විදිහට **ඉර හඳ කක්ෂයෙන් පිට පැන්නාම එක පැත්තකින් සූර්යාගේ ආලෝක කිරණ වෙනස් වෙලා විෂ කිරණ එන්න පටන් ගන්නවා. එතකොට කලින් ආපු සෙත් කිරණවල පැමිණීම නතර වෙනවා.** අනෙක් පැත්තෙන් දේශගුණික කාලගුණික විපර්යාසයන් ඇති වෙනවා. නිසි කලට වැහි වහින්න හැදිල තිබුණු දේශගුණ කාලගුණ රටාවන් වෙනස් වුණාම අකලට වැහි වහිනවා. කාලයට පායනවා. වැස්ස ඕන කාලයට වැස්ස නෑ. සමහර විට නියගය බොහෝ කල් පවතිනවා. නැතිනම් මහවැසි බොහෝ කල් පවතිනවා.

මේ ආදී වශයෙන් සිදුවන සිදුවීම් නිසා ශෂ්‍ය භෝග හරියට පැසීමට අවශ්‍ය කරන වාතාවරණය නැති වෙනවා. මෙසේ ඇති වන ගති විපත් නිසා කාල විපත් ඇති වෙනවා. එබඳු කාල විපත්තියකට පත් වුණාම ඇති වන, පෝෂණය දුර්වල වෙච්ච ආහාර පරිභෝග කරන මනුෂ්‍යයන්ගේ කායික ප්‍රතිශක්තිය නැති වෙලා ☞

දුර්වල වෙලා යනවා. ඒ වගේම **ලෙඩ රෝග ඇති වෙන්න හේතු වන විදිහේ විෂ කිරණ විශ්වයෙන් එන්න පටන් ගන්නවා.** එතකොට විෂබීජවලට ඇතුළු වෙන්න තිබූ ශක්තිය වර්ධනය වෙනවා. දුර්වල කයට ඒ ශක්තිය ඇතුළු වීම නිසා ඇති වන මන්ද පෝෂණයෙන් උපධි විපත්ති ඇති වෙනවා. මේ නිසා ඒ උපධි විපත්තිය කියන්නෙ ප්‍රයෝග විපත්තිය මුල් කරගෙන පසු කාලීනව ලැබුණු ප්‍රතිඵලයක්. ප්‍රයෝග විපත්තියෙන් කටයුතු කරපු අය ගති විපත්තියට පත් වෙලා, ඒකෙන් කාල විපත්තිය ගොඩනැගිලා, ඒකෙන් පසු උපධි විපත්තිය ගොඩනැගිලා විශාල දුර්භික්ෂ වසංගතවලට මුහුණ දෙන ජන සමාජයක් ඇති වෙනවා. **මෙබඳු ක්‍රමයක් ආවොත් අනන්ත සසරේ පටන් ආපු කර්ම ගබඩාවේ තිබිච්ච පාප කර්මවලට එලදීමට අවශ්‍ය කරන සමනන්තරය හැදෙනවා.** එහෙම හැදුණට පස්සෙ හොඳට හිටියයි නරකට හිටියයි කියල කරන්න දෙයක් නෑ. ඔක්කෝටම කර්ම ශක්තිය මුල් වෙලා ඇවිදින්, ප්‍රයෝග විපත්තියෙන් හදාගත් දේවලුත් මුල් වෙලා, මේ දෙකම එකට එකතු වෙලා වසංගතවලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. මේ නිසා එක් කෙනෙක් දෙන්නෙක් කරන නොකටයුතුවලින් හෝ මේ ක්‍රියාවලිය බලවත් වුණා නම්, විශාල පිරිසකට අපරාපරීය කර්මයන් විපාක දෙන්න හේතු වශයෙන් කර්මයක් ඇදිල ඇවිත්, අනුකූල වෙච්ච පරිසරයට අනුව විපාකයන් විඳින්න සිද්ධ වෙනවා. මේ නිසා ඒකට ගැළපෙන්නා වූ රෝගාබාධ හට ගන්නවා. වා පිත් සෙම් අසමතුලිතවීම නිසා ශරීරයේ විකෘතින් හට ගන්නවා. ඒ වගේම ප්‍රයෝග සම්පත්තිය මුල් කරගෙන ලබන්න තිබිච්ච තත්ත්වය උපක්‍රමශීලීව විවිධ ක්‍රම යොදලා ප්‍රයෝග විපත්තියෙන් මුළාවට පත් වෙලා කටයුතු කළොත් ප්‍රතිවිරුද්ධ පාර්ශ්වයන්ගේ පහරදීම්වලට ලක් වෙන්නත් සිද්ධ වෙනවා. එහෙම වුණාමත් අර කර්ම වේගයත්, ප්‍රයෝග විපත්තියත් නිසා නොයෙක් ගැළපෙන අවස්ථාවන්වලදී පසුතලය හැදිල ඇවිත් අතපය කඩාගන්න, වෙඩි පහරවල් කන්න සිද්ධ වෙනවා.

නමුත් මේ හැම එකක්ම ඒකාන්තයෙන්ම එන්න තිබිච්ච කර්ම නෙවෙයි. **එල දෙන්න තිබිච්ච කර්ම ඇදිල එන්න නම් පසුතලය හැදෙන්න ඕන.** නැත්නම් ඇදෙන්න විදිහක් නෑ. ඒ නිසා මේ කියන හේතු උඩ ත්‍රිහේතුක (අලෝභ, අද්වේශ, අමෝහ සහගත කුසල සිතකින් උපන්) උප්පත්තියක් ලබල ඉන්න කෙනෙකුට ඔය කියපු ප්‍රයෝග විපත්තිය නිසා ගති, කාල, උපධි විපත්ති ඇවිත්, ලැබෙන්න තියෙන සම්පත් අහිමි වෙලා නොයෙක් අබ්බගාතයන් බවට පත්වෙන්නත් පුළුවන්. ලැබෙන්න තියෙන වාසනාව නැතිවෙන්නත් පුළුවන්. මේ නිසා පුද්ගලික වශයෙන් හෝ අපි එකිනෙකා සම්බන්ධ වෙලා මේ සම්පත්ති හතර, හතර ආකාරයෙන් දියුණු කළොත්, අර ආබාධිත පුද්ගලයන්ගේ ආබාධ මැඩ පවත්වා, යහපත් මගට පත්වෙන්න හේතු වාසනා තියෙනව නම්, ඒ මාර්ගයෙන් නැගිල එන්නත් හේතු යෙදෙනවා. ඒ වගේම ආබාධ නොවූ අයට හැකි තරම් දුරට ආරක්ෂාව සැලසිලා, බොහොම සශ්‍රීකත්වයෙන් දැහැමින් සාමයෙන් තම තමන්ගේ අභිවෘද්ධියට කටයුතු කරගන්න මග පාදා ගන්න පුළුවන්.

ඊළඟට සූත්‍ර පිටකයේ පෙන්වා තියෙන විදිහට ඔක්කාත කියන රජුගේ කාලයට පෙර කාලයකදී **ලෝකයේ පැවතිලා තියෙන්නේ ස්වභාවික බඩගින්නක්. ඒ වගේම වයසට ගිහින් මැරෙන ක්‍රමයක්. එච්චර තමයි මනුෂ්‍යයන්ට රෝගයක් හැටියට තිබිල තියෙන්නේ.** වෙන කිසිම රෝගයකටවත් පරිසරයක් තිබිල නෑ. ඒ කාලෙ ගවයන් ආදී සතුන් මැරුවෙත් නෑ. ඒ සතුනුත් ජීවත් වුණා. එහෙම ඉන්න කොට ගවයන් මරන්න පටන් ගත් ක්‍රමයක් යෙදුණයි කියල පෙන්වනවා. රජ්ජුරුවන්ගේ පුරෝහිත බ්‍රාහ්මණයන්ට ගවයන්ගෙන් ලබා ගන්නා පස්ගෝරස ආදී ප්‍රණීත ආහාර වස්තු ලැබුණා. ඒවා ලැබුණු පසු ඒ ගැන කල්පනා කරල සතුන්ට කෑදර වෙලා, මහා කපටි පිරිසක් හැටියටයි ඒ අය කටයුතු කළේ. උන්ගෙන් ලැබෙන පස්ගෝරස මෙච්චර රස නම්, උන්ගේ මස් කොහොමට රස ඇත්ද කියල රස තෘෂ්ණාවක් ඇති වුණා. ඒ ගැන හිතලා මංගල ගවයා මරා, ඒ මස්වලින් බමුණන්ට දානයක් දීල සෙත් පැතුවොත් මහා සශ්‍රීකත්වයක් උදා වෙනවයි කියල රජතුමාව කපටිකමින් රැවැට්ටුවා. ඒක වටිනා යාගයක් කියලයි රජ්ජුරුවන්ට ඒත්තු ගැන්නුවේ. මේ රජ්ජුරුවන්ට මංගල ගවයෙක් හිටියා. ඒ ගවයාම රජු විසින් ප්‍රධාන කර මරා තවත් ගවයන්ගේ මරාගත් මසුත් සමග අර බමුණන්ට මහා දානයක් දුන්නා. ඉන් පසු මිනිස්සුත් ඒ ක්‍රමය අනුගමනය කරල ගවයන් මරා මස් කන්න පටන් ගත්තා. මේ ගවයන් මැරීමේ සාපය හේතු කොට ගෙන අට අනූවක් රෝගවලට ලෝකය ගොදුරු වුණයි කියලත් දේශනාවේ පෙන්වා තියෙනවා. ඒ රෝගවලට තමයි දැන් කියන අංශභාගය, දියවැඩියාව, පිළිකාව...... ආදී මේ හැම රෝගයක්ම අයිති වෙන්නේ. මේ විදිහට **මනුෂ්‍යයා දූෂිත වීම නිසා ඇති වූ විශ්ව පරිවර්තනයෙන් හටගත් විනාශයක මුල තමයි මේ.** එවැනි විනාශයක එක පැත්තක් විතරයි මේ පෙන්නුවේ. තවත් එවැනි පැති ගණනාවක්ම තියෙනවා.

කොහොම නමුත් මේ විපාක එනකොට කර්මය මුල් කොට, කර්මය දායාද කොට, කර්මය උපත කොට, කර්මය නෑයා කොට, කර්මය පිළිසරණ කොටගෙන... ආදී ආකාරයෙන් මේ දුක් කරදරවලට කර්මයත් මුල් වෙනවා. නමුත් මේ කියන කර්ම විපාකයන් කර්ම විශ්ලේෂණයකින් හොයා ගන්න බෑ. ඒ නිසා මිනිස්සු මේවා හොයන්න ගිහින් පඹගාලක පැටලෙනවා. මොකද කර්ම විෂය කියන එක අචින්ත්‍යයි. තමන්ගේ දන්න මට්ටමට, නුවණ මට්ටමට තෝර ගන්න පුළුවන් වුණත්, අති සියුම් තැනට එනකල් කර්ම විෂය ගැන කියන්න පුළුවන් වෙන්නේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ නමකට පමණයි. නමුත් නැණවතුන්ට ඒ ඒ අයගේ ඥාන මට්ටමට, මෙන්න මෙහෙම හේතු වශයෙන් ඇවිදින් මේ විදිහට සම්බන්ධ වෙනව කියල ලෝකයාට කියල දෙන්න පුළුවන්.

මේ නිසා බුදු දහමේ පෙන්වා තියෙන්නේ මොකක්ද? **මේ කියන විපත්වලින් බේරී සිටීමට නම් පලවෙනි කාරණය ප්‍රයෝග විපත්ති ඇතිකරන දස අකුසලයෙන් පුළුවන් තරම් වෙන්වෙලා ඉන්න ඕන.** යම් සමාජයක් දස අකුසලයෙන් වෙන් වෙලා ක්‍රියා කරන කොට ප්‍රයෝග සම්පත්තියයි ක්‍රියාත්මක වෙන්නේ. දස පුණ්‍ය ක්‍රියා තමයි එතකොට යෙදෙන්නේ. ප්‍රයෝග සම්පත්තිය ක්‍රියාත්මක වෙනකොට ගති පිරිසිදු වෙලා ගති සම්පත්තිය ලැබෙනවා. එතකොට වැරදිලා තිබිච්ච රට, ඉවතට පැනල තිබිච්ච තත්ත්වය, නියම කක්ෂයට එන විදියට පරිවර්තනය වෙනවා. එයින් නැවතත් ශෂ්‍ය භෝග සකස්වෙන, නියමිත කාලයට වැහි ලැබෙන පසුතලයක් එනවා. එතැනින් කාල සම්පත්තිය හටගන්නවා.

අද කතා කරන ඕසෝන් ස්ථරය විනාශ වෙලා තියෙන්නෙත් රටේ ලෝකයේ සිදුවන ප්‍රයෝග විපත්තිය නිසා. ප්‍රයෝග සම්පත්තිය ආව නම් ඒත් සමගම ගති සම්පත්තිය වැඩී ඕසෝන් ස්ථරයත් වැඩෙනවා. ඒක තමයි කාල සම්පත්තිය. එහෙම ආව නම් රට නියමිත කක්ෂයෙන් කක්ෂයට, නියමිත ගාණට පිහිටල සූර්යාලෝකයෙන් එන විෂ කිරණ නවතිනවා. ආලෝකය වැඩිවෙනවා, උෂ්ණත්වය අඩුවෙනවා, අවශ්‍ය කරන පසුතලය නියම ක්‍රමයට හැදෙනවා. ගස් කොළන්වලට අවශ්‍ය පරිසරය හැදෙනවා. රටේ ලෝකයේ සශ්‍රීකත්වය ඇතිවෙලා සැමටම යහපත උදාවෙනවා. මේ විදිහට උපධි සම්පත්තිය උදා වෙනවා. ගති සම්පත්තිය මතුවුණාම මිනිස්සුන්ගේ තියෙන සැඩ ගති නැතිවෙනවා. සාමය සමාදානය උදාවෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

***වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :***

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 14**

# ගිහි කාලයේ අත්දුටු ගුප්ත ලොව වැදගත් සිදුවීම් කිහිපයක්....



*(පසුගිය කලාපයෙන් - මහා බලගතු බුද්ධ බල යන්ත්‍ර හතරක්....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

මේ විස්තර කරන්නේ මා අත්දැකපු තවත් විශේෂ සිද්ධියක්. මේක සිද්ධ වුණේ 1986 වසරේදී පමණ. අපි පදිංචි වෙලා හිටපු නිවසට යාබද ඉඩමේ අපට නෑදෑයන් වන පිරිසක් හිටියා. මතක හැටියට රූපසිංහ නමැති අයෙක් ඒ පිරිසේ කාන්තාවක් සමග විවාහ වෙලා හිටියා. ඔහු එක් දිනක් හවස 6.30 ට පමණ ඒ පිරිසට සම්බන්ධ නෑදෑ ගෙදරක සිට බැදපු රටකජු වගයක් කමින් ප්‍රධාන පාර දිගේ එමින් හිටියා. ඒ පාරේ, ගල් බැම්ම කියන හංදියක් පසු කරල එනකොට කන්ද උඩ පටන් පාරට කලු පාට ගුලියක් පැනල තියෙනවා. ඔහු පසු පස හැරිල බලනකොට ඉතා කුරු කළු මිනිහෙක් වගේ කෙනෙක්. පස්ස හැරුණොත් කලු මිනිහා වේගයෙන් තමන් ළඟට එන බව දැනුණ නිසා ඔහු දෙසම බලාගෙන මීටර් 50 ක් පමණ පිටුපසට පාර දිගේම ඇවිත් තියෙනවා. ඒත් සමගම තිබුණු වංගුවක් සහිත පාලමක් ලඟට එනකොට සෙනඟ ඉන්න කඩයක් පේනවා. ඔහු පාලම පසු කරනවාත් සමගම කලු මිටි මිනිහා ඇලට පැනල තිබුණා. රූපසිංහ කඩේට ගිහින් ටික වෙලාවක් ඉඳල ගෙදර එන්න හදනකොට ඒ ඇලේ උඩ කොටසක් පසු කරල එන කෙනෙක් දිස් වුණා. එතැන පසු කරන කොටම නැවතත් ඒ කළු කුරු මිනිහා පාරට පැන්නා. ඔහුට මතක එච්චරයි.

ඔහු වේගයෙන් ඇවිත් අපේ ගෙදර ළඟදී ''මං අද ඉවරයි'' කියා ගෙදර ගියා. සමහර දවස්වලට මේ වගේ කතා ඔහු නිවසේ රැස්වී කියනවත් මට ඇහිල තිබුණ නිසා මම ඒක ගණන් ගත්තෙ නෑ. ඔහු ගෙදර ගිහින් හූවක් කියනවාත් සමග මොකක් හෝ වැටෙන සද්දයක් ඇහුණා. බලනකොට කකුලක් තරම් ලොකු ගස්ලබු ගහක්, උඩ පැනල දෙකට කඩල දමපු හඬ තමයි ඒ ඇහුණේ. ඊටත් වඩා මහත කොස් පැලයක් (පීදෙන තරම් කිට්ටු) ඒ ලඟ තිබුණා. ඔහුගේ දෙවැනි හූ හඬත් සමගම ජරාස් ගාල සද්දයක් ඇහුණා. ඔහු ඒ කොස් ගහත් උඩ පැනල අත් දෙකෙන් දෙකට කඩල දාල තිබුණා. මෙහෙම කඩන්න නම් මිනිසුන් හත් අට දෙනෙක්වත් උසින් දුන්න වගේ ඇදිය යුතු වුණා. මේක කඩා දමපු ඔහු ගෙට ගිහින් පොළවේ වැතිර ගත්තා. තව ටිකකින් මූ ඉවරයි කියා ඔහුම කිව්වා.

මේ කාලයේ එබඳු අයට තෙල් මතුරා ගාන මන්ත්‍රයක් තිබුණා. එයින් කටයුතු කරන මගේ හිතවතෙක් මටත් ඒ මන්ත්‍රය දීල තිබුණා. දැන් ඒක භාවිතාවක් නැති නිසා සම්පූර්ණයෙන් මතක නෑ. ඒකට කියන්නේ **දැඩිමුණ්ඩ දැහැන** කියල. මේ ගැන දන්න කෙනෙක් නම් ඒකෙ බලය දන්නවා. දැනගන්න මතක හරියෙන් මුල ටිකක් මෙහෙමයි. ''ඕං සේංගුකී සන්තා ජෝරාඩී දේ හෝ කාම් සූර ලා ඩී භාහු කට්ටු...'' මේ ඒ මන්ත්‍රයේ මුලට තියෙන ඉතා සුළු කොටසක් විතරයි. ඒ කාලයේ මේ මන්ත්‍රය මට හොඳට මතක තිබුණා. මම පීරිසියකට පොල්තෙල් ටිකක් අරගෙන අතේ තියාගෙන මේ මන්ත්‍රයෙන් 21 ක් වරක් මතුරා ඔහුගේ හිසට දැම්මා. සුළු මොහොතක් නින්ද ගිය ඔහු ''තෝ අද බේරුණා නැවතත් අහුවෙයන්'' යැයි දෙතුන් වතාවක්ම කියා නිදා ගත්තා. ඒ කාලයේ ගුප්ත ශක්තිය මා ළඟත් ක්‍රියාත්මක වෙච්ච නිසා මේ අමනුෂ්‍ය සිද්ධිය විමසා බැලුවා. එතකොට අමනුෂ්‍යයා පෙනී සිටියා. මොහු බිලි ගන්න හදන්නේ ඔහුට නොදී පුළුටු කාපු නිසයි. පණට පණක් දෙනවනම් මොහු නිදහස් කරන බව ඒ අමනුෂ්‍යයා කියා සිටියා.

සුළු දෙයක් නිසා පණ ඩැහැගන්න හදන අමනුෂ්‍යයාට මේ මොහොතේදී උපක්‍රමයක් ක්‍රියාත්මක වුණා. ඒ අනුව පණට පණක් දෙන බවට පොරොන්දු කරවාගෙන ඔහු නිදහස් කරන්න ගිවිසවා ගත්තා. ඊළඟ දින උදේ, රූපෙ ගිහින් ඉඳිකටුවක් අරන් එන්නැයි කියා මම ඔහුට කිව්වා. (රූපසිංහ කියන එකයි කෙටි කරල රූපෙ කිව්වේ) අඟුරු කබලකට පොල් කටු දෙකක් සහ තෙල් ටිකක් දමා දල්වා අඟුරු බස්වා තබා, රූපෙ නමැති ඔහුගේ පණ නිදහස් කර ඒ වෙනුවට ඉඳිකටුව කැප කරන ක්‍රමයක් ගුප්තව ආවා. ඔහු අතේ ඉඳිකටුව මිට මොලවා තද කර අල්ලා ගන්න සලස්වා, ඉඳිකටුව අනුකූල වූ කවි රටාවකින් අමනුෂ්‍යයාට කැප කළා. ඔහු අතේ මිට මොලවාගත් ඉඳිකටුව රත් වෙන්න වුණා. අන්තිමට බල ගන්වන කොට ඔහු අත දිගු කරන්න හදපු නිසා මමත් ඔහුගේ මිට දිග නොහැරෙන්න අල්ලා පණට පණ බල දුන් ඉඳිකටුව ගිනි අඟුරු වෙතට දැම්මෙව්වා. බටයකින් පිඹිමින් පොල් කටු අඟුරු තුළ ගිනියම් කළ ඉඳිකටුවේ පන්නරය රත් වෙනකොට ගෙවී ගියා. මේ විදිහට පණට පණ දෙන්න පන්නරය පිහිටුවා දුන්නා. අමනුෂ්‍යයා, පොරොන්දුව ඉටු කරපු නිසාත්, තමන්ට ලැබිච්ච වටිනා දෙයක් නැතත් ගිවිසුම හරි ගිය නිසාත් යන්න ගියා. ඔහු ඉඳිකටුව අතේ තියාගෙන හිටපු පාරට හම පිච්චිලා සුදු වෙලා තිබුණා. **අපේ පැරැණ්නන් හවස් යාමයේ, මද්දහනේ පුළුටු කකා තනියෙන් යන්න එපා කිව්වේ නිකම්ම නෙවෙයි. අද කාලෙ ඒවා ගණන් නොගෙන, මෝඩ කතා කියල හිතුවත් මේවායේ නොපෙනෙන පැත්තක් පැරැණ්නන් දැක තිබූ බවට මේවා හොඳ උදාහරණ වෙනවා.**

මේ දිනවල සිදුවෙච්ච තවත් විශේෂ සිද්ධියක් තමයි මේ. ඒ කාලෙ අපේ ගෙවත්තේ කෙසෙල්, මඤ්ඤොක්ක ආදිය හිටවල තිබුණ නිසා, හවස් කාලයේ මම වටපිටාව ටිකක් විපරම් කරල බලනවා. එබඳු එක් දිනක සුදු කමිසයක් සහ සුදු සරමක් ඇඳගත්ත කෙනෙක් මිදුලේ වතුර ටැංකිය ලඟ ඉන්නවා මම දැක්කා.

ආලෝකය හොඳින් තිබුණ විදුලි පන්දමකුත් මා අතේ තිබුණා. මම ඔහුට මෙහෙම කතා කළා. ''කවුද ඔතන, කවුද ඔය? කතා කරනවකො ගල් ගිල්ල වගේ ඉන්නෙ.'' මම මෙහෙම කිව්වත් ඔහු කතා කළේ නෑ. පසුව විදුලි පන්දම ඔහුට එල්ල කරගෙනම ලඟට ගියා. මනුස්සයෙකුගේ ස්වභාවයට චලනයක් ඔහුට තිබුණෙ නෑ. මට සුළු චකිතයක් ඇති වුනත් හිතට ධෛර්යය අරන් කිට්ටුවටම ගියා. මුහුණුවර ඉහත පළමුව කී රූපෙ කියන අයගෙ වගේ වුණා. මම නැවතත් මෙහෙම කිව්වා. ''තමුසෙට පිස්සුද ඕයි, වෙන කෙනෙක් නම් බය වෙනවා. මෙතන හොල්මන් නොකර යනව යන්න'' එයින් පසු මූණට අතක් තියාගෙන මුමුනමින් ඔහු යන්න ගියා. ඒත් මට ටිකක් සැක ඇති වුණා. ඔහු රූපෙමද වෙන කෙනෙක්ද? ඔහුගේ ගෙදර අල්ලපු වැටේ නිසා මම ගිහින් කතා කළා.



ඔලුවෙ ඉඳන් පෙරවගෙන නිදාගෙන හිටපු ඔහු, ඇයි චූටි මාමෙ කියල නැගිට්ටා. තමුසෙ දූන් ටැංකිය ලඟ හිටිය නේද කියල මම ඇහුවම, මම මේ හවස නිදා ගත්තු ගමන් යැයි ඔහු කිව්වා. මේ ගුප්ත ලෝකයක පුදුම සිදුවීම්.

**කකුසඳ බුද්ධ කාලයේ දන්වැට කා සඟුන්ට අපහාස කරපු පිරිසක් ප්‍රේත යෝනියේ ඉපදිලා, හතරවැනි මේ ගෞතම බුද්ධාන්තරයේ බිම්බිසාර රජුට හීනෙන් පෙනී පිං ඉල්ලීම නිසා, රජතුමා දානයක් දී පින් දීපු ආකාරයත්, බුදුපියාණන් වහන්සේ තිරෝකුඩ්ඩ සූත්‍රය දේශනා කළ ආකාරයත්** දහම් පොත්වල සඳහන් වෙනවා. **මියගිය තම නෑයින් (ඥාති ප්‍රේතයින්), පෙර තමන් හිටපු ගෙවල් වෙත ඇවිත් බිත්තියෙන් පිටත අගුපිල්වල, දරමැහිවල, ඉඳුල් දමන තැන්වල ගැවසෙන බවත්, මිනිසත් වෙලා හිටපු කාලයේ ප්‍රමාදීව පින් නොකර සිටි ඔවුන් සාගින්නෙන් පෙළෙන බවත්, ඥාතීන් දුන් දෙයින් යැපෙන බවත් පෙන්වා තියෙනවා.** නමුත් සමහරු මේවා පසුව හදාගත්තු සූත්‍ර යැයි කියා ප්‍රතික්ෂේප කරනවා. ඥාති ප්‍රේත කියන්නේ සතර අපාගත ප්‍රේතයින් නොවන බවත්, චාතුර් මහා රාජිතයට අයත් ඉතා අසරණව සිටින කොටසක් බවත් අභිධර්ම ප්‍රදීපිකා ආදී ග්‍රන්ථවලත් සඳහන් වෙනවා.

**මේ සත්‍ය අත්දැකීම පවසන්නේ, කෙනෙක් මිය යාමෙන් පසු සියල්ල කෙළවරයි කියන උච්ඡේද දෘෂ්ඨියට පත් නොවී, මෙබඳු අත්බැව් ලෝකයේ ඇති බවට කරුණු පෙන්වන්නයි.** එහෙම නැතිව මේවා බය ගන්වන්න කියන කතා නෙවෙයි. බය විය යුත්තේ මෙබඳු අත්බැව් ලැබෙන්න හේතු වන ප්‍රමාද විහරණයෙන් දන් පින් නොකරන මුලාවටයි. අනුන්ගේ පිහිට පතමින් අඳෝනා නගන අත්බැව්වල උපදින්න වෙනව නම්, එහි ඇති දුක්ඛිත බව, මේ අත්දැකීම් විස්වාස කර තේරුම් ගෙන අප්‍රමාදව යහපතක් කර ගනිත්වා, සසර අසාරත්වය දැක දහම් අවබෝධ කර නිවන් දකිත්වා කියන පරම පවිත්‍ර චේතනාවෙන් තමයි මේ කරුණු මේ විදිහට ඉදිරිපත් කරන්නේ.

අර ඉහත කියපු අද්භූත පුද්ගලයා වෙන කවුරුවත් නෙවෙයි, මිය ගිය මගේම පියා. මිනී මැරුම්, මංකොල්ල කෑම්, සොරකම් ආදිය නොකළත්, මත්පැන් පානය සහ රස්තියාදුවේ ඇවිදිමින් කාලය ගතකිරීම ඔහුගේ ප්‍රධාන විනෝදාංශය වුණා. මොකක් හරි වටිනා දෙයක් තිබුණොත් ඒක විකුණගෙන මත් පැන් පානය කරමින්, නැති බැරි කෙනෙකුට මොනව හරි දීමේ පුරුද්දත් එක්තරා මට්ටමකට ඔහු ළඟ තිබුණා. තම බිරිඳට හෝ පවුලේ අයට කළ යුතු යුතුකම් ඉටුකිරීම අතින් නම් ඔහු සිටියේ ඉතාම පහළ තැනක. බුදු දහම කෙරෙහි විරුද්ධත්වයක් නොතිබුණත්, චිත්තප්‍රසාදයක් නම් ඔහු අහලකවත් තිබුණෙ නෑ. උණ රෝගය මුල් කරගත් ආසාදනයකින් මගේ පියා මිය යන විට වයස අවුරුදු 59 ක් වුණා. ඒ 1975 වසරේ. මම ඔහුට අවුරුද්දට සරම්, කමිස ගෙනත් දුන්නත් ඔහු ඒවා ඇන්දෙ නෑ. ඔහු පරණ ඇඳුම් ඇඳගෙන සිටින බව දැක, කෝ ගෙනත් දුන් සරම්, කමිස යැයි ඇහුවොත් ''උඹලගෙ වැඩේ උඹල කළා, ආයෙත් ඒව ගැන අහන්න එපා'' කියනවා. මත්පැන්වලට ඔහු ඉතා ගිජු නිසා ඒවා කාට හරි විකුණා තම කාර්ය ඉටු කරගෙන තිබුණා. ඒ නිසා තමයි දීපු ඇඳුම් ඔහු ළඟ නොතිබුණේ. ඔහු ඇඳුම් පැළඳුම්, ඉඳුම් හිටුම් ආදී කිසිවකට ආසාවක් නැත්තෙත්, අඹු දරු, මව් පිය ආදීන්ට කළ යුතු යුතුකම් ගණනකටවත් නොගෙන කාලය ගෙව්වෙත්, අනිච්ච, දුක්ඛ, අනත්ත දැකල ලබපු ධර්මාවබෝධයකින් නොව, මත්පැන්වල ආස්වාදයෙන් රස්තියාදු ගැසීමේ ප්‍රිය භාවය නිසා කිසිවකට ආසාවක් නැතිව, බීමට ඇබ්බැහි වීමේ ස්වභාවය නිසා කිසි දේක බලාපොරොත්තුවක් නැතිව සිටින කෙනෙක් නිසා බව මට හොඳටම වැටහුණා.

මෙහෙම හිටපු පියාගේ මරණයෙන් ටික කලක් ගත වුණා. දවසක් රාත්‍රියේ මම හීනයක් දැක්කා. ඒක හැබැහින් දැකපු දෙයක් වගේ පැහැදිලියි. නිරුවතින් පැමිණි පියා, තමන්ට කන්න නැති බවත්, නිරුවත් නිසා කොහේවත් යන්න ලැජ්ජා බවත් කියමින් කවුරුවත් නැති රාත්‍රී කාලයේ හොරෙන් කඩ මණ්ඩියට ගිහින්, අහක දමල තියෙන කරවල කෑලි ආදිය ගෙනවිත් කන්න හැදුවත්, දිය රස නිසා කන්න බැරුව දුක් විඳින බවත් කියමින් මා ඉදිරියේ අඬන්න වුණා. ඔහු ජීවත් වෙලා හිටපු කාලයේ පිනක් දහමක් නොකර ගත කළ ජීවිත තත්ත්වයට ගැලපෙන අත්බැවක් දූන් ලබා ඇති බව මට සක් සුදක් සේ පැහැදිලි වුණා. **සාංඝික දානාදී පින් දුන්නත් ඔහුට ගන්න හිමිකම් නැත්තේ, ජීවත් වෙලා හිටපු කාලයෙත් එබඳු කිසිම දානයකට සහභාගි නොවී පන්සල් පැත්තටවත් නොගිය කෙනෙක් නිසයි.** ඔහු කිව්ව එකම දෙය නම්, බඩගින්නෙ ඉන්න කොලුවෙක් ආවොත් පන්නන්න එපා මගෙ පංගුව හරි දීපල්ලා කියන එකයි. කතාවට ඔහු එහෙම කිව්වත්, ක්‍රියාව තුළ නම් එබඳු දෙයක් තිබුණෙ නෑ. ඔහු කෑම ගන්නකොට පළමුව පොඩ්ඩක් අනල කොලයකට දමල තියනවා. ඒ සියලු සත්වයන්ට ආහාරයක් වෙත්වා කියන අදහසින්ලු.

කොහොම නමුත් ඔහුට අනුමෝදන් වෙන්න පුළුවන්, දුගී මඟී යාචක, බලු කපුටු ආදීන්ට දෙන දානයක පින පමණක් බව, ජීවත් වෙලා හිටපු කාලයේ කරපු කටයුතුවලින් පෙනී

ගිය නිසා, මම එක්තරා යාචක පුද්ගලයෙකුට සුදු සරමක්, කමිසයක්, බැනියමක්, සුදු තුවායක් සමග සබන් කැල්ලක් දී නාන්න ආදියත් ලබා දී, නාගෙන ඒ ඇඳුම් ඇඳගෙන එන ලෙස දන්වා, ඒ දානය ඔහුට අනුකම්පා බුද්ධියෙන් ලබා දී පියාට පින් දුන්නා. ඒ පුද්ගලයත් බොහෝ සතුටු වෙලා ඔහු දන්නා හැටියට පින් දුන්නා.

එදිනම රාත්‍රියේ ඉතා හොඳින් දර්ශනය වෙච්ච හීනයක් මම දැක්කා. පියා සුදු සරමක්, බැනියමක්, කමිසයක් ඇඳගෙන, සුදු තුවායකුත් කරේ දමාගෙන හිනහ වෙවී ඇවිත්, තමන්ට ඇඳුම් කෑම ආදිය ලැබෙන බවත්, පොඩි පුතා ඉස්සරත් මට සැලකුවා, දැනුත් මේ කන්නෙ අඳින්නෙ පොඩි පුතා නිසයි, මම අමෘතය ගෙනාවා යැයි කියා මගේ අතේ කළු කුඩා ගුලියක් තැබුවා. ඒක ඉඹල බැලුවම පොල්තෙල් පහනක පිච්චුන පහන් වැටියක අඟුරු වගේ. සුවඳත් ඒ වගේමයි.

අවුරුදු හත අටක් මේ ලැබීම ඔහුට තිබුණා. නමුත් කාලයක් යනකොට භෞතික ක්‍රියාවකට සමාන දෙයක් සිද්ධ වෙන්න පටන් ගත්තා. එනම් රාත්‍රී 10 ට පමණ, පෙර පියා හිටපු කාලයේ වගේ ඔහු ගෙදර එන හඬ ඇහෙන්න පටන් ගත්තා. ඉස්තෝප්පු කාමරයේ දොර අරින හඬත්, ඇඳුම් ඇඳ වියලේ එල්ලන සියුම් හඬත්, කුස්සියේ දොර අරින හඬත් ඇහෙන්න පටන් ගත්තා. කොච්චර ව්‍යංජන තිබුණත් ඇනු සම්බෝලයක් හදන සිරිතක් පියා ජීවත් වෙලා හිටපු කාලයේ තිබුණා. ඒ සඳහා වෙනම බොම්බයි ළූනු, අමු මිරිස්, දෙහි, තක්කාලි ටික ටික ගෙනත් කල් තියා තබා ගන්නවා. මිය ගියාට පස්සෙ කුස්සියේ ඒවා නැතත් පිහියකින් ළූනු ලියන හඬ, බත් හැලිය අරින හඬ, බත් බෙදන හඬ ආදියත් ඇහෙන්න පටන් ගත්තා. මේවා භෞතිකව සිදුවන දේවල්වල හඬමයි. නමුත් උදේට බැලුවාම එබන්දක් සිදුවෙලා නැති බවයි පේන්නේ.

එක් දිනක් මේ ගැන පරීක්ෂණයක් කරන්න හිතාගෙන, අද මම හොරේ අල්ල ගන්නම් කියමින් අලුත් බැටරි කැලි තුනක් දමා විදුලි පන්දමක් හොඳට සකස් කරගෙන, කුස්සියට ගේ දෙසින් ඇතුල් වන දොර අඩවල් කර තබා අහගෙන හිටියත් එදින කිසිම සද්දයක් ආවෙ නෑ. කියපු නිසා දැනගෙන නැවිත් ඉන්න ඇතැයි සිතූ මම ඊළඟ දවසේ, ඕව හොයන්න ඕන නෑ අපි නිදාගමු යැයි ගෙදර අයටත් කියමින්, කුස්සියට ගෙයි ඉඳන් යන දොර වසන ලෙසට සද්ද කර, යතුර නොදා ආපසු ඇද තබා නිදා ගත්තා. එදින කාමරයට එන හඬ, කුස්සියේ දොර අරින හඬ, ළූනු සම්බෝලෙ හදන හඬ ඇසී, බත් හැලිය අරින හඬ එනවාත් සමගම මම විදුලි පන්දම අල්ලගෙන දොර ඇරගෙන වේගයෙන් කුස්සියට ගියා. බත් හැලිය දෙසට විදුලි පන්දම අල්ලගෙනමයි ගියේ.

මේක පුදුම සිද්ධියක්. පුද්ගලයා අඩි 6 ක් විතර උසයි. කලු පාටයි. ඇගේ ඇඳුම් පේන්න තිබුණෙ නෑ. බත් හැලිය තියල තිබුණේ පෝරණුව බැඳපු ලිප උඩ. පෝරණුව උඩ ඇනතියාගෙන ඉඳගත් මේ පුද්ගලයා මා දුටු විගසම එයින් බිමට පැන්නේ ඇසිල්ලකින්. බිම ඉඳුල් වතුර කොරහක් තිබුණා. ඔහුගේ එක පාදයක් කොරහේ වැදී වතුර බිමට හැලුනා. අඩි තුන හතරක් බිම දිගේ සැරි සැරීමෙන් එලියට යන්න තැනක් බලා, ලැටිස් ගහල තිබුණු ලී කවුළු අතරින් හුලඟක් යන්නාක් මෙන් හෝස් ගාල පැනල ගියා. වතුර ගෑවුණු පාද තල හතරක පමණ සලකුණු බිම පිහිටා තිබුණා. ඒවා මිනිස් අඩි වගේමයි. ගෙදර උදවිය එන්න පෙර, මම ඒ අඩි පාරවල් පයින් මකා දමා, ''අද නම් හොරා අසුවුණා, බලල් තඩියෙක් මීයො හොයන්නද කොහෙද පෝරණුව උඩ ඉඳල බය වෙලා පැනපු ගමන් ඉඳුල් වතුර කොරහෙ වැටිල පැනල දිව්වා'' යැයි මම කිව්වේ ඒ අය බය නොවෙන්නයි. නමුත් සිද්ධිය සියැසින් දැකපු මට නම් හිතුනේ මේක නම් මහා භයානක දෙයක්, මොන ප්‍රතිකර්මයක් කරන්නද කියලයි.

ඒ කාලයේ මම සේවය කළේ පූගොඩ පෙහෙ කම්හලේ. ඒ උදේ හතේ පටන් හවස තුන දක්වා වැඩ කරන සතියක්. හවස ගෙදර ඇවිත් බුදු පහන දල්වා සුවඳ සාම්බ්‍රාණිවලින් ගේ ඇතුලෙත්, ගේ වටේටත් දුම් අල්ලා, ඉස්තෝප්පුවේ පැදුරක් එලාගෙන නමස්කාරය, තිසරණ සමාදානය ආදිය සිද්ධ කර තුන් සූත්‍රය කියා දෙවියන්ට ඥාතීන්ට පින් දී කටයුතු අවසන් කළා.

දැන් පෙර තිබූ සද්ධ කරදර දැනගන්නවත් නෑ. මා රාත්‍රී කාලයෙත් රාජකාරී සඳහා යන නිසා, එකල භාර්යාව හා දරුවා තනි වෙනවට අවුරුදු 12 ක පමණ ළඟ ඥාති වන ගැහැණු ළමයෙක් තනිවට නවතා තැබුවා. දින දෙක තුනක් මේ විදිහට හැන්දෑවෙ හත අට පමණ වෙද්දී පිරිත් කියල අවසන් කරල තුන් වන දින අමුතු සිද්ධියක් වුණා. පියා පෙර හිටපු ඉස්තෝප්පු කාමරයේ අස්සක් මුල්ලක් නෑර සුවඳ දුම් අල්ලා පිරිත් කීම ආරම්භ කර, මහා මංගල සූත්‍රය කියනකොට බල්ලෙක් දඟලන අඩි සද්දයක් කාමරයෙන් ඇහෙන්න වුණා. රතන සූත්‍රය කියන කොට ඒ හඬ තදින් දඟලන ලෙස ඇහුණා. කරණීයමත්ත සූත්‍රය කියල අවසන් වෙන්න ළං වෙනකොට, පඬු පාටට හුරු බල්ලෙක් මා දිහා හොරෙන් බලමින් ඉදිරි බිත්තියේ හැපීගෙන මා පසු වෙනවාත් සමගම වේගයෙන් පැනල දිව්වා.

පින් දීල අවසන් වුණා විතරයි. භාර්යාව රාත්‍රී ආහාර පිස, තනියට සිටින ගැහුණු ළමයා සමග මිදුලේ වතුර ටැංකිය ළඟ අතපය හෝදමින් හිටියා. ඇය, ''කෙල්ලෙ දුවපිය, ඉක්මනට ගෙට දුවපිය'' කියා හඬ නගා, බාගෙට හෝදාගත් අතපය ඇතිව ගෙට පැන්නා. මමත් විදුලි පන්දම අරගෙන ඇවිත් ඇයි කියල අහනකොටම, ලොකු මිනිස්සු දෙන්නෙක් හෙළුවෙන් ගේ දිහා මිදුලෙ ඉඳන් මෙතනින් දුවල ගල් වැටිය පල්ලට පැන්නයි ඇය කිව්වා. මමත් විදුලි පන්දම දල්වා ඒ දෙසට විපරම් කරනකොට, පහල ගෙදර හිටපු මගේ සහෝදරයා ඇතුළු පිරිසත් විදුලි පන්දම් එළි ගසමින් බලනවා දැක මා ඒ ගැන විමසුවාම කියා සිටියේ, ගල් වැටිය උඩ ඉඳල කවුද දෙන්නෙක් පාරට පැනල පාර දිගේ දිව්ව බවයි. හතරවෙනි දිනයෙත් සුවඳ දුම් අල්ලා පිරිත් කීම ආරම්භ කළා. වත්තෙන් එපිට ඇලේ ඉඳන් යම් පිරිසක් බනිමින් කෑගසන හඬ මට ඇහුණා. ''අපිට මෙහෙවත් ඉන්න දීපිය. අපි ආයෙ ඔහේ එන්නෙ නෑ. ඕක නවත්තපිය.'' මේ තමයි ඒ ඇහුනු හඬ.

මේ දින ගණන අවසන් වෙනකොට මම දවල් සේවයට යන සතිය අවසන් වුණා. ඊළඟ සතියෙ හවස තුනට ආරම්භ වී රාත්‍රී 11 ට වැඩ අවසන් වන සතිය නිසා පිරිත් කියන්න අවස්ථාවක් තිබුණෙ නෑ. ඒ දවස්වල පාන්දර තමයි ගෙදර එන්නේ. එහෙම එනකොට වත්තෙන් පිටත තාර පාරේ ඇල හරහා තියෙන බෝක්කුවක් හමු වෙනවා. අසල ගෙදරක සයිමන් මාමා කියන කෙනෙක් වැල් ආදිය කැපිය හැකි පොඩි පිහියක් අතේ තියාගෙන, වට පිට හොඳට බලමින් හිටියා. සයිමන් මාමෙ මොනවද හොයන්නෙ කියල මම ඇහුවා. ''විලි ලැජ්ජාවෙ බෑ මහත්තයෝ මේව කියන්න, අපේ ගෙවල්වලත් ගෑණු ළමයි ඉන්නවනෙ. ඊයෙ රෑ හතහමාරට විතර මිනිස්සු දෙන්නෙක් හෙළුවෙන් ළඟටම ඇවිත්, හෙළුවෙන්ම හිටපු ගෑණියෙක් ඇදගෙන මේ පාලම් බෝක්කුව යටට පැන්නනෙ! ඒ ගෑණි යටිගිරියෙන් කෑගැහුවා. මම ඇහැටම දැක්කා.'' මේ තමයි සයිමන් මාමා දීපු උත්තරය. කාරණය වටහා ගත් මම, ''කෝ ඉතින් මෙතනින් පැන්න නම් මේ දළු තණකොළවත් පොඩි වෙලා තියෙන්න එපැයි'' කියා ඇහුවා. ඒක තමා මටත් පුදුමෙ. කෝකටත් එරමිනිය කටු අතු ටිකක්වත් කපල මෙතෙන්ට දාන්න ඕනෑ කියා සයිමන් මාමා ඊළඟ දවසෙ, පනින්න බැරි විදිහට කටු අතු ගාලක් කපා දමා තිබුණා. නමුත් ඒ සිද්ධිය ඒ විදිහටම, ඒ වෙලාවටම ඊළඟ දවසෙත් සිද්ධ

වෙලා තිබුණා. තුන් වෙනි දවසෙත් ඒ සිද්ධිය වෙන්න මොහොතකට පෙර, කාන්තාවක් නගරයට යන්න එනකොට නිරුවත් මිනිස්සු දෙන්නා බෝක්කු පාලම ළඟ නිරුවත් ස්ත්‍රිය සමග ඉන්නවා දැක ආපසු දුවනකොට, නගරයට එන පිරිමි කණ්ඩායමකට ඒ කාරණය කිව්වම ඒ අයත් දුවගෙන ඇවිත් බලල තිබුණා. නමුත් එදින කිසිවෙක් පේන්න ඉඳල නෑ. ඒ ස්ත්‍රී කෑගැසීම එදා පටන් ඇහුණෙ නෑ. මේවා හරි පුදුම දේවල්. ඒත් සම්පූර්ණ ඇත්ත. මා දැකපු තවත් සත්‍ය සිදුවීමක් තමයි මේ,

ඒ කාලයේ මා කටයුතු කළේ පොල්ගහවෙල ගිජිඳාගම කියන ගමේ. අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයෙන් නොයෙක් ශාන්ති කටයුතු කරමින්, පූජනීය ස්ථානයක් සඳහා රජයෙන් ගමට වෙන් කර දී තිබුණු ස්ථානයක නව පන්සලක් ඉදිකිරීම, මා හමුවෙන්න එන සැදැහැවතුන්ගේ පුණ්‍යාධාරවලින් සිදු කර දෙමින් කටයුතු කරපු කාලයේ තමයි මේ සිද්ධිය සිද්ධ වුණේ.

ගිරාඹේ කියන්නේ පොල්ගහවෙල ප්‍රදේශයේ පිහිටි එක්තරා ගමක්. ඒ ගමේ වාසය කරපු එක්තරා මහත්මයෙකුට, මියගිය තම මවගෙන් ලොකු කරදරයක් වුණා. එනම් ඇය නගන බැණුම් හඬක් ඔහුට නිතරම ඇසීමයි. ඔහුට අවුරුදු ගණනාවකින් හරියාකාර නින්දක් තිබුණෙත් නෑ. මව බනින හඬමයි නිතරම ඇහුණේ. ''තෝ තනියෙන් කනවා. මා ගැන බලන්නෙ නෑ. තොට නම් හොඳක් වෙන්න එපා. බල්ලා. කාලකණ්ණියා.'' මේ විදිහට ඇය කුණුහරුපෙනුත් බැන වදින බව පැවසූ ඒ මහතා, ඒ හේතුවෙන් විඳපු මානසික දුක කියා නිම කරන්න බැරි තරම් වුණා. වෛද්‍යවරු හමුවෙලා පරීක්ෂණවලට පෙනී හිටියම, මානසික ආබාධයක් බව පවසා, වසර ගණනක සිට ඒ වන විටත් පෙති වර්ග කිහිපයක් පාවිච්චි කරමින් තමයි ඔහු හිටියේ.

එකල මා විශේෂ බුද්ධ පූජා විදියක් සහිත ශාන්තිකර්මයක් සිද්ධ කර, පසුව පුද්ගලයන්ගේ නොයෙක් ප්‍රශ්නවලට ප්‍රතිකර්මත්, රෝගාබාධවලට ගතයුතු ක්‍රියාමාර්ග ආදියත් සිද්ධ කළා. මෙබඳු ගුප්ත දේවල් බලා ප්‍රතිකර්ම පෙන්වා දීමත් ශාන්තිකර්මවල එක් අංගයක්. දූන් අර මහත්තයාගේ විස්තර බලන වාරයත් උදා වුණා. ඔහු මා ළඟට ඇවිත් ඉඳගත්තා පමණයි. බොහොම සැඩ පරුෂ විදිහට බණින හඬ ඔහුට තදින් ඇහුණා. මා ගැන දැනුම් දුන්නොත් තෝ මරනවා යැයි දොස් කියන හඬ ඔහුට ඇහුණ නිසා, මවු ගැන කියන්න බයේ ''මට හරි කරදරයක්, නිතරම කෙනෙක් බණිනවා. මරණ තර්ජනය කරනවා. නම කිව්වොත් මරණ බව දැනුත් කියනවා. මට කරදරයක් වෙයිද දන්නෙ නෑ'' කියල මෙහෙම කිව්වෙත් මහා සංවේගයකින්.

''එහෙම බිය වෙන්න දෙයක් නෑ. කාට වුනත් යහපතක් මිසක් අයහපතක් නොකරන නිසා බය නැතිව කියන්න. විවිධ අය කරදර කරන නිසයි අමනුෂ්‍ය අය ඔහොම කියන්නේ.'' මම මෙහෙම කිව්වම, කරදර කරන්නේ තමාගේ මව බවත්, මිය ගිහින් වසර ගණනක් වන බවත්, දූන් වසර දෙකකට වැඩි කාලයක පටන් තමන්ට නින්දක්ද හරියට නැති බවත් ඔහු පැවසුවා. මවගේ නම සහ ලිපිනය ඉල්ලාගත් මම, අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයක් මගින් යොමු කර බැලුවා. සුදු රෙද්දක් ඇඳගත් වයසක ස්ත්‍රියක් කොන්ක්‍රීට් ලැල්ලක් උඩ ඉඳගෙන මුහුණ හංග ගන්නා ආකාරය මම මනසින් දැක්කා. ඔබ ඇයි මේ ඔබේ පුතාට කරදර කරන්නෙ කියල මම ඇගෙන් ඇහුවා. ඇය බැගෑපත් වෙලා, ''අනේ මහත්තයෝ මට කන්න නෑ. බඩගිනි වැඩි වෙනකොට මේකෙ තියෙන ඒව තමයි කන්නෙ'' කියා කොන්ක්‍රීට් ලැල්ලට අත පහත් කර පෙන්නුවා. බලනකොට ඒක වැසිකිලි වලක් වහල දාපු කොන්ක්‍රීට් ලැල්ලක්. එබන්දක් වෙන්න හේතුව මම ඇගෙන් ඇහුවා. ''මම තමයි පන්සලේ මහ උපාසක අම්මා. බොරු නම් ඔය පුතාගෙන් අහල බලන්න'' යැයි ඇය කිව්වා. මම ඔහුගෙන් අම්මා සිල් ගත්තද කියල ඇහුවම, අම්මා තමයි පන්සලේ ලොකු උපාසක අම්මා යනුවෙන් ඔහු පිළිතුරු දුන්නා. එච්චර පින් කරලත් මෙහෙම වුනේ මොකදැයි ඇහුවම, ඒ ප්‍රේත මව මෙහෙම කිව්වා. ''හාමුදුරුවො දුස්සීල වැඩ කරන නිසා මම ඒ කාලෙ උන්වහන්සේලත් එක්ක එච්චර හොඳ නෑ. දායකයො දානෙ ගෙනියනව දැක්කම, ඔය දානෙ අපට දීල පලයල්ල, අපි ඊට වඩා සිල්වත් කියල මිනිස්සුන්ට කිව්වා. මගේ නොදැනීමක හැටි! ඒ පව තමයි මම මේ විඳින්නේ. අනේ මහත්තයෝ මට පිහිට වෙන්න. මේ දුකෙන් ගොඩ ගන්න. මම දූන් හාමුදුරුවන්ට බණින්නෙ නෑ. දානයක් දීල පින් අනුමෝදන් කරන්න කියන්න. මට අනුමෝදන් වෙන්න පුළුවන්.'' මේ විදිහට ගුප්ත ලෝකයේ ප්‍රේත මව කියාගෙන ගියා.

කෙසේ හෝ තමා මේ සිටින තත්ත්වයෙන් මුදවා ගන්නා ලෙසත් ඇය ඉල්ලා සිටියා. මේ සඳහා දානයක් කොහොම දුන්නොත් පින් ලැබේදැයි යොමු කර බැලීමේදී, බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා වහන්සේලා උදෙසා, බුද්ධ ප්‍රතිමා වහන්සේලා ඉදිරියේ ධාතු කරඬුව තබා, අට පිරිකර පූජාවක් සහිත බුද්ධ පූජා තබා, සිල් ඇත්තන් උදෙසා එදිනට දානය පූජා කර ඇයට පින් අනුමෝදන් කළාම, ඒ පින් ලැබෙන බව වැටහී ගියා. ඊට ප්‍රධාන හේතුව දැනට වැඩ සිටින සංඝරත්නය කෙරෙහි ඇය අප්‍රසාදයක් පල කරල තිබුණ නිසා, මෙකල සාංඝික දානයක් දුන්නත් ඇගේ චිත්තප්‍රසාදය වර්ධනය කරගන්න බාධා වෙලා තිබුණ නිසයි. බුද්ධ ප්‍රමුඛ අතීත සංඝරත්නය කෙරෙහි පැහැදීමෙන් ඇය කතා කළ නිසා, ඒ පිනට සිත පැහැදෙන බව වැටහී ඒ ක්‍රමවේදය අනුව අටපිරිකර සහිත බුද්ධ පූජාවත්, උපාසක උපාසිකාවන් සඳහා දානයත්, පෝය දිනට දෙන්න පුළුවන්දැයි මම ඇගේ පුතාගෙන් ඇහුවා. ඔහු ඉතා සතුටින් ඒක බාර ගත්තා. එකල 100 කට අධික සංඛ්‍යාවක් ගිජිඳාගම බුදු මැඳුර අසල ස්ථානයේ පෙහෙවත් සමාදානය වූ අතර, ඒ කටයුතු මෙහෙයෙව්වේ මා විසින්. මේ පොරොන්දුව ඇගේ පුතා විසින් දුන්න විතරයි, ''එහෙනම් මහත්තයො දූන් ඉඳන්ම මම පුතාට බණින්නෙ නෑ, කරදර කරන්නෙ නෑ'' කියල ඇය කිව්වා.

ඇගේ පුතා ඒ මොහොතෙම මට කතා කරල, ''මහත්තයෝ පුදුම වැඩේනෙ! අම්මා කතා කරන හඬ නැවතුනා. මගෙ ඔලුව සැහැල්ලු වුනා'' යැයි සතුටින් කිව්වා. ''බුදු දහමේ ප්‍රතිඵල සංදිට්ඨිකයි, අකාලිකයි කියන්නෙ ඕකනේ මහත්තයා. ඔය විස්වාසය කඩ කරගන්නෙ නැතිව අවංක බෞද්ධයෙක් වෙලා කියපු කටයුතු ඒ විදිහටම කරගන්න. නිතර මේ පූජා ආදියට සම්බන්ධ වෙලා පෝයට සිල් සමාදන් වෙන්න'' යැයි මම ඇගේ පුතාට කිව්වා.

පෝය දින අටපිරිකර හැමෝටම අත ගස්වා, විවෘත බුද්ධ ප්‍රතිමා වහන්සේ ළඟ ධාතුන් වහන්සේලා ඉදිරිපිට තැබුවා පමණයි, විනාඩි 10 ක් පමණ යන කල් නොපෙනෙන ගුප්ත ලෝකයේ පිරිස් විදුලි වේගයෙන් අත් එවමින් අත ගැසූ හැටි දැකපු මට, මේ මොන තරම් ආනිසංස තියෙන පූජාවක්ද! ඒකනේ කෝටි ගණනක් අත්, විදුලි එළි එන ලෙස ඇවිත් අතගසා ගන්නේ කියල හිතුනා. ගිහි වතක හිටපු කාලයේ මා විසින් කළ බුද්ධ පූජාවන්ට අටපිරිකර පූජා කිරීම සම්බන්ධ වුනේ මෙතැන් පටන්. මා පැවිදි වෙන්න ආසන්න කාලය වෙන කොට භික්ෂූන් වහන්සේලාට, සාංඝික දානවලට එසේ ලැබුන බොහෝ අටපිරිකර පූජ කළා. පිරිකර 25 ක් පමණ ඒ කාලයෙත් ගබඩා කාමරයේ ඉතිරි වෙලා තිබුණා. එදා අටපිරිකර පූජ කරල බුද්ධ පූජා සහ සිල් ඇත්තන්ට කළ පූජා පින ඇයට අනුමෝදන් කළා පමණයි, ඒ මොහොතේම ඇය දුක්ඛිත බවින් මිදී ඉහළට ඇදී ගියා. මේවා සම්පූර්ණ සත්‍ය සිදුවීම්. අතිශයෝක්ති කිසිවක් නෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්... 3 කොටස

අපේ මස් ලේ ඇහැට නොපෙනෙන ලෝකවලින් අට මහ නිරය හා ඔසුපත් නිරය ගැන පසුගිය කලාපයේ අවසාන කොටසින් යම් පමණකට විග්‍රහ කළා. මෙතනදී අට මහ නිරයට අයිති අපාය අට ගැනත් යම් ප්‍රමාණයකට දැනගැනීම වැදගත්. ඒවායින් යටින්ම පිහිටා තියෙන දරුණුම නිරය වන අවීචි මහා නරකාදිය ගැන විග්‍රහ කළා. ඊළඟට පිළිවෙලින් ප්‍රතාපය, තාපය, මහා රෞරවය, රෞරවය, සංඝාතය, කාල සූත්‍රය හා සංජීවය කියන 7 තමයි විපාක ගතිය ක්‍රමයෙන් අඩුවන ආකාරයට පිහිටල තියෙන්නේ.



මේ අපායවල් හඳුන්වන නම්වලින් කියවෙන නිරුක්තියෙන් ඒවායේ ස්වභාවයන් වටහා ගන්න පුළුවන්. උදාහරණ විදිහට සංජීවය කියන අපාය ගත්තොත් 'සං' කියන්නේ එකතුවක්, ජීවය කියන්නේ ජීවත් වීම කියන එකයි. එනම් යම් යම් පුද්ගලයින් තම තමන්ගේ ජීවත් වීම සඳහා විවිධාකාරයෙන් අන්‍ය පුද්ගලයන් තලා පෙලා අයහපත් ආකාරයට එකතු කරගත්තු සම්පත් තමයි මෙතනදී සං කියන්නේ. එහෙම එකතු කරගන්න අනුන්ගේ ජීවිත වනසනවා. උදාහරණ විදිහට අපි හිතමු මාළු අල්ලන මිනිහෙක් අනුන්ගේ ජීවිත වනසල තමන්ගේ පැවැත්ම උදෙසා හම්බ කරනවා. ඒ වගේම තව කෙනෙක් හරක් මරල හම්බ කරනවා. තමන්ට එකතු කරගන්න, ලාබ ලබන්න අනුන්ගේ ජීවිත වනසනවා. ඒ වගේම සඟ සතු දේපළ, ආර්යන් හා මව්පිය ආදීන්ගේ දේපළ, බලෙන් ලබා ගන්නවා. එතකොට යම්කිසි අවස්ථාවක මේ කාරණා උපාදාන වුනොත් (මූලික වුනොත්) ඒ හේතුවෙන් අනුකූල වූ ඵලය විදිහට සංජීවය කියන අපායේ උප්පත්තිය ලබන්න පුළුවන්.

ඊළඟට කාල සූත්‍රය කියන අපාය ගත්තොත් **කළු, කසල ආදී නම්වලින් හඳුන්වන්නේ පාපකාරී දේවල්.** ඒ වගේම අපි අතර අදත් ව්‍යවහාරයේ පවතිනවා අරූ මහ සූත්තර කාරයා, ඕක මොකක් හරි සූත්තරයක් දමාවි... මේ ආදී කියමන්. තවත් විදිහකින් කියනවනම් තමන්ට මොනව හරි සම්පත්තියක් ලබාගන්න අන්‍ය පුද්ගලයන් කපටි කමින් රවටල විවිධ උපායන් සූත්තර යොදල විනාශ කරනවා, හිංගි හිංසා කරනවා. ඒ හේතුවට අනුකූල වූ විපාකයන් විඳින්න තමයි කාල සූත්‍රය කියන අපායේ ගිහින් උපදින්නේ.

සංඝාතය කියන නිරය ගත්තොත් ඒකෙන් කියවෙන්නේ සමූල ඝාතනයක්. එනම් විශාල පිරිසක් වනසල දම්මාම ඇතිවන තත්ත්වයක්. ඒකෙ විපාකයට ඒ අයටත් විශාල පිරිස් පිටින් වැනසිලා යන්න සිද්ධ වෙන තැනක් තමයි මේ අපාය. එක්කෙනෙක් විතරක් නෙවෙයි, මහා විශාල පිරිසකට මහා විනාශයක් වෙනවා. විපාකය විඳවන්න වෙන්නෙත් ඒ පිරිසත් එක්ක. හැබැයි මෙතනදී **සමූල ඝාතනය කිව්වම ජීවිත කායිකව විනාශ කිරීම විතරක් නෙවෙයි, මානසික වශයෙන් වේදනා දීල විනාශ කිරීමත් අයිති වෙනවා.** උදාහරණ විදිහට භික්ෂූන් වහන්සේලා අතර මහා භේද භින්න වීමක් ඇති කරනවා. එතකොට සං කියන එකතුවක් ඝාතනය කරල දම්ම වෙනවා. ඒ කියන්නේ භික්ෂූන් වහන්සේලා අතර සමගිය නැති කළා. එතකොට ඒකෙ විපාකය විදිහට තමන්ටත් ඒ ජාතියේම විපාක විඳින්න සිද්ධ වෙනවා. පරලොව අපාගත විපාකය මහා භයානකයි. **ඒකට සම්බන්ධ වෙච්ච විශාල පිරිසකට මහා ගින්නක් ඇති වෙනවා. ඒ ඔක්කොම දැවිල යනවා.** එහෙම නැත්නම් මහා ලෝදිය ගංගාවක් ඇවිත් දහස් ගණනක් මැදින් ගලාගෙන යනවා. අර ඔක්කොම පිරිස් මර හඬ දීල කෑ ගහද්දී පොදිය පිටින්ම තැම්බිලා පිච්චිලා යනවා. එක එකා අඳෝනා නගනවා. නමුත් ඉතින් කවුරු බේරගන්නද? කාගෙන් බේරගන්නද? එකක් ඉවර වෙනකොටම ඒ පිටටම තව එකක් එනවා. **තනිකරම ගිනි හෝ ලෝ දිය ගංගා තමයි එන්නේ. ඒත් මැරෙන්නෙ නෑ. කර්ම ශක්තියෙන් විපාකය විඳවන්න කය පවත්වනවා.**

ඊළඟට රෞරවය ගත්තොත්, ඒකෙන් පෙන්වන්නේ රෞද්‍ර ගතිය. අපි කෙනෙකුට රවනවයි කියනවා. මහා තද රෞද්‍ර ගති තියෙනවා. හැම වෙලේම බලන්නේ රෞද්‍ර විදිහට එතකොට රෞද්‍ර ගතිය ක්‍රියාත්මක කරනවා. ඒකෙන් අන්‍යයන්ට හැම වෙලේම වධ දෙනවා. නොයෙක් ආකාරයෙන් කෙළවරක් නැතිව හිංසා පීඩා කරනවා. මේ කියන රෞද්‍රකම් මහත් විදිහට කළොත් ඒකෙ උපරිමය තමයි මහා රෞරවය කියන නිරය. උදාහරණ විදිහට **දෙමව්පියන්, ගුරුවරුන්, ගුණවතුන් ආදීන්ට කරන රෞද්‍රකම් සාමාන්‍ය ඒවාට වඩා බරපතලයි.**

ඊළඟට තාපය කියන නිරය ගත්තොත්, අනුන් තවන දවන ගතිය තමයි ඒකෙන් කියවෙන්නේ. ඊට අනුකූලව අධික උෂ්ණත්වයක් සහිතව මේ අපාය හටගන්නවා. තනිකරම ලෝදිය උෂ්ණත්වය. ඒ ලෝ දිය අධික උෂ්ණත්වයට වාෂ්ප වෙලා වායුවක් බවට පත්වෙනවා. මනුස්සයන් වෙලා ඉන්න කාලයේ ගෙවල් වනසනවා. මං මාවත් වනසනවා. යන්න එන්න තැන් නැති කරනවා. ගොවිතැන් බත් විනාශ කරනවා. කුඹුරුවලට ගිනි තියනවා. මේ ජාතියේ ඒව කළාම තාපය කියන නිරයේ උප්පත්තිය ලබන්න හේතු වෙනවා. මේවා දැඩි විදිහට කළොත් ඊටත් වඩා උෂ්ණත්වය, තාපය වැඩි ප්‍රතාපය කියන නිරයේ උප්පත්තියට හේතු වෙනවා. උදාහරණ විදිහට ළමයි හරි කවුරු හරි කට්ටියක් ගෙයක් ඇතුලෙ ඉන්නකොට මුළු ගෙටම ගිනි තියල ඒ අයත් එක්ක පුච්චනවා. ඒකෙ ☞

විපාකය විඳවන්න ප්‍රතාපයේ ගිහින් උපදින්න පුළුවන්. **එහෙම අපාගත වෙලා ශේෂ වූ විපාකයෙන් සුදුසු තැන්වල ඉපදුනොත් තමන්ටත් කවදා හරි ප්‍රවෘත්ති විපාක වශයෙන් ඒ හා සමාන බරපතල දුක් කරදරවලට ගොදුරු වෙන්න පුළුවන්.**

දැන් මේ විස්තර කරපු අට මහා නිරයට පොදුවේ ගිනි අපාය කියලත් කියනවා. අනුන්ට ගිනි දීල ගිනි කන්න උපදින නිසයි එහෙම කියන්නේ. මේ එක ගිනි අපායක් ගැන වහරක අභයරතනාලංකාර හිමියන් මීට වසර ගණනකට පෙර සමාධියෙන් දැකපු සිද්ධියක් තමයි දැන් මේ විස්තර කරන්න යන්නේ. උන්වහන්සේ කියන විදිහට **පොත්වල තියෙන නිසා නෙවෙයි මේ කියන්නේ. අත්දැකීමෙන්ම එවැනි අපායක් සමාධියට හසුවෙච්ච නිසයි.** හැබැයි පොත්වල තියෙන කරුණු එක්කත් ඒක ගැලපෙනවා. මේ සිද්ධියට අදාල කෙටි විස්තරයක් තමයි මේ පෙන්වන්නේ. නම් ගම් සඳහන් කිරීම සුදුසු නැති නිසා දැකපු සිද්ධිය විතරයි මෙහිදී ඉදිරිපත් කරන්නේ.

සමාජයේ එක්තරා ගුණ වඩපු සත්පුරුෂයෙකුට කරන ලද වින කිරීමක් තමයි මීට මුල් වෙලා තියෙන්නේ. ඒ ගුණ වඩපු සත්පුරුෂයා විසින් තමාගේ අධ්‍යාත්මික ශක්තීන් උපයෝගී කරගෙන කරන ලද සෙත් ශාන්ති ආදී යහපත් කටයුතු ඉවසල ඉන්න බැරි වුණු යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම්වල නියැලි පුද්ගලයෙකු විසින් පංච පාසානම් යොදා සකස් කරපු වසක් ඒ සත්පුරුෂයා වෙත දුන්නා. පංච පාසානම් කියන්නේ කැවොත් මරණයට පත් වෙන්න තරම් ප්‍රබල උග්‍ර විෂ මිශ්‍රණයක්. කොච්චර විසද කියනව නම් මස් දියවෙලා ඇටකටු ආදියත් දිරාපත් වෙනවා. කොහොම හරි පෙර කර්ම විපාකයක් පරිදි ඒ සත්පුරුෂයාටත් පංච පාසානම් මිශ්‍ර වස ශරීරගත වුණා. හැබැයි මාස ගණනාවක් දුක් කරදර විඳල පෙර පුණ්‍ය ශක්තියකින් ඒ සත්පුරුෂයාගේ ජීවිතය බේරුණා.

කාලය මෙහෙම ගතවෙද්දී අර වස දීපු පුද්ගලයා අසනීප වෙලා මරණාසන්න මොහොත උදා වුණා. දැන් මෙතනදී දැනගත යුතු තවත් වැදගත් කාරණයක් තියෙනවා. කෙනෙක් මරණයට පත්වෙලා ඔසුපත් නරකයට හෝ ඊට යටින් තියෙන අට මහා නිරයට යන්න පෙර, ඒ අයට **තමන් කරපු පාප කර්මයන් ගැන පසුතැවිලි වෙලා කමා කරගන්න අවස්ථාවකුත් තියෙනවා. හැබැයි ඒකෙන් කියන්නෙ නෑ පව් කරන අයට ඒ පව් ඵල නොදෙනවයි කියල.** පව් කරන අතර තුරේ කරපු යම් හොඳ වැඩක්, පිනක් තියෙනවනම් ආයති සංවරයේ පිහිටල ඒ ගැන සිහිකරල ගැලවෙන්න කුඩා හරි අවස්ථාවක් තියෙන උදවියට විතරයි එහෙම අවස්ථාවක් ලැබෙන්නෙත්. **ආනන්තරීය පාප කර්ම කරපු අයට එහෙම අවස්ථාවක්වත් නෑ.** අපි අහල තියෙන යම රජ්ජුරුවො, යම පල්ලො ඉන්න යම ලෝකයෙන් තමයි ඒ විනිශ්චය ලබා දෙන්නේ. අපි මේ කරන කියන සෑම දෙයක්ම සටහන් වන විශ්ව සම්මත පොත් ගුල් හතරක් ගැන මීට පෙර අභයරතනාලංකාරය ඔස්සේ විග්‍රහ කළා ඔබට මතක ඇති. අන්න ඒ පිං පොත කියන එක තමයි ඔය යම ලෝකයට ඇවිත් ඒ ඒ අය කරපු පිං පව් අනුව ඒව මතක් කරල දීල නියමිත ස්ථාන කරා මෙහෙය වන්නේ. ඒ යම ලෝකය ගැන විස්තරයක් පසුව ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා. දැන් පෙර සඳහන් කරපු සිද්ධිය එතැන් පටන් සිද්ධ වුනේ මෙහෙමයි.

අර මරණාසන්න පුද්ගලයාගේ මනෝමය කාය ශරීරයෙන් ගැලවිලා ගිහින් අර සත්පුරුෂයා ඉදිරියේ පෙනී සිටියා. හැබැයි ඒ තනියෙන්ම නෙවෙයි. යම පල්ලො දෙන්නෙක් ඔහුගේ කිහිලි දෙකට අත්දෙක දමාගෙන දෙපැත්තෙන් ඉඳගෙනයි එතනට එක්කගෙන ආවේ. එහෙම ඇවිත් අර සත්පුරුෂයා පෙන්වා මෙහෙම කිව්වා. ''උඹ මේ වගේ අපරාධයක් කරල තියෙන්නේ මේ වගේ ගුණ වඩපු උත්තමයෙකුට. හැබැයි අපි උඹට සමාව ගන්න අවස්ථාවක් දෙනවා. මේ ඉන්නේ ඒ උත්තමයා. උඹ කැමතිනම් සමාව ගන්න පුළුවන්.'' යම පල්ලන් දෙන්නා මෙහෙම කිව්වත් ඔහු කිසිම ගණනකට ගත්තෙ නෑ. නැවතත් ඒ ආකාරයෙන්ම තුන් වතාවක් සමාව ගන්න අවස්ථාව ලබාදුන්නා. තුන්වැනි වරත් සමාව ගනින් කියන කොටම ඒ පුද්ගලයා හිඃ හිඃ ගාල විරිත්තුවා. උඹ සමාව ගන්න කැමති නැත්නම් උඹට හිමි ස්ථානයට අපි උඹව රැගෙන යනවයි කියපු ඒ යම පල්ලන් දෙන්නා, අර පුද්ගලයා රැගෙන එක්තරා තැනකට ගියා. එතැන මහා විශාල යකඩ දොරක් තිබුණා. ඒ යකඩ දොරේ උස මහත පළල හිතාගන්නත් බෑ. සීමාවක් පේන්නෙ නැති තරම්. එතනදී ඒ දොර ඉබේම වගේ ඇරුනා. එය ඔහුගේ කර්ම බලය අනුව වෙච්ච දෙයක් වෙන්න පුළුවන්. උඹ සමාව ගන්න කැමති නැත්නම් මේ තමයි උඹට හිමි ස්ථානය කියා, අර පුද්ගලයා ඇතුළට තල්ලු කළා. ඒත් සමගම ඒ පුද්ගලයා පිච්චෙනවෝ... කියමින් මහා හඬින් විලාපයක් තිව්වා. ඒ පිච්චෙනවෝ කියන හඬේ දෝංකාරය විතරයි අන්තිමට ඇහුනේ. ඒත් සමගම අර දොර පියන් දෙක වැහුණා. **ඒ ඇසුණු මර හඬ සාමාන්‍ය මනුෂ්‍යයෙකුට ඇහුන නම් දරා සිටින්න බැරි තරම් භයානකයි. ඒ තරම් මහා විලාප හඬක්. ඒ වගේම එතැනින් නික්මුණු මහා ගිනි දැල් සාමාන්‍ය පුද්ගලයෙකුගේ මස් ලේ ඇහැක් අන්ධ කරන්න තරම් ප්‍රමාණවත්.** කොටින්ම කියනව නම් අපි අද යකඩ පාස්සන්න ගන්න ඔක්සි ඇසිටලීන් දැල්ල දිහාවත් කෙලින්ම බලන්න එපායි කියනවා. බැලුවොත් ඇස් අන්ධ වෙන්න පුළුවන්ලු. හැබැයි මේ කියන ගිනි අපායේ ගින්න ඊටත් වඩා වැඩියි. මේ ගින්නට වැටුන ඔහුගේ සිරුර සුළු මොහොතකින් ඒ ගින්න හා සමාන වූ නිසා ශරීරයක් ලෙස නොපෙනී එකම ගින්නක් බවට පත් වුණා. මේ අවීචි නිරය බවයි මේ සිද්ධියෙන් පෙනී ගියේ. එහි සිටින කිසිවෙක් ශරීර වශයෙන් වෙනම දකින්න බෑ. ඒ ගින්නට වැටෙනකොට නැගුන අවසාන හඬේ දෝංකාරය පමණක් ඇති බව මනසට ගෝචර වුනා. ඒක වැටහුනේ කෝටි ගණනක් පිරිසකගේ භයානක හඬක දෝංකාරයක් ලෙසයි. **මේ භයානක බවේ උපරිම ස්වභාවයයි.** නමුත් මේ සිද්ධිය සමාධියට දර්ශනය වුණු නිසා කන්වලටවත් ඇස්වලටවත් හානියක් වුනේ නෑ. ඒ විඳින දුක දැක්කම මේ මිහිපිට මිනිස්සු විඳින දුකත් දුකක්ද කියල හිතෙනවා. සාමාන්‍ය පුද්ගලයෙක් ඒ දර්ශනය දැක්ක නම් දරාගන්න බෑ. පපුව පැලිල මැරෙන්නත් පුළුවන්. නමුත් ගුණ වඩපු සත්පුරුෂයන්ගේ දිවැසට, සමාධියට හසුවෙනකොට එවැනි අයට ඒක දරාගන්න පුළුවන්.

මේ සිද්ධිය කෙටියෙන් විග්‍රහ කළේ අපේ පැරණි පොත්පත්වල සඳහන් වෙන ඔය කියන ගිනි අපායන්, යම ලෝකයන් ගැන කෙරෙන විස්තර මනඃකල්පිතයන් හෝ සුරංගනා කතාවන් නොවන බවත්, ඒවා සම්පූර්ණ සත්‍ය බවත් පෙන්වා දෙන්නයි.

දැන් ඊළඟට මේ කියන අට මහා නිරයට වටෙන් ඒ වගේම දුරින් පිහිටා තියෙන ඔසුපත් නරකය ගැන තවත් වැදගත් කරුණු ටිකක් දැනගනිමු. මේ ඔසුපත් නිරය අපායවල් 128 කින් සමන්විත වෙනවා. ඒවා හතර පැත්තටයි පිහිටල තියෙන්නේ. (136 ක් වෙන්නේ අටමහා නිරයත් එක්කයි) ඒ 128 ම විස්තර කරන්න අවශ්‍ය නෑ. පොදුවේ ඒවායේ තියෙන සාමාන්‍ය තත්ත්වයන් ගැනත්, ඉන් විශේෂ අපායවල් කිහිපයක් ගැනත් දැනගත්තම ඇති.

කලින් විග්‍රහ කරපු ගිනි අපායට ප්‍රතිවිරුද්ධ ස්වභාවයේ අපායක් ඔසුපත් නරකයේ තියෙනවා. ඒකට කියන්නේ **සීතල අපාය** කියල. ඇඟ සීතල වෙන විදිහේ වැඩ කරපු අය තමයි ඒකෙ ගිහින් උපදින්නේ. එනම් මිනිස්සු බොරුවට රවට්ටලා (සීතල ගණන් දාලා, චාටු බස් දමා) තමන්ගේ වැඩේ කරගෙන මග හරිනවා. උදාහරණ විදිහට යම් පිරිමියෙක් ස්ත්‍රියක් රවට්ටනවා. බොහොම ප්‍රිය මනාපයෙන් ලං වෙලා, පස්සෙ ගිනි දීල යන්න යනවා. එහෙම දුක් දීල ගියත් කියන්නේ, ''අනේ මට මෙහෙම කරදරයක් වුණා. එන්න විදිහක් නැතිව ගියා'' මේ වගේ කතා තමයි. එතකොට අර ස්ත්‍රිය බණින්නෙ නෑ. අනුකම්පා කරනවා. ''අනේ එහෙම දෙයක් වුනේ නැත්නම් එයා කොහොමටවත් දාල යන්නෙ නෑ ☞

තමයි, හරි වැඩේනෙ වුනේ. එයාගෙ අතපය කැඩිලලු. යන්න එන්න විදිහක් නැතිලු.'' අර ස්ත්‍රිය මෙහෙම කියනවා. නමුත් ඒ මිනිහ බොරුවක් කියල යන්න ගිහින්. ඒ පවුලේ අනිත් අයටත් ඒක දරාගන්න බෑ. ඔක්කොම සීතල කළා. ඒකට විපාකය විදිහට වෙව්ලන අතපය ඇතිව ඇටසැකිලි වෙලා සීතල අපායේ උපදින්න හේතු වෙනවා.

ඔය දක්ෂිණ ධ්‍රැවයේ එක්තරා කුහරයක් තියෙනවා. විද්‍යාඥයන් පිරිසක් පරීක්ෂණයක් කරන්න ඒ කුහරය ඇතුලින් ගිහින් තියෙනවා. පොළොව ඇතුලට තමයි ඒක තියෙන්නේ. හරියට උමගක් වගේ. ඒකෙ ඇතට යනකොට එලියක් දකල තියෙනවා. එතැන ඇටසැකිලි වෙව්ලනවා දකල බය වෙලා ඒ අය නැවතත් ඇවිත් තියෙනවා. එතකොට අපේ ධර්මයෙත් ඔය විදිහටම ඇටසැකිලි සහිතව වෙව්ලන නිරි සතුන් ඉන්න සීතල අපායක් ගැන සඳහන් වෙනවා. **අධික සීතලට නොමැරී කර්ම ශක්තියෙන් වෙව්ල වෙව්ලා ඉන්නවා. ඒක හරි වේදනාවක්. ගින්නෙ අනිත් පැත්ත. බලනකොට දෙකම එකයි. එක පැත්තක් ගින්නෙන් පිච්චෙනවා. අනිත් පැත්ත සීතලෙන් වෙව්ලනවා.**

ඊළඟට මේ ඔසුපත් නිරයේ **අසිපත් නරකය** කියල තවත් එකක් තියෙනවා. ඒවායේ තියෙන ගස්වල කොළ වැටුනත් කඩු වගේ කැපෙනවා. ඒ කොළ වැටුණු ගමන් කපාගෙන බහිනවා. ඒකයි අසිපත් නරකය කිව්වේ. මිනිස්සුන්ට පොදුවේ ගහල, කපල, කොටල විනාශ කරපු අය තමයි මේ අපායේ ගිහින් උපදින්නේ. මේකෙ තියෙන තණකොළ අස්සෙන් ගියොත් තණකොළ ඔක්කොම දැලිපිහි වගේ වෙනවා. ගිහින් ඉවර වෙනකොට ශරීරය කැපිල කැපිල ඉවරයි. නැවතත් අහකට යනකොට අර ශරීරය තිබිච්ච වගේම කර්ම ශක්තියෙන්ම හටගන්නවා.

ඊළඟට විශේෂයෙන්ම අද කාලයේ විග්‍රහ කර දිය යුතුම අපාය තමයි **පහාස අපාය.** ඒකත් ඔසුපත් නිරයේ කොටසක්. පහට ආසා කිරීම තමයි පහාස කියන්නේ. පහ තමයි පංච කාම ආස්වාදය. යම් කිසි සුව පහසුවක් බලා-පොරොත්තුවෙන් යහපතක් කියල හිතාගෙන මිනිස්සු නොයෙක් පව් කරගන්නවා. හැබැයි **සුව පහස ලබන්නේ ලෝකයා මුලාවට පත් කිරීමෙන්.** එහෙම කරලා ලෝක සත්ත්වයා රාගයෙන් රත් කරනවා, ද්වේශයෙන් දවනවා. ඒක මහා පාපයක්. මේක සිද්ධ කරන්නේ නැටුම්, ගැයුම්, වැයුම්, රඟපෑම්වලින්. මොකද රාගයට, ද්වේශයට හේතු තියෙන මනුෂ්‍යයන් ඉන්නවා. නමුත් ඒව මතුවෙලා නෑ. එතකොට මේ කියන ආකාරයෙන් බොරුවෙනුත් ඇත්තෙනුත්, ඇත්ත බොරු දෙක මිශ්‍ර කරලා ලෝකයා රාගයට, ද්වේශයට, මුලාවට ඇද දමනවා. මේක ශ්‍රවණයෙන් හා දර්ශනයෙන් කරන වැඩක්. මොකද ඒ අය හිතන් ඉන්නේ මිනිස්සු නැටුම්, ගැයුම්, වැයුම්, රඟපෑම්වලින් මත් කළාම ඒකෙන් හිත සංතෝස වෙලා ඇඟේ ලේ පිරිසිදු වෙනවයි කියල. බැලූ බැල්මට පිටින් පේන්නෙ නම් එහෙම එකක් තමයි. මොකද ඒව අහල බලල, මිනිස්සුත් උඩ පනිනවා, දඟලනවා, අත්පුඩි ගහනවා. ඉතින් බලන් ඉන්න කෙනෙකුට පේන්නේ ඒ අය බොහොම සන්තෝසෙන් දුකක් නැතිව ඉන්න නිසා ඒකෙන් ලොකු වැඩක් (පිනක්) වෙනව කියල.

ඒ වගේම මනුස්සයාගේ රාග, ද්වේශ, මෝහ අවුස්සන ආකාරයේ නව කතා, කෙටි කතා ආදියත් ලියා රසාස්වාදය පිණිස යැයි කියමින් ජනතාවට ඉදිරිපත් කිරීමත් මේ වගේ දෙයක්.

නමුත් බලාගෙන යද්දී ඒ ආස්වාදය ලබා දීල තියෙන්නෙ මොකෙන්ද? එක්කෝ කැඩිච්ච පෙම් පලහිලව්වක්, අනියම් සම්බන්ධයක්, කාම ආස්වාදයක්, සාප කිරීමක්, එහෙමත් නැත්නම් මොකක් හරි අතීතයේ විඳපු පංච කාම ආස්වාදයක් වගේ දෙයක් මුල් කරගෙන ඒවායේ නරක පැත්ත ඉස්මතු කරල රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් මුලාවට පත්කරල තමයි ඒ නැටුම, ගැයුම, වැයුම හෝ රඟපෑම ඉදිරිපත් කරන්නේ. නමුත් අන්තිමට මොකද වෙන්නේ? මුලාවට පත්වෙලා ලෝක සත්ත්වයා විනාශයට පත් වෙනවා, සතර අපා ගත වෙනවා. කරන්නෙ පහසක් බලාගෙන තමයි. අන්තිමට පහට ආසා කරපු නිසා උප්පත්තිය බලනකොට පහාස අපායේ. මොකද ඒ අය හිතන්නේ පහස බොහොම වැදගත් දෙයක් කියල. ඒකට ප්‍රිය කරනවා. විවිධාකාරයේ පහසවල් විවිධාකාරයෙන් හොයමින් ඒකටම හරියන නොයෙක් මාදිලියේ නැටුම්, ගැයුම්, වැයුම් පස්සෙන් යනවා. ඒවා නිෂ්පාදනය කරල දෙන්නත් පිරිස් ඉන්නවා. නමුත් මෙතනදී සිද්ධ වෙන්නේ ඇලීමටයි, ගැටීමටයි, මුලාවටයි පත් වෙන එක.

මේ විදිහට කරපුවාම ඒ අයට මායා ලෝකයක් මැවෙනවා. ඒ මායා ලෝකය ඒ අයට පේන්නේ සුන්දර ලෝකයක් වගේ. **පහාස අපාය හැදිල තියෙන්නෙත් ඒ වගේ මායාවෙන් රැවටෙන විදිහට.** ඒ අපායේ සමහර තැන් තියෙනවා පිච්ච මල් පිපිල වගේ පිච්ච මල් යහන්. නමුත් අල්ලල බැලුවම තනිකරම ගිනිවලින් තමයි ඒ මල් හැදිල තියෙන්නේ. ලස්සනයි කියල බදාගත්තොත් පිච්චෙනවා. ඒ වගේම ඒ ලෝකයේ හැදිල තියෙන සංගීත භාණ්ඩත් මේ ලෝකෙ වගේ මැවිල එනවා. හැබැයි ඒවා කර්ම ශක්තියෙන්ම ගිනියම් වෙලා. ගත්ත ගමන්ම දැවෙනවා. මේ නිසා **ගිනි ගත් පොළොවේ ගිනි ගත් තත් ඇතිව, ගිනි ගත් ඇඳුම් ඇතිව, දුක් ගී ගයමින් වයමින්, පිච්චි පිච්චී ඉන්න තැනක් විදිහට** තමයි මේ පහාස අපාය ධර්මයේ විග්‍රහ කරල තියෙන්නේ. (සං:නි:(4) 558 පිටුවේ එන <u>තාලපුට සූත්‍රය</u>) ඒ වගේම යන එන පාරවල් තියෙනවා. ඒවා බොහොම ලස්සනට තමයි පේන්නේ. හැබැයි තනිකරම කාන්තාර. මස් ලේ සහිත පයින් කාන්තාරයේ ගියොත් දාහයට පත් වෙනවා වගේ මෙතැනත් දැවෙනවා. ඒ වගේම සිසිල පේනවා. හැබැයි මිරිඟුව පසුපස යන මුවන් වගේ රැවටෙනවා විතරයි. ඊළඟට දැවෙන්න පටන් ගන්නවා. මොකද මනුස්ස ලෝකෙදී මිනිස්සු මුලා කළ එකේ විපාකය. **පළඟැටියන් පහන් එළියට පැන දැවී පිච්චෙනව වගේ නිතරම ඔවුන් දැවෙනව පිච්චෙනවා. කර්ම ශක්තියෙන් කය නැවතත් ප්‍රකෘති තත්ත්වයට එන නිසා විපාකය ගෙවෙන කල් මැරෙන්නෙ නෑ.**

**හැම වෙලේම සංගීත සංදර්ශන තියෙන සුන්දර ලෝකයක් වගේ තමයි මේ අපාය පේන්නේ. නමුත් පිච්චෙන ගින්නෙන් තමයි ඒ ඔක්කොම හැදිල තියෙන්නේ.** ඉඳගන්න ආසනත් එහෙමයි. ඉඳගත්ත හැටියේ දැවි දැවී දුවනවා. දුක් වෙනවා. තවෙකෙකුගේ හඬ ඇහිල රැවටෙනවා. කවුරු හරි ගායනා කරනව පේනවා. එතැනට ගිහින් ඇල්ලුවොත් පිච්චෙනවා. ඉතින් පැනල දුවනවා. හැම වෙලේම ගිනිගත්ත ඒව තමයි අහුවෙන්නේ. නමුත් පිටින් බැලුවම එහෙම එකක් පේන්නෙ නෑ. මොකද දෙව් ලොව වගේ සුන්දර ලෝකයක් තමයි පිටින් පේන්නේ. නමුත් මායාවක්. උදාහරණ විදිහට මල් වෙඩිල්ලක් ගත්තොත් ඒක බලන් ඉන්නකොට හරිම ලස්සනයි. ලස්සන පිච්ච මල් වගේ විවිධාකාර මල් වැහි වැටෙනවා. ඈත ඉඳන් බලන් ඉන්නකොට හරිම ලස්සනයි. නමුත් තනිකරම ගිනි. ඇල්ලුවොත් පිච්චෙනවා. අනුන් රවට්ටපු හැටියට දැන් තමනුත් රැවටෙනවා. මනුස්ස ලෝකෙදී කාට හරි කාමුක විදිහට සංගීතෙට නටන්න, ගයන්න, රඟපාන්න අඬගැහුව වගේ ඒ ලෝකයෙත් අඬගහනවා. ඒත් ගිහින් බැලුවම ගිනි.

ඒ වගේම සිංදු කියන්න, නටන්න, රඟපාන්න මේ ලෝකයේ වගේ ලස්සන ඇඳුම් තියෙනවා. නමුත් බැලුවම ගිනි ගොඩක්. ඇඳගත්තම ඇඟත් එක්ක ගිනි ගන්නවා. ඉතින් මරහඬ දීල දුවනවා. රැවටිලා. මනුස්ස ලෝකයේදී කාමය පිළිබඳ මුලාවෙන් කරන මේ වගේ දේවල් සම්මාචාර නෙවෙයි. **විශේෂයෙන් නිර්මල දහම තියෙන කාලයක නම් මේ වගේ දේවල්වලින් ඔය පහාස අපායට යන උදවිය වැඩියි. මොකද දහමට නැඹුරු වෙන්න ඉන්න පිංවත් පිරිස් ඔය ප්‍රශ්නය උඩ ඒකෙන් ඈත් කරනවා.** ඒ නිසා මේ කාලයේදී ඒ අය පහාස අපායට යනවා වැඩියි. මොකද දහම මතුවෙන කාලෙට ඒක ලොකු බාධකයක්. ඒ වගේ ☞

කාමය අවුස්සන සිංදු කියලා, වයලා, නටලා, රඟපාලා මිනිස්සුන්ගේ කරපිටින් ගියපු අපේ ඇතැම් උදවිය මරණින් පසු පහාස අපායේ දුක් විඳින දසුන් වහරක අභයරතනාලංකාර හිමියන් සමාධියෙන් දක ඇතත්, සුදුසු නැති නිසා මේ අවස්ථාවේදී නම් ගම් හෙළිකිරීමක් කරන්නෙ නෑ. නමුත් තාමත් අපේ සමහර අය, ඒ අය රජවරුන් විදිහටයි සලකන්නේ. හැබැයි ඒ අය තාමත් එහේ දුක් විඳිනවා.

දැන් ඉන්න අයගේ දැනගැනීම පිණිස මෙහි භයානකත්වය පෙන්වා දීම සඳහා තමයි ඒ කාරණය මේ විදිහට සඳහන් කළේ. මොකද මේ කියන කාමුකත්වය මුල් කරගෙන කරන නැටුම්, ගැයුම්, වැයුම්, රඟපෑම් අද කොච්චර නම් තියෙනවද කියනව නම්, අනිත් ඔක්කොම පැත්තක තියල ඒවායින්ම සුපිරි තරු බවට පත්වෙන්න තමයි බොහෝ අය දඟලන්නේ. අන්තිමට මෙහේ අවුරුදු 15 කට 20 කට සුපිරි තරුවක් වෙලා, මළාට පස්සෙ එහේ ගිහින් අවුරුදු කෝටි ප්‍රකෝටි ගණන් දුක් විඳිනවා. කොයි කාලෙ ගෙවෙයිද කියන්න බෑ. කර්ම ශක්තිය ඉවර වෙනකල්ම විඳවනවා.

මෙහිදී දැනගත යුතු තවත් වැදගත් කාරණයක් තියෙනවා. එනම් **හැම නැටුමකින්ම, හැම ගායනයකින්ම, හැම වාදනයකින්ම, හැම රඟපෑමකින්ම මේ කියන පහාස අපායට යන්නෙ නෑ. මොකද කාමුක නොවන, මනුස්සයාගේ සිත තාවකාලිකව හෝ යහපත් දෙයකින් සාන්ත භාවයට, තැන්පත් භාවයට පත් කරවන, ඒ වගේම සමාජයට යම් කිසි වැදගත් පණිවුඩයක් ලබා දෙන ආකාරයෙන් නිර්මාණය කරපු නැටුම්, ගැයුම්, වැයුම් වගේම නාට්‍ය, චිත්‍රපටි ආදියත් තියෙනවා.** නම් සඳහන් කිරීම අනවශ්‍ය වුවත් විශේෂයෙන් වීත රාගී, වීත දෝෂී, වීත මෝහී බුදු ගුණ ගායනා කරල, ඒ වගේම සමාජයේ යහ පැවැත්මට හේතුවන ආකාරයේ එවැනි නිර්මාණයන් කර ඉදිරිපත් කරල ඒ හේතුවෙන් සුගතිගාමී වෙච්ච පිංවත් අයත් අභයරතනාලංකාර හිමියන්ගේ සමාධියට හසුවී තියෙනවා. හැබැයි ඒ ඉතා කලාතුරකින්. මොකද වැඩි හරියක් කරන්නේ ලෝභ, ද්වේශ, මෝහ අවුස්සන ආකාරයේ නිර්මාණයන්.

ඒ වගේම අපේ උඩරට, පහතරට, සබරගමු... ආදී දේශීය නැටුම් කලාවන් ගත්තොත් ඒවායේ තියෙන්නේ යම්කිසි යහපත් ක්‍රමයක් තුළින් මනුස්සයාගේ හිත යහපත් පැත්තට හරවල සන්සුන් කරවන දර්ශන තමයි. ඒවායේදී අත් පා මුහුණු ආදිය හොල්ලන ආකාරයෙන් කිසිම කාමුක බවක් ඉස්මතු වෙන්නෙ නෑ. විශේෂයෙන් අපේ දළඳා පෙරහැර වගේ පෙරහැරවල්වලදී ඒ නටන නැටුම්වලින් හෝ වාදනය කරන හේවිසි, බෙර, නලා... ආදී නාද රටා මගින් මනසට කිසිම රාගික බවක් හෝ ද්වේශ සහගත බවක් එන්නෙ නෑ. ඒවායේ කාමුකත්වයක් නෑ. නමුත් බලන් ඉන්නත් හරිම ප්‍රියයි. ඒ අත්දැකීම හැමෝටම ඇති. ඇත්ත වශයෙන්ම ඒවා මනුස්සයාගේ යම් යම් දොස් පහ කිරීමටත් ඉවහල් වෙනවා. මේ නිසා තමයි බලි තොවිල් ආදියෙන් කෙරෙන ශාන්තිකර්මවලින් ලෙඩ රෝග සුවපත් කිරීමේ ක්‍රමවේදයක් එදා පටන් අද දක්වාම පැවතෙන්නේ. මේ වගේ නැටුමකදී නැට්ටුවා මිසක් බලාගෙන ඉන්න අය නටන්නෙ නෑ. උඩරට නැටුමක් නටනකොට බලාගෙන ඉන්න උදවිය සද්ධ නැතිව බලාගෙන ඉන්නවා මිසක් අත්පුඩි ගහන්න, නටන්න යන්නෙ නෑ.

නමුත් අද බටහිර පන්නයට කරන නැටුම්, ගැයුම්, වැයුම්වලදී එහෙම නෙවෙයි. ඒ අය සිංදු කියන කොට, වාදනය කරන කොට, නටන කොට බලන් ඉන්න අය රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් මත් වෙනවා. ඒ අයටත් නැටවෙනවා, දඟලෙනවා, උඩ පැනෙනවා. හරියට සර්පයො වගේ. හැබැයි ඒ නටන්නෙ, දඟලන්නෙ යථාර්ථයට අනුව නෙවෙයි, රාගයෙන්, මෝහයෙන් මත් වෙලා. දැන් තියෙන ටෙලි නාට්‍ය, චිත්‍රපට ගත්තත් බොහොමයක් එහෙමයි. කාමුක බව ඉස්මතු කරන්න නිර්මාණය කරපුවා. නමුත් අපේ දේශීය නැටුම් කලාවේ තියෙනවා හේවිසි බෙර දවුල් ආදිය වැයීම්. ඒවා හොඳට සන්සුන්ව අහගෙන ඉන්නවා මිසක් ඒවායින් කාමයෙන් මත් කිරීමක් සිද්ධ කරන්නෙ නෑ. ඉතින් මේ දෙකේ පැහැදිලි වෙනසක් බලාගන්න පුළුවන්. මේ නිසා **නැටුම්, ගැයුම්, වැයුම්වලත් දෙපැත්තක් තියෙනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ පහම ගත්තත් මේවායේ පැහැදිලිවම දෙපැත්තක් තියෙනවා.**

උදාහරණ විදිහට සුවඳ හඳුන්කූරු ගත්තොත් ඒවායින් මත් වෙන්නෙ නෑ. කාමය ඇවිස්සෙන්නෙ නෑ. හැබැයි ඇඟ ගල්වන සමහර සුවඳ විලවුන් ගත්තොත් ඒවා කාමුක හැඟීම් ඇවිස්සෙන විදිහටයි නිෂ්පාදනය කරල තියෙන්නේ. මේ දෙකම සුවඳ තමයි. නමුත් වර්ග දෙකක්. රසයත් ඒ වගේ. විවිධ රස තියෙනවා. ප්‍රණීත රස ගත්තත් දෙපැත්තක් තියෙනවා. චොක්ලට් වගේ රසයක් ගත්තොත් වැඩිපුරම තරුණ තරුණියන් තමයි ඒ රසයට කැමති. එතකොට මීපැණි ගත්තොත් ඒක ඊටත් වඩා රසයි. හැබැයි අර වගේ මත් කරන්නෙ නෑ. ස්පර්ශයෙත් දෙපැත්තක් තියෙනවා. අම්මා තාත්තා පොඩි දරුවෙකුගේ ඔළුව අතගානවා, ඉඹිනවා, වඩාගන්නවා. එතැන දරුවට ඇතිවෙන්නෙ සුරතලයක්, ආදරයක්, මව්පිය සෙනෙහසක්. නමුත් තරුණයෙක් තරුණියක් අර වගේ කළොත් ඇතිවෙන්නේ වෙන දෙයක්. මේ අවස්ථා දෙකේදීම එකම වගේ පෙනුනට ක්‍රම දෙකක්. නැටුම්, ගැයුම්, වැයුම්වලත්, කවිවලත් මේ වගේ ක්‍රම දෙකක් තියෙනවා. එක ක්‍රමයක් යහපත් පැත්තට, අනික අයහපත් පැත්තට.

මේ නිසා මේ වගේ දේවල්වල සත්‍ය යථාර්ථය දකින්නේ නැතිව කරන්න යන එක හරි භයානකයි. පහාස අපායේ ගිහින් අනන්ත දුක් විඳිනකොට ඕව කියල දෙන්න කවුරුවත් නෑ. විශේෂයෙන් ධර්මයේ සඳහන් වෙනවා මනුෂ්‍යයාගේ සිත දුෂ්ධ්‍යානුගතියට ඇද දමන මෙවැනි ආකාරයේ නිර්මාණ ධර්මයට යොදා ගත්තොත් ඒක සාසන අන්තර්ධානයටත් හේතු වෙනවා කියල. ඒකෙන් හරවත් ධර්මය වටහාගන්න හේතු නැති වෙනවා. සුංගාර රසය විතරයි එන්නේ. ඒකෙන් මත් වෙනවා. සුංගාර රසය කියන එක අවශ්‍යයි. නමුත් එක්තරා මට්ටමකට විතරයි. හරියට තිත්ත බෙහෙත් පෙත්තක් ගිලින්න පහසුවට අවශ්‍ය ප්‍රමාණයට පමණක් පැණි රස දවටල දෙනව වගේ.

මේ නිසා මේ කාරණාවන් හොඳින් වටහාගෙන **මනුෂ්‍යයා කාමයට ඇද දමන නැටුම්, ගැයුම්, වැයුම්, රඟපෑම්වලින් ඈත්වීම තමන්ටත් අනුන්ටත් කරන යහපතක්. ඒ වගේම මනුෂ්‍යයාගේ සිත නිවී සැනසීමට පත්කරවන ආකාරයේ, සමාජයට යහපත් පැත්තක් පෙන්වා දෙන ආකාරයේ නැටුම්, ගැයුම්, වැයුම්... ආදී නිර්මාණ තියෙනවා.** ඒවා නිවන් දකින්න ඍජුවම හේතු නොවුනත් (නමුත් උපනිශ්‍රය වෙන්න පුළුවන්), මනුෂ්‍යයා යහපත් සුගතිගාමී පැත්තට ඇද දමන්න හේතු වෙනවා. මොකද මිනිසුන් කාමයෙන් බොහෝ කොටම මත් කරවන ලෝකයක, එවැනි යහපත් ආකාරයේ නිර්මාණයන් මගින් ලෝකයට මොකක් හෝ යහපතක් වෙන නිසයි. ඒක සුගතිගාමී පැත්තක්.

ඒ වගේම මෙහිදී දැනගත යුතු අනිත් කාරණය තමයි මේ විග්‍රහ කරපු දුගතිවලට හේතුවන පාපකාරී දේවල්වලින් අනිවාර්යයෙන්ම ඊට අදාල අපායේ උප්පත්තිය ලබනවා යන්න සිදු නොවුනොත්, උපනුපන් සුදුසු තැන්වලදී ප්‍රවෘත්ති විපාක වශයෙන් ඒවා විපාක ලබා දෙනවා. එනම් අපායේ පටිසන්ධියට නොගියොත් සුදුසු තැන්වල උපන් කල්හි ප්‍රවෘත්ති විපාක ලබාදෙනවා. මොකද ඔය කියන දේවල් උපාදාන කරගත්තොත් තමයි ඊට අදාල අපායේ උපදින්න හේතු වෙන්නේ. ආයති සංවරයේ පිහිටා යහපත් දේවල් කිරීමෙන් යම් කර්ම විපාක ප්‍රමාණයක් ගෙවාගන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පංච උපාදනස්කන්ධය නිසා ඇතිවන ගින්න

වර්ණයෙන් ගිනි අඟුරු ලස්සනයි. දීප්තිමත් රතු පාට. ගිනි අඟුරු මත ඇවිදගෙන යන්න සමහර අයට පුළුවන්. ඒ ඇයි? ගිනි අඟුරු කියන්නෙ දැවෙන දෙයක්ම තමයි. මුල් පියවරේදී දැවෙන ගතිය දැනුනත් ඒක අමතක කරල, ඉවස ඉවසා දෙවන පියවරත් තියනවා. දැන් යටි පතුල මුලින්ම ගින්දර හා ස්පර්ශ වෙද්දීට වඩා ගින්නට පදම් වෙලා. මේ විදියට ටිකෙන් ටික යටි පතුල දැවීම ඉවසා සිටීමේ හැකියාව වැඩි දියුණු වීම නිසා ගිනි අඟුරු මත ඇවිදගෙන යනවා. නමුත් ගිනි අඟුරු කියන්නෙ දැවෙන්නෙ නැති දෙයක් නෙවෙයි. ගිනි අඟුරුවල ස්වභාවය දැවෙන එකම තමයි.

මෙන්න මේ වගේ ආස්වාද විඳින සත්වයා පස්කම් සැප ආස්වාද මාත්‍රය වටිනා ලෙස බදගෙන, ඒ බදගැනීම සමග බැඳී එන ආස්වාදය පසුපස ඇති ආදීනවයන්ට ඔරොත්තු දෙන්න හිත හදගන්නවා. මේ හිත හදගැනීම නිසා ආස්වාදයන්ගේ ඇති ගිනි අඟුරු වැනි දවන තවන ගතිය ස්වල්ප බවත්, ආස්වාදය ඊට වඩා වටිනා බවත් හිතමින්, අනන්ත සසරේ පටන් මනස හුරු කරගෙන සිටිනවා.

**ලෝකය ආරම්භයේ දී ආකාසචාරීව සිටි, පස්කම් රසයට ගිජු නොවූ පිරිසට ප්‍රයෝජනයට තිබූ ස්වයංජාත වූ කිරි යොදයක් වැනි මිහිරි ප්‍රිය ආහාරය, රස කාමයට ගිජු වීමේ පටන් ක්‍රමයෙන් රළු වෙමින් භූමි පටක, බදා ලතා... ආදී ලෙස වෙනස් වෙමින් ගොස් ස්වයංජාත හැල් ඇතිවුනා.** පස්කම් රසයට ගිජු වූ පිරිස විසින් ස්ත්‍රියගේ ඉල්ලීම පරිදි ඒ ස්වයංජාත හැල් වැඩිපුර ගැබ්කර ගැනීම හේතුවෙනුයි ඇයට ගැබක් පහළ වුණේ. තමන්ගේ ජීවිතය පවත්වාගෙන යන්න තව කෙනෙකුගේ පිළිසරණක් එද අවශ්‍ය නොවුන නිසා, ස්වයංජාත හැල් තිබුණ නිසා, ඒ ගැබ සතුටින් පිළිගත්තෙ නෑ. නමුත් තමන් අතින් සිදු වූ අසාධාරණය හේතුවෙන් ඒක ඉවසන්න සිදු වුනා. මීට අවුරුදු පනහකට හැටකට වගේ ඈත අතීතයෙත්, දරුවන් දහ දොලොස්දෙනා එක මවුපිය දෙපලකට හිටියා. ඒත් ඔවුන් යුතුකම්-වගකීම් දෙපිරිසේම ඉටු කළා මිසක් බැඳිල හිටියෙ නෑ. (බොහෝ විට එහෙමයි. එහෙම නොවුන අවස්ථාත් තියෙන්න පුළුවන්) නමුත් ආස්වාදයට ගිජුවීම නිසාත්, ආදීනවය අමතක කිරීම නිසාත්, අද වෙන කොට දරුවෙක් නොලැබීම සම්පත්තියක් අහිමි වීමක් ලෙසයි සලකන්නේ. දරුවන් ලැබීම පාපයක්, වරදක් හෝ නොකළ යුත්තක් කියල මෙයින් අදහස් කරන්නෙ නෑ. බුද්ධත්වය ලැබුවෙත් මිනිසත්ව ඉපදුන දරුවෙක්. අපි නිවන් දකින්නෙත් මිනිස් දරුවෙක්ව ඉපදුන කුසලයෙන්. මිනිස්ව උපදින්නේ ඒකාන්තයෙන්ම පුණ්‍ය විපාකයක් වශයෙන්. ඒනිසා එවැනි පුණ්‍යවන්තයන් මේ ලෝකයට එන්න නම් දරුවන් හදන වඩන පිරිසක් සිටිය යුතුයි.



**නමුත් සමහර දෙමාපියන්, දරුවන් නිසා යැයි කියමින් තම මනුෂ්‍ය බවින් ගත යුතු ප්‍රයෝජනය සම්පූර්ණයෙන් අමතක කරල, ආස්වාදයන්ට, තරඟකාරී කාම ලෝකයට දරුවන්ද පොළඹවමින්, ආස්වාදය මුල්කරගෙන ජීවත් වීම ගිනි අඟුරු මත ඇවිදිනවා වගෙයි.** පණ්ඩිතයන් පා නොතබන තැන්වල මෝඩයෝ පිණුම් ගහනවයි කියල අපේ පැරණි කියමනකුත් තියෙනවා. චතුරාර්‍ය සත්‍යය නොදන්න නිසයි මෝඩ කියන්නේ. පණ්ඩිත කියන්නේ ලෝකායත ශාස්ත්‍ර දැන උගත් කමටම නෙවෙයි. මෙතනදී චතුරාර්‍ය සත්‍යය දන්නා දක්නා බවටයි පණ්ඩිත කියන්නේ. දරුවන් ලොකු මහත් වෙලා අළුත් ජීවිත ආරම්භ කරනවා. **දෙමාපියන් වැහැරීමට පත්වෙමින් සසර දුක දැනෙන කොට, දහම් අවබෝධයක් ලැබීමට හැකියාව තිබූ කායික, මානසික ශක්තීන් පිරිහිලා අවසානයි. ඉහලින් සලකගෙන රැස් කළ භෞතික සියලු සම්පත්ද, දරුවන්ද, උසස් යැයි සමාජමය වශයෙන් සම්මත කරගෙන රැස් කළ, ගොඩනගාගත් සමාජමය තත්ත්ව තානාන්තර ද හැර දමා හුදෙකලාවම සොහොනට යනවා.** යන්නෙ ලොකු පිරිසක් එක්ක වුනත්, ඒ කවුරුවත් තනියට නතර වෙන්නෙ නෑ. අවසන් මොහොත වෙන තුරුම තමා හා යන්න එන කිසිවෙක් හෝ ගෙන යා හැකි වස්තුවක් හෝ නොමැති බව වැටහෙන්නෙ නෑ. ආදීනවයන්ට ඔරොත්තු දෙන්න හිත හද ගැනීමේ අවසාන ඵලය ඒකයි. ඇස් තිබුණට අන්ධයෙක් වගේ, කන තිබුණට බිහිරෙක් වගේ ඉන්න කියා දෙන භාවනාවකුත් අද කාලෙ තියෙනවා. ඒක අමුතුවෙන් භාවනා කරන්න දෙයක් නෙවෙයි. ආස්වාදයන් මුල් කරගෙන ජීවත්වන සියලු දෙනා ආස්වාද මායාව බැලුවට, ආදීනව විමසා නොබලන නිසා ඇස් තිබුණට අන්ධයින් වගේ, කන් තිබුණට සද්ධර්මය නොඅසන නිසා බිහිරන් වගේ තමයි ජීවත් වෙන්නෙ.

අපි විඳින සැප මධුර ස්වභාවය ආස්වාද යැයි සම්මත කරගත්තට ඇත්තටම ඒවා සැප මධුරද? විමසා බලමු. කිරිබත් කන්න කවුරුත් කැමතියි. හොඳට ලුණු, මිරිස්, දෙහි ඇඹුල් එකතු කරපු ලුණු මිරිසක් එක්ක කිරිබත් කෑම ප්‍රියයි. ඉස්සෙල්ලාම ලුණු මිරිසක් හදන්න අම්ම අපිට කියපු දවසෙ, ලුණු මිරිස හදල ඉවර වුන ගමන් ඇඟිලි දහයටම හිමින් පිඹිනවා. ඒත් අතේ දැවිල්ල ගියේ නැත්නම්, සීතල වතුර එකක අත් දෙක ඔබාගෙන ඉන්නවා. නැත්නම් හාල් මුට්ටියේ අත් දෙක ඔබාගෙන ඉන්නවා. ඇයි? ලුණු මිරිස් තැවරිච්ච අත් ඒ තරම් දැවිල්ලයි. ඒ වුනාට කිරිබත් කනකොට ලුණු මිරිස් හරි රසයි. මිරිස් ටිකක් මදි වුනොත් ලුණු මිරිස සැර මදි කියලත් කියනවා. මිරිස්වල ඇත්ත ස්වභාවය නම් තැවරුනොත් දැවිල්ල ගතියයි. ඒ නිසයි ලුණු මිරිස හදනකොට අත් දැවිල්ල ආවෙ. මුල්ම දවසෙ අත් දැවිල්ල ආවට ටිකෙන් ටික ගිනි අඟුරු මත ඇවිදිනවා වගේ ☞

අත දැවිල්ලට හුරු වෙනවා. දිව දැවිල්ලට හුරුවෙනවා. දැවිල්ල ආස්වාදයක් හැටියට සලකනවා. නමුත් මිරිස්වල ඇත්ත ස්වභාවය දැවිල්ලමයි, කටුකයි, අමිහිරියි. අමිහිරි දෙයක් මිහිරියි කියල අපේ මනස අපිව රැවැට්ටුවා.

ආහාර ප්‍රත්‍යවේක්ෂා වාක්‍යයේ (පටිසංඛා යෝනිසෝ පිණ්ඩපාතං පටිසේවාමි...) සඳහන් වෙන පරිදි ජීවිතය පවත්වාගෙන යාම පිණිස ආහාර ගැනීමයි කළ යුත්තේ. නමුත් ආහාර අවශ්‍යතාවය අමතක කර රසයට ගිජු වෙන්න යාමෙන් කර ගන්නෙ මහා විපතක්. **කුස ගිනි කියන්නේ කුසේ ඇතිවන ගින්න කියන එකයි. ගිනි නිවීමට ආහාර ගැනීම මතක් වෙන්නේ ගිනි දැනෙන විටයි. නිතර නිතර ආහාර ගැනීම කරදරයක්. ඒ කරදරය අමතක කරන්න ආහාරයට රස එකතු වෙලා තියෙනවා, රසය මුල්කරගෙන ආහාර ගන්න පුරුදු වෙලා. රස විඳීම සඳහා ගන්නා සියලු ආහාරවල ලුණු මිරිස්වල ඇති ආදීනවය වැනි දවන තවන ස්වභාවය තියෙනවා. රස ආස්වාද මායාවෙන් ඒවා වැහිලයි තියෙන්නෙ.** ස්වභාවික ආහාරවල, මූලිකව කයට අවශ්‍ය රස ධාතු සම්පූර්ණ වෙලා තිබුණා. ඒවා ස්වභාවයෙන්ම ප්‍රියයි, මධුරයි. මිනිසා දූෂ්‍ය වෙනකොට ප්‍රයෝග විපත්තිය මුල් වෙලා ගති දූෂ්‍ය වෙනවා. එතකොට ගති විපත්තිය හටගන්නවා. ඒකෙන් මිනිස් මනසේ බලපෑම විශ්වයටත් බලපානවා. එයින් කාලගුණ විපර්යාස වෙනවා. කලට වැහි නැති වෙනවා. අකලට වහිනවා. ගොවිතැන් නිසරු වෙනවා. පොළොව නිසරු වෙනවා. කාල විපත්තිය නිසා ස්වභාවික ආහාරයේ ප්‍රිය මධුර බව නැති වෙනවා. මේ නිසා කෘතීම රසකාරකවල ආස්වාද හොයන්න පටන් ගන්නවා. කාලයක් ගතවෙන කොට දියවැඩියාව, කොලෙස්ටරෝල්, ගැස්ට්‍රයිටීස්... ආදී විවිධ ආබාධ හැටියට මේ ආදීනව මතුවන තුරු තව තවත් රසකාරකවල ආස්වාදයම හොය හොයා පරිහරණය කරනවා. සමහර දෙනා කොතෙක් ආබාධ මතු වුනත්, රස ආස්වාදය අතහරින්න කැමති නෑ. කාල මැරුණොත් කාල මරණය, නොකා මැරුණොත් අකාල මරණය... ආදී කතා කිය කියා හිත සනස ගන්නවා.

අපි ආස්වාද විඳින්නේ මොනවායින්ද? ඇසෙන් රූප ජාති, කනෙන් ශබ්ද ජාති, නාසයෙන් ගන්ධ ජාති, දිවෙන් රස ජාති, කයෙන් ස්පර්ශ ජාති, මනෙන් (සිතෙන්) ධර්ම ජාති (සිතිවිලි)... ආදී ලෙස විවිධාකාරයෙන් රස විඳිනවා. බුදුපියාණන් වහන්සේ මජ්ඣිඃ (1) 397 පිටුවේ එන <u>අරිය පරියේසන සූත්‍රයේ</u> ජාති ධර්ම විස්තර කර තියෙනවා. පුත්‍ර දාරාවෝ ජාති ධර්මයෝයි, දැසි දස්හු ජාති ධර්මයෝයි, එළු බැටළුවෝ ජාති ධර්මයෝයි, කුකුලන් හා ඌරෝ ජාති ධර්මයෝයි, ඇත්, ගව, අස්, වෙළඹුහු ජාති ධර්මයෝයි, රන් රිදී ජාති ධර්මයෝයි. මහණෙනි, මේ පංචකාම ගුණ උපධීහු ජාති ධර්මයෝයි.... යනුවෙන් මුලින් උදාහරණ කීපයක් පෙන්වා, පංචකාම ගුණ උපධීහු ජාති ධර්ම බව පැහැදිලි කරල තියෙනවා.

පංචකාම මොනවද? ඇස ප්‍රිය මනාප රූපවලට කැමතියි. කන ප්‍රිය මනාප ශබ්ද අහන්න කැමතියි. නාසය ප්‍රිය මනාප ගන්ධ ආඝ්‍රාණයට කැමතියි. දිව ප්‍රිය මනාප රසයන්ට කැමතියි. ශරීරය ප්‍රිය මනාප රළු, මෘදු ස්පර්ශයන්ට කැමතියි. කැමතියි කියන්නේ කාම+ඇති කියන එකයි. කා කියන්නේ ක්ෂය වන, ගෙවී වැනසී යන ස්වභාවයයි. (කා), අමෘතය හෙවත් නොමැරෙන බවයි (අම) කියන්නේ. කා+අම=කාම. අමෘතය හෙවත් නොමැරීම ගෙවී වැනසී යන ස්වභාවය, කැමති යන්නෙහි අදහස වෙනවා. එහෙම නම් පංචකාම කියන්නේ ඇස, කන, නාසය, දිව, කය කියන පහට අරමුණු වන දේ කෙරෙහි ඇති කැමැත්ත නම්, අමෘතය හෙවත් නොමැරීම ගෙවී වැනසී යන කරුණු පහකට කැමති වීමයි. **පෙර හිටපු මනුෂ්‍යයා ''අමර'' කිව්වේ දෙව් බඹුන් හඳුන්වන්නයි. අති දීර්ඝ ජීවිත කාල ඇති ඔවුන්ගේ මරණය නොපෙනෙන තරම් දුර නිසා ඔවුන් නොමැරෙන අය ලෙස සලකා අමර කියන නම යෙදුනා.** කාම අදහස් නිසා කෙටි ආයුෂ ඇති අත්බැව් ලැබූ පිරිසගේ මරණය පෙනෙන්න වුනා. නොමැරෙන බව ක්ෂය වූවන් යන අර්ථයෙන් ඔවුන්ට කාමයෝ යන නම පටබැඳුනා. ඒ කාම ගතිම වර්ධනය වන නිසයි කාම ගුණ කියල කිව්වේ. ගුණ කරනවා කියන්නේ වැඩි කරනවා කියන එකයි. මේ පැහැදිලි කිරීමෙන් පේනවා පංචකාම ගුණ උපධීන් කියන්නේ අපේ සිත, ගත නිවීම සැනසීම වනසා දමන ධර්මයෝයි කියල. එබඳු දේ ළඟා කර දෙන ඇස, කන, නාසය, දිව, කය වටිනවද? මේ පහෙන් ලබා ගන්නා අරමුණු මේ මේවා යැයි පෙර මතක සටහන් සමග ගලප ගලපා සංඥා දෙන මනස වටිනවද?

ජාතියක් හට ගත්තොත් ඒවාට ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස, රාග, ද්වේශ, මෝහ කියන එකොළොස් මහා ගින්නක් උරුම වෙන බව බුදුපියාණන් වහන්සේ දේශනා කර තියෙනවා. එහෙනම් මේ ආස්වාද විඳින රූප ජාති, ශබ්ද ජාති, ගන්ධ ජාති, රස ජාති, පොට්ඨබ්බ ජාති (ස්පර්ශ) සියල්ලටම ඉහත ගිනි එකොලහ උරුමයි. අපි යමක් දැනගත්ත තරමින්ම පිළිගන්න ඕන නෑ. මේ කිව්වෙ ඇත්තද කියල විමසා බලමු. මේ 'ජාති' වලට ඇලුම් කරන තාක් කල්, ඒවාට උරුම ස්වභාවයන්ද අපි අල්ලගෙන ඉන්නවා. (ඇල්ලුම්=ඇලුම්) අපි කැමති එබඳු ප්‍රිය මනාප රූපයකට යම් දුකක් විපතක් සිදුවුන වෙලාවට තමයි ගිනි ඇදිල එන්නේ.

අපි හිතමු ලොකු ව්‍යාපාරයක හිමිකරුවෙක් ගැන. ව්‍යාපාරයක් කියන්නෙත් ජාති ධර්මයක්. කිසියම් කාලෙකදී මේ ව්‍යාපාරයේ වෙළඳාම අඩුවෙලා ගිහින් ව්‍යාපාරය කඩා වැටෙනවා. දැන් හටගත්තෙ කඩාකප්පල් ව්‍යාපාර ජාතියක්. ඒක ජාති දුකක්. හොඳට ජයට තිබුණ ව්‍යාපාරය බංකොලොත් වෙලා. ඒ එහි ජරා දුක. දැන් හොඳ ලාභ දෙන ව්‍යාපාරය බිඳිල ගිහින්. ඒ එහි මරණ දුක. (ජරා දුක - මරණ දුක) අපොයි, මම මේ ව්‍යාපාරය ගොඩනගා ගන්න දුක් මහන්සි වුන තරමක් ...! මෙහෙම කියල දැන් සෝක ගිනි එනවා.

දැන් මේ සිද්ධ වුණ පාඩු තත්ත්වය බාරගන්න කැමති නෑ. ලැබිච්ච සතුටු බව, සුව බව ක්ෂය වෙලා. **අනේ මට මේ පාඩුව දරන්න බෑ කියල ඒක ස්ව තත්ත්වයෙන් ඕක හෙවත් ඔක්කාර කරන්න බලනවා. මේ ස්වභාවය එහි සෝකයයි.** දැන් තම පාඩුව දරාගන්න බැරිව දෙවැනි පිරිසකගේ හෙවත් දන්නා හඳුනන ඥාති මිත්‍රාදී අන්‍යයන්ගේ පිහිට පතමින් දාහයට පත්වීම පරිදේව නම් වෙනවා. මානසික වූ මේ වෙහෙස නිසා කායිකවත් අසහනයෙන් පෙළෙන්න පටන් ගන්නවා. එතකොට කයින් දූෂ්‍ය කටයුතු කරන්න පෙළඹෙමින් කායික වෙහෙසට පත් වෙනවා. මේ විදිහට දුක්ඛ ගිනි හටගන්නවා. මෙසේ දූෂ්‍ය වූ මනසින් කටයුතු කරමින්, ඒ දූෂ්‍ය කටයුතුවලට දෙවැන්නෙකුගෙත් (දෙවැනි පිරිසකගේ) සහාය ගනිමින් දෝමනස්ස කියන මානසික ගින්නටත් පත්වෙනවා. ඒ වගේම මානසිකව පෙළීම නිසා නැගී සිටින්න බැරි ලෙස ක්ලාන්ත වීම, වෙහෙස වීම ආදිය සිද්ධ වෙලා අන්‍ය ආධාරයක් නැතිව තම කටයුතු කරගන්න බැරි තත්ත්වයකටත් පත්වෙනවා. උප + ආය + ආස හෙවත් උපායාස කියන තත්ත්වයට පත්වෙමින් ඒ ගිනි ස්වභාවයත් විඳිනවා. මෙසේ මේ ව්‍යාපාරය කියන ජාති ඇසුර නිසාත් මෙබඳු එකොලොස් ගින්නක් හටගන්නවා.

ව්‍යාපාරය සාර්ථකව තිබුණු කාලෙ ඊට බැඳුනු ආසාව නිසාම මහා වටිනා තත්ත්වයක් තමන්ට ලැබුණු ලෙස හිතන ආස්වාදයෙන් මනස වැසී යාම නිසා, ව්‍යාපාරය ගොඩනගන්න වෙච්ච වෙහෙස නිසා වූ දුක් ගිනි වින්දත් ඒක නොවැටහී තියෙනවා. සංඛත කොට අභිසංකරණය කිරීමේ දුක හෙවත් සංඛාර දුක් ගින්න මෙසේය. තමන් ගොඩනගාගත් ව්‍යාපාරය බිඳ දමයිද? බිඳ වැටෙයිද?... ආදී ලෙස ඇති වූ දාහය දුක්ඛ දුක්ක නම් ගින්නයි. ඒ කොහොම ආරක්ෂා කරන්න හැදුවත් තමන් අකමැති පරිදි ව්‍යාපාරය කඩාකප්පල් වීම විපරිනාම ගින්නට අයිතියි. මේ රාග ගිනි කොටසයි. මේ වගේ විරුද්ධ කරුණු එනකොට ඇති වූ දූෂ්‍ය දාහය ද්වේශ ගිනි කොටසයි. ☞

කොතෙක් දුක් වේදනා අපහසුතා ආවත් ව්‍යාපාරය වටින බව සිතමින් ඒ මතම හැපෙමින් එයින් මිදෙන්න බැරුව ඇති වෙච්ච අසහනකාරී ස්වභාවය මෝහ ගින්නට අයිතියි.

මේ ගිනි එකොලහම "ව්‍යාපාරය" කියන ජාති ධර්මයේ සැඟවිලා තිබුණා. පරිගණකයට දත්ත කවල තියෙනවා. නමුත් ඒවා හැම විටම තිරය මත දිස්වෙන්නෙ නෑ. අවශ්‍ය යතුරු ස්පර්ශ කළාමයි දත්ත තිරය මත දිස්වෙන්නේ. මේ වගේ ව්‍යාපාරයට ජරා, මරණ සිද්ධ වෙලා වෙළඳාම අඩු වෙලා කඩා වැටීම සිදුවුනාමයි ගිනි ඇදිල ආවේ. දැන් මේ ව්‍යාපාරය තමන්ගෙ නොවී වෙන කෙනෙක්ගෙ වුනානම් මේ ගිනි එන්නෙ නෑ. එහෙනම් අපි ප්‍රිය මනාප දේ තුළම තමයි මේ ගිනි තියෙන්නෙ. ඒ ප්‍රිය මනාප දේවල් ගෙවිල යනකොට දුකයි. අප්‍රිය අමනාප දේවල්වල ගිනි තිබුණට ඒවා අපට දුක් දෙන්නෙ නෑ. ඒවා අපි කරා ආවොත් තමයි දුක් දෙන්නේ. බෝතලයක වස තිබුණට ඒකෙන් කාටවත් හානියක් නෑ. නමුත් වසවල ස්වභාවය නම් මරණය හෝ මරණය සමාන දුකට ඇද දැමීමම තමයි. වස බිව්වොත් තමයි ඒ දුක ඇදිල එන්නෙ. මේ වගේ ජාති ධර්මවල ගිනි තියෙනවා. නමුත් ඒවා "මගේ" කරගත්තෙ නැත්නම් මානසික දුකක් එන්නෙ නෑ. ජීවිතේදී හමුවන විවිධාකාර ප්‍රිය-මනාප, අප්‍රිය-අමනාප රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන ජාති ධර්‍ම කෙරෙහිත් **කැමැත්තෙන් බැඳුනෙ නැත්නම් දුකක් එන්නෙ නෑ.** ජීවිතය පවත්වාගෙන යන්න මේ ජාති ධර්‍ම අවශ්‍යයි. ඒ නිසා ඒවා **පරිහරණය කරනවා මිසක්, වටිනා හරවත් දේවල් ලෙස සලකා "මගේ" කරගන්න, ආස්වාද විඳින්න බලාපොරොත්තුවෙන් සිත, කය, වචනය ක්‍රියා කළොත් දුකෙන් නිදහස් වෙන්න බෑ.** එසේ නොකළොත් දුකෙන් නිදහස්. හැබැයි මේ උපාදානයෙන් නිදහස් වූ පංචස්කන්ධය පූර්ව හේතුවේ ඵලයක් නිසා මේක කායික දුකට හේතු වෙනවා. දුකෙන් තොර ලෝකයක් නෑ කිව්වෙ ඒකයි. දුක්ඛේ ලෝකෝ පතිට්ඨිතා කිව්වෙත් ඒකයි.

ඇස, කන, නාසය, දිව, කය කියන මේ පහේ එකතුව වන සත්ත්ව රූපය පංචස්කන්ධය කියලයි අපි මෙතෙක් කල් සාමාන්‍යයෙන් දැනගෙන හිටියේ. ක්ෂණයක්වත් එකාකාරව පවතින ඇසක්, කනක්, නාසයක්, දිවක්, ශරීරයක් නොමැති නම්, ක්ෂණයක්වත් එකාකාරව පවතින පංචස්කන්ධයක් ද තියෙන්නෙ බෑ. මේ පහ මූලික කරගෙන ස්පර්ශවන අරමුණු හේතුවෙන් ක්ෂණයක් පාසා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ හටගන්නවා. උදාහරණයක් වශයෙන් ඇසට රූපයක් ස්පර්ශවෙන මොහොතේ ඒ ස්පර්ශය හේතුවෙන් ඵස්ස පච්චයා වේදනා කියන පටිච්ච සමුප්පාද චක්‍රය (ධර්මය) අනුව ස්පර්ශ වූ රූපය පිළිබඳ සුඛ, දුක්, උපේක්ෂා ආදී වශයෙන් වේදනාවක් හටගන්නවා. ඒ රූපය පිළිබඳ මනසේ රැඳී ඇති දත්තයන් සමග ගැලපීමෙන් මනස රූප සංඥා ලබා දෙනවා. (මේ අසවල් රූපයයි ආදී වශයෙන්) ඒ සංඥාවට අනුව හිතන, කියන, කරන යමක් වේද ඒක සංඛාර වෙනවා. ඒ රූපය කැමති, අකමැති ආදී වශයෙන් වෙන්කර ගන්නේ සංඛාර ප්‍රත්‍යයෙන් වන විඤ්ඤාණයයි. තවද ඒ රූප රූප වශයෙන්, වේදනා වේදනා වශයෙන්, සංඥා සංඥා වශයෙන්, සංඛාර සංඛාර වශයෙන් දැනගැනීම විපාක විඤ්ඤාණයයි. මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ සියල්ලම ක්ෂණයක් පාසා ගොඩනැගෙමින් අතීතයට (නාම ගෝත්‍ර ලෙස) යනවා. මස් ලේ සහිත ඇස රූප දකින උපකරණයක් පමණයි. මේ අනුව සත්ත්වයා කියන්නේ අතීතයට ඇදී ගිය, වර්තමානයෙත් ක්‍රියාත්මක වන, නිවන් දක්නා තුරු අනාගතයේත් ක්‍රියාත්මක වන රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ වැලක් (රැහැනක්). ඇස, කන, නාසය, දිව, කය, කියන මස් ලේ සහිතව සකස් වූ උපකරණවලින්ද මේ වගේ ක්ෂණයක් ක්ෂණයක් පාසා ස්පර්ශවන ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප හේතුවෙන් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ හටගන්නවා.

දුර වේවා, ළඟ වේවා, සියුම් වේවා, ඝන වේවා, හීන වේවා, ප්‍රණීත වේවා, අතීත වේවා, වර්තමාන වේවා, අනාගත වේවා රූප යැයි යමක් යම් තැනක වීද, යම් තැනක වෙයිද, මතු යම් තැනෙක හට ගනීද ඒ සියල්ල කැටිකරගත් විට රූපස්කන්ධ ලෙස බුදුපියාණන් වහන්සේ විස්තර කර තියෙනවා. වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ ස්කන්ධයන්ද මේ ආකාරයි. ක්ෂණයක් ක්ෂණයක් පාසා ගොඩනගන සංඛාරවල විපාක වශයෙන් සංඛාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාම රූපං, නාමරූප පච්චයා සළායතනං... කියන පටිච්ච සමුප්පාද ධර්මය අනුව ඇස, කන, නාසය, දිව, කය කියන ආයතන පහත්, ඒවායින් ලබාගන්නා අරමුණු සංස්කරණය පිණිස මනසත් කියන සළායතන හටගන්නවා. මේ ආයතන ක්‍රියාත්මක කරමින් මනසට අතීත රූප, අනාගත රූප මවන්න පුළුවන්. උදාහරණයකින් කිව්වොත් යම් කෙනෙක් අනුරාධපුරේ ඉපදිලා වැඩුන නම්, ඔහු කොහේ හිටියත් ඔහුගේ ළමා කාලය සිහි කරන කොට අනුරාධපුරය පිළිබඳ රූපයකුයි මැවෙන්නෙ. දුර ඇති ඒ සියුම් රූපයත් සම්මත වශයෙන් ඒ තැනැත්තාගෙමයි. අතීත භවයන් දකින්න පුළුවන්නම්, අතීතයේ තිරිසන්වෙලා හිටපු රූපය හීන (පහත්) රූපයක්. දෙවි වෙලා හිටියනම් ඒක ප්‍රණීත රූපයක්. මේ විදියට ඒ ඒ අත්බැව්වල විඳපු වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණත් සම්මත වශයෙන් ඒ පුද්ගලයාගේ.

අතීතයේ ඒ මගේ රූපය ලස්සනයි, ප්‍රිය මනාපයි, මට අහවලා ආදරෙන් සැලකුවා, තෑගි බෝග දුන්නා, මට අහවලා මෙහෙම දෙයක් කිව්වා, අහවලා මගේ ධනය උදුර ගත්තා... ආදී වශයෙන් ඒ ඒ අතීත රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ හොඳයි-මනාපයි, නරකයි-අමනාපයි... ආදී වශයෙන් සිතින් මැන අල්ල ගන්නවා. ඒ ඒ මොහොතේ ගෙවී වැනසී ගිය රූප, වේදනා, සංඥා කියන්නේ ඊට පෙර කරන ලද කුසල, අකුසල කර්ම විපාක වශයෙන් පහළ වූ හේතු ඵලයක් මිසක්, ස්ථිරව පවතින හෝ පවත්වන්න පුළුවන් දේ නොවන බව නොදන්නා නිසා ඒවා කෙරෙහි කැමැත්තෙන් බැඳෙනවා. කැමැත්තෙන් බැඳෙන හේතුවෙනුයි, කැමති දේ නැවත නැවත ලබාගැනීමේ ස්වභාවය අනුව යලි යලි එබඳු රූප, වේදනා.... ආදිය ස්පර්ශ කිරීම පිණිස ඇස, කන, නාසය... ආදිය ලැබෙන්නේ. ඒ ඒ ධර්මයන් කෙරෙහි කැමැත්තෙන් බැඳෙන තාක් කල් මේ විදියට සළායතන ගොඩනගමින් හරයක් නොලබන සසර ගමනක සත්වයා දුක් විඳිමින් සැරිසරනවා.

පංචස්කන්ධය කියන්නේ මේ රූපස්කන්ධය, වේදනාස්කන්ධය, සංඥාස්කන්ධය, සංඛාරස්කන්ධය හා විඤ්ඤාණස්කන්ධය යනුවෙන් මුලින් විස්තර කරපු පංචස්කන්ධයටයි. ස්කන්ධය මැනීමට, බර මැනීමට වචනයක් ව්‍යවහාර වෙනවා. ඒ කියන්නෙ බරට ස්කන්ධය කියලත් ව්‍යවහාර වෙනවා. ඒ අනුව රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයට ඇලුම් කිරීම හේතුවෙන් සකස් වූ බර පංචකය වන ඇස, කන, නාසය, දිව, කය කියන එකතුව වූ ශරීරයටත් පංචස්කන්ධය කියල ව්‍යවහාර කරනවා. දිරායන මේ පංචස්කන්ධයට ඇලුම් කරන්න එපා කිව්වම ජරාවට, ව්‍යාධියට, මරණයට පත්වන මේ ශරීරයට ඇලුම් කරන්න එපා කියන අදහසයි මුලින් ඇති වුනේ. නමුත් දිරායන මේ කයට වගේම රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධයන්ටත් ඇලුම් නොකළ යුතුයි. මොකක් නිසාද? මොහොතින් මොහොත ගෙවි ගෙවී අතීතයට (නාම-ගෝත්‍ර) එකතුවන රූප, වේදනා.... පංචස්කන්ධයේ එක් මොහොතක් පමණයි මේ දකින ශරීරය, පංචස්කන්ධය කියල හඳුන්වන්නේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# හදවත් රෝග මුල්කරගෙන හටගන්නා විවිධ ආබාධ සඳහා සමාධියට හසුවූ පැරණි ප්‍රතිකර්මයක්

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී, හදවත් රෝගයකට ලක් වූ එක්තරා පුද්ගලයෙකුට ලබා දුන් සමාධියට හසු වූ විශේෂ ප්‍රතිකර්මයක් ගැන පසුගිය කලාපයෙන් සඳහන් කළා. ඒ ප්‍රතිකර්මය තමයි මේ ඉදිරිපත් කරන්නේ. විශේෂයෙන් මේ වගේ කාලයකදී රෝගාබාධවලින් අනන්තවත් දුක් පීඩා විඳිමින් ස්ථිර ප්‍රතිකර්මයක් නැති වත්මන් ජනතාවටත්, පශ්චිම ජනතාවටත් සිද්ධ වෙන යහපත ගැන හිතලයි මේ ක්‍රමවේදය ඉදිරිපත් කරන්නේ. මේ නිසා මේ සම්බන්ධව කටයුතු කරන වෛද්‍ය මණ්ඩලවලට අවශ්‍ය නම් මෙහි සත්‍ය අසත්‍යතාවය පරීක්ෂා කර බලා ජනතාවගේ යහපත පිණිස මේ ක්‍රමවේදය හඳුන්වා දෙන්න පුළුවන්.

මේ සඳහා යොදාගන්නේ තනිකරම ස්වභාවික ශාක වර්ගයි. පේර කොළ කිලෝ 1 ක්, නා දළු කිලෝ 1 ක් හා වේලිච්ච බෙහෙත් නෙල්ලි ග්‍රෑම් 400 ක් මීට අවශ්‍යයි. මෙහිදී ගන්නා පේර කොළ සම්පූර්ණයෙන්ම දේශීය පේර කොළ විය යුතුයි. ඒ වගේම පුංචි ගෙඩි තියෙන ඇඹුල් පේර කොළ හෝ දෙමුහුන් පේර කොළ යොදාගන්නෙ නෑ. වේලිච්ච නෙල්ලි දුම් ගසා වේලා ඇත්නම් දුම් කාරම යන්න විශේෂයෙන් හොඳට සෝදා ගත යුතුයි. මේ නෙල්ලි, වතුර බෝතල් දෙකකින් එකහමාරක් පමණ දක්වා හිඳෙන තෙක් පළමුව තම්බා ගත යුතුයි. එසේ තම්බපු වතුර ටික පෙරාගෙන ඒකට පේර කොළ හා නා දළු හොඳට ලියල කොටල අරගෙන ඒ නෙල්ලි තැම්බූ වතුරෙන් මිරිකා ගත යුතුයි. රොඩ්ඩ ඉවත් කර ඉතුරු වන ඉස්ම ටික අරගෙන ඒ යුෂයෙන්, තම්බල ඉතිරි වෙච්ච නෙල්ලි මදය (ඇට ඉවත් කර) අඹරා ගත යුතුයි. ඉන් පසු ඒවායින් කෝපි ගෙඩියක පමණ තරමට ගුලි හදාගෙන අව්වේ වේල ගත යුතුයි. උදුනකින් රත් කරනව නම් කිසි විටෙකත් අව් රශ්මියට වඩා වැඩියෙන් රත් නොකළ යුතුයි. එහෙම වුනොත් ඖෂධ ශක්තිය විනාශ වෙනවා. මේ හදාගත්තු ගුලි උදේ, දවල්, රෑ තුන් වේලට ආහාරයට පෙර හෝ පසු වරකට ගුලිය බැගින් ගත යුතුයි. (වැඩිපුර තියේ නම් ගුලි තුන බැගින් ගත්තත් වරදක් නෑ) මේවා ස්වභාවික ඖෂධ නිසා කිසිම අගුණයක් නෑ. මාස දෙකක්, තුනක් පමණ යනකොට හදවතේ කපාට ඇතුළු ලේ නහරවල හිරවෙලා තියෙන කොලෙස්ටරෝල් සහිත අපද්‍රව්‍ය පූර්ණව සුද්ධ වෙනවා. ඉන්පසු ස්වභාවික තත්ත්වයට පත් වෙනවා. මේක විශේෂ අත්දැකීමක්.

සමහර වෙලාවට නහර සුද්ධ වෙනකොට නහරවල හිරවෙලා තියෙන කාබන් මිශ්‍ර කැල්සියම් වැනි අපද්‍රව්‍ය වකුගඩු මගින් මුත්‍රාශය ඔස්සේ පෙරෙන්න පටන් ගන්නවා. එතකොට වකුගඩුවලට වැඩ වැඩියි. මේ නිසා මේ ප්‍රතිකර්මයත් සමග තවත් ප්‍රතිකර්මයක් ගත්තොත් වැඩේ තවත් ඉක්මන් වෙනවා. මේ තමයි ඒ දෙවන ප්‍රතිකර්මය.



ඒ සඳහා කරඹ කොළ හෝ ජැම්සන් කොළ සහ අක්කපාන කොළ කිලෝ 1 බැගින්ද, වේලිච්ච නෙල්ලි ග්‍රෑම් 400 ක් ද අවශ්‍යයි. මේ කොළ වර්ග දෙකත් කලින් විදිහටම නෙල්ලි තම්බා ගත් වතුරෙන් අඹරගෙන ඒ යුෂය නැවතත් නෙල්ලි මදය සමග අඹරා ගුලි හදා අව් රශ්මියෙන් වේලා ගත යුතුයි. මේ දෙවන ප්‍රතිකර්මයේදී පමණක් නෙල්ලි වෙනුවට අවශ්‍ය නම් කොත්තමල්ලි ග්‍රෑම් 400 ක් යොදා ගන්නත් පුළුවන්. එතකොට නෙල්ලි වෙනුවට කොත්තමල්ලි තම්බා ඉතුරු වන ඇට අඹරා ගත යුතුයි. දැන් අර පළමු ප්‍රතිකර්මයේ කියපු ගුලි පාවිච්චියට ගන්නා අතර තුර මේ ඖෂධත් පාවිච්චි කරන්න පුළුවන්. එනම් මුලින් සඳහන් කළ ප්‍රතිකර්මය පටන් අරගෙන සතියක් පමණ යනකොට බඩ කොරවෙන ගතියක් ආවොත්, මේ දෙවන ප්‍රතිකර්මයෙන් පෙන්වූ එක ගුලියක් දවසකට වරක් ඒ කොර ගතිය නැතිවන තෙක් ගන්න පුළුවන්. තදබල විදිහට ශරීරය ඇතුලෙ තියෙන අපද්‍රව්‍ය සුද්ධ කරන කොට මුත්‍රාවලිනුත් ඒ අපද්‍රව්‍ය සුද්ධ වෙන්නයි මේ දෙවැනි ක්‍රමය ගන්නේ. මොකද ලේ නහර සුද්ධ වෙලා යනකොට ඒවායේ ඇති කැල්සියම් මිශ්‍ර කාබන් අපද්‍රව්‍ය යවන්න තැනක් තියෙන්න ඕන. දෙවෙනි ප්‍රතිකර්මයෙන් කරන්නේ ඒවා මුත්‍රාවලින් ඉවත් කරන එක. ඒකෙන් වැඩේ ඉක්මන් වෙනවා.

දැන් මේ සඳහා යොදාගන්නා ඖෂධවල එවැනි ඖෂධ ශක්තියක් තියෙන බව ඒ වචන හැදිල තියෙන පද නිරුක්තිවලිනුත් ඔප්පු කරන්න පුළුවන්. නෙල්ලි කියන්නේ නොඇලෙන ගුණය. එනම් අපද්‍රව්‍ය නහරවල ඇලෙන ස්වභාවය නවතනවා. පේරවලින් කරන්නේ පෙරන ගතිය වැඩි කරන එක. එනම් මුත්‍රාවලින් ශරීරයේ තියෙන විෂ ඉවතට පෙරා ඉවත් කිරීමේ ශක්තිය. නාවලින් කියවෙන්නේ යම්කිසි දෙයක නායකත්වය මුල්කරගෙන කරන කටයුතුයි. මෙතැනදී නා දල්ලේ වර්ණයේ ප්‍රමාණයට ලේ නහර පිරිසිදු කරනවා. එනම් ශරීරය තුළ තියෙන ලේ නහර සුද්ධ වුනාට පස්සෙ, නා දල්ල වගේ රතු පාටට හුරු වෙනවා. නහරවල තැන්පත් වෙලා තියෙන අනවශ්‍ය කාබන් ආදී අපද්‍රව්‍ය දිය කරල ඉවත් කර නිරෝගී කරනවා. ඒ ශක්තිය නා දළුවල තියෙනවා. අක්කපානවලින් කරන්නේ ස්පටික හෙවත් ගල් වැනි ස්වභාවය අක්‍රීය කරන එකයි. අක්ක කියන්නේ අක්‍රීය කරනවා. පාන කියන්නේ පාෂාණ හෙවත් ගල්. ගලක අක්කපාන තිබුණොත් ඒ ගල දිරල අක්කපාන ගහට ඇදල ගන්නවා. ඒ වගේ ශරීරයේ නහරවල තියෙන ස්පටිකමය ස්වභාවය ඇදගැනීමේ හැකියාවක් ☞

අක්කපානවලට තියෙනවා.

ඊළඟට කරඹ ගත්තොත්, කර කියන්නේ ශක්තිය. කර නැඟෙනවා කියලත් කියන්නේ ශක්තිය නැගීමට. අඹ කියන්නේ හිතවත් කම. එනම් ශක්තියට හිතවත් වෙනවා කියන්නේ ශක්තිය වැඩි කරනවා කියන එකයි. වකුගඩු දුර්වල වෙනකොට ශක්තිය දුර්වල වෙනවා. කරඹවලින් ඒ ශක්තිය වැඩි කරල දෙනවා. හැබැයි ඒ ශක්තිය කාමය පැත්තට නෙවෙයි. කර අඹ = අත හිත. ඒ කියන්නේ ලෙඩ සුවයට අත හිත දෙනවා. විශේෂයෙන් මුත්‍රා අමාරු සම්බන්ධයෙන්. කරදිය කිව්වමත් මුත්‍රාවලට සම්බන්ධයි. මොකද පෙරෙන්නේ ලවණ මිශ්‍රණය. ඒක කරදිය, මේක කරඹ. එතකොට කරඹ කොළ හෝ ජැම්සන් කොළ කියන මේ දෙකෙන් එකක් තමයි මෙහිදී යොදාගන්නේ. ජැම්සන් කියන්නේ ඉංග්‍රීසි වචනයක් වුනත් භාෂා නීති රීතිවලට කොටු නොවී හැගීමෙන්, මාගධී ප්‍රාකෘතයෙන් ඉන් කියවෙන අදහස හෙවත් නිරුක්තිය දෙන්න පුළුවන්. ජෙම් කියන්නේ මැණික් ගල්වලට. ව්‍යවහාරයේදී පහසුවට ඒක ජැම් වුනා. ෂන් (shun) කියන්නේ යමක් ඉවත් කරනවා, මගහරිනවා කියන එකයි. ෂන් කියන එක තමයි ව්‍යවහාරයේදී පහසුවට සන් වෙන්නේ. එතකොට ගල් ඉවත් කරනවා කියන අර්ථයයි මෙතන තියෙන්නේ. ජැම්සන් ගහේ කොළ දෙකක් ගත්තම හැඩයෙන් වකුගඩුව වගෙයි. වකුගඩුවේ තියෙන විෂ ඉවත් කරන එක තමයි කරඹ හා ජැම්සන් කොළවලින් කරන්නේ.

කොත්තමල්ලි ගන්නෙත් ශරීරයේ තියෙන අපද්‍රව්‍ය පෙරා සුද්ධ කරන්නයි. විවිධ අපද්‍රව්‍ය මස්වලට බැඳිල එතිල තියෙන්නේ නරක් වූ සෙම කැබලි සමගයි. කොත්තමල්ලිවලින් ඒවා ක්ෂය කරල දමනවා, ඉවත් කර දමනවා. කොත්ත + මල්ලි යන පද දෙකක් එකතු වෙලයි මේ තනි පදය හැදිල තියෙන්නේ. කොත්ත කියන්නේ ක+ඔත්ත = ඔතා තියෙන දේවල් ක්ෂය කරනවා කියන අර්ථයයි. මහ+අල්ලි = මල්ලි කියන්නෙ (මහ ලොකුවට ඇලුනු) තදින් ඇලී තිබෙන ගතියයි. මේ අර්ථ දෙක එක් වුනාම මස්වල තදින් ඇලී එතී තියෙන සෙම පටල ගලවා සුද්ධ කිරීම යන අර්ථය පෙන්වනවා. හදවත් රෝගවලටත්, (බයිපාස් සැත්කම කියන්නේ ඒකේ උච්චතම අවස්ථාවක්.) මුත්‍රා අමාරුවලටත්, ලේ නහර හිරවෙලා හටගන්නා අමාරුකම්වලටත්, ඒවා මුල්වෙලා හටගන්නා විවිධ ඇඟපතේ අමාරුකම්වලටත් මේ බෙත් වර්ග දෙක ඉතා හොඳ බවට අත්දැකීම් තියෙනවා.

**මරණ මංචකයේ හිටපු අයත් මේ බෙත්වලින් බේරිච්ච අවස්ථා තියෙනවා.** කර්මක්ඛය හෝ උභයක්ඛය කර්මයක් නෙවෙයි නම් මේ වගේ ප්‍රයෝග සම්පත්තිවලින් ඒ අය බේරගන්න පුළුවන්. කර්මක්ඛය මරණයක් සිද්ධ වෙන්නේ එහි උපරිම අවස්ථාවේදී. නමුත් එසේ නොවී ආසන්න වුනොත් එය උපස්ථම්භක කර්ම ශක්තියෙන් වළක්වන්න පුළුවන්. ඒකට තමයි මේ වගේ ප්‍රයෝග සම්පත්ති යොදා ගන්නේ. නමුත් සියලුම කර්ම රෝගවලට බෙහෙත් නෑ. බේරගන්න පුළුවන් ප්‍රතිකර්ම තියෙන කර්ම රෝගත් තියෙනවා. ඒ වගේ ප්‍රතිකර්මයක් තමයි මේ. මේ වගේ ප්‍රයෝග සම්පත්තියෙන් ගොඩදාන්න බැරි ඒව තමයි ප්‍රබල කර්ම රෝග. උදාහරණ විදිහට නියම අංශභාගය, නියම පිළිකාව, නියම සුදු කබර රෝගය ආදී මේවා විශේෂයෙන් ප්‍රබල කර්මරෝගවල කොටසක්.

**දියවැඩියාව කියල ගත්තත් අද කියන දියවැඩියාව නෙවෙයි නියම දියවැඩියාව කියන්නේ.** නියම දියවැඩියාව හැඳුනම ඒක පරම්පරා ගණනාවකටම යනවා. එහෙම පවුල් තියෙනවා. අදින් අවුරුදු හැට හැත්තෑවකට එහා බැලුවොත් එදා දියවැඩියා පවුලක් හිටියනම් ඒකට ප්‍රසිද්ධයි. ඒ මුළු පවුලෙ සාමාජිකයන්ටම දියවැඩියාව තියෙනවා. ඒක තමයි ස්වභාවය. ඒක කර්ම විෂයෙන් විග්‍රහ කරගත යුතු දෙයක්. කර්ම විපාකයකින්ම තමයි ඒ පවුල්වල උපදින්නේ. ඒ අයට බෙත් නෑ. ඒ වගේ කර්ම විපාකයන්ට, ඒක ගෙවෙන්න වෙන විදිහේ ප්‍රතිකර්මයක් කරනවා හැර, මේ වගේ බෙත්වලින් හොඳ කරන්න බෑ.

**කර්ම රෝගයක් වන නියම දියවැඩියාව ඇති වෙන්නේ සසරේදී අන් සැපතට ඊර්ෂ්‍යා කර ඒ සම්පත් තමා සතු කරගන්න ක්‍රියා කරපු පාප කර්මයෙන්. සමහරවිට සීයාට තිබුණු දියවැඩියාව මුණුපුරාටත් හැදෙන්න පුළුවන්. මේවා පරම්පරාවෙන් එන රෝග කියල කිව්වත්, මෙහි යථාර්ථය නම් පෙර සීයා ලෙස හිටපු අය මිය ගිහින්, අද මුණුපුරා ලෙස ඉපදී පෙර කරපු පාපයට අනුකූල වූ රෝගයේ ඉතිරි කොටස ලෙස ගෙවන්න සිදුවීමයි.**

නමුත් **දැන් බොහෝ කොටම තියෙන්නේ ප්‍රමිතීන් වෙනස් කරල, අධික විෂ යොදල සකස් කරපු ආහාර පරිභෝජනය නිසා ඇතිවෙච්ච, දියවැඩියාව සේ පෙනෙන වෙනත් රෝගාබාධ තමයි.** අද වගාවට බෙත් ගහනවා, හෙට අස්වැන්න නෙලනවා. කිසිම ප්‍රමිතියක් නෑ. බෙත් ගහල සුමාන දෙකක්වත් ඉන්න ඕන කියන ප්‍රමිතියවත් පිළිපදින්නෙ නෑ. ඉක්මනට අස්වැන්න විකුණගන්න ඕන නිසාම එහෙම කරනවා. පරීක්ෂණයක් කරල බැලුව නම් ඔය ආහාරයට ගන්නා එළවළු, පළතුරු... ආදී ආහාරවල කොච්චර නම් විෂ ප්‍රතිශතයක් තියෙනවද කියල දැනගන්න පුළුවන්. බොහෝ පලාත්වල මහා පරිමාණයෙන් ගොවිතැන් කරන උදවිය, ඒ වගාවට අමතරව, පණුවො කාපු කේඩෑරි ගැහිච්ච එළවළු වගාවකුත් කරනවා. ඒක හදන්නේ තමන්ට විතරක් කන්න. ඒකට බෙහෙත් ගහන්නෙත් නෑ. ඒකයි අර වගේ සාර නැත්තේ. නමුත් විකුණන්න ගන්න ඒවට උපරිමයෙන්ම බෙහෙත් ගහල ලස්සනට තියාගෙන ඉන්නවා. කොයි තරම් අසාධාරණයක්ද මේ කරන්නේ. මිනිස්සුන්ට හෙණ ගැහිල ගියත් කමක් නෑ කියල බොහෝ අය ඔය වැඩේ කරනවා. ඒකෙ ප්‍රමිතියක් බලන්නවත් කවුරුවත් නෑ. අමු එළවළු පරීක්ෂා කරන්න කවුරුවත් නෑ. ඒවායේ ආසනික් හෝ විස රසායන තියෙනවයි කිව්වොත් ඒක පිළිගන්නෙත් නෑ. මොකද පිළිගත්තොත් ඒව විකුණන අයට විශාල ප්‍රශ්නයක් වෙනවා. ඒ අයට පාඩු වෙන නිසා ඒක කියන්නෙ නෑ. නමුත් තනිකරම තියෙන්නෙ විස. විශේෂයෙන් මෑත කාලයේදී නම් යම් යම් උදවිය ඒවායේ විස තියෙනවයි කියල හොයාගෙන ප්‍රකාශ කරල තියෙනවා. ඒත් ඒකට පිළියමක් නෑ. මේවා කරන්න එක්කො පරීක්ෂණ මට්ටම් ප්‍රබල නෑ. නැත්නම් දැන දැනත් වසන් කරනවා. මේකෙ අන්තිම ප්‍රතිඵලය මහ භයානකයි. ඉපදෙන පොඩි එකාගෙ පටන් මහා විනාශයකට පත්වෙනවා. විශාල මිනිස් සංහාරයක් අන්තිමට සිද්ධ වෙන්නේ. වස විස නිසා ඇතිවන මේ කියන දියවැඩියාව හැදුනොත් මුළු ජීවිතයම අනාථ වෙනවා.

මේවායේ තියෙන අධික විස නිසා සෙම නරක් වෙනවා. මේක තමයි දැනට තියෙන දියවැඩියාවට මුල්වෙන කාරණය. හැබැයි ඒක වෛද්‍ය විද්‍යාවෙන් තාමත් දැනගෙන නෑ. ඒ අය කියන්නේ සීනි වැඩි වෙලා එහෙම වුනයි කියල. නමුත් සීනි ක්‍රියාත්මක වීම මහා ගැඹුරු ක්‍රමවේදයක්. අද වෙනකොටත් වෛද්‍ය විද්‍යාවට ඒක නිසි ආකාරව හොයාගන්න බැරිවෙලා තියෙනවා. යම් කිසි වස විසක් කැවුනම ශරීරයේ තියෙන සෙම නරක් වෙනවා. ඒකෙන් තමයි ශරීරය ඇතුලෙ විස හැදෙන්නේ. පළමුවෙන්ම සෙම අජීර්ණයක් හැදෙනවා. මෙහිදී මුඛයෙන් පටන් ගෙන අධෝ මුඛයට යනතෙක් ආහාර ජීර්ණ පද්ධතිය ක්‍රියාත්මක වන විශේෂ ක්‍රමයක් තියෙනවා. ශරීරයට අපද්‍රව්‍යයක් ඇතුළු වුනොත් සෑම ඉන්ද්‍රියකින්ම යම් කිසි ශ්‍රාවයක් පිට කරනවා. ජීර්ණ පද්ධතියේ පටන්

යවන ශ්‍රාවය ගිහින් අර අපද්‍රව්‍ය ආපසු ඇදගන්නවා. ඇදගෙන නැවතත් ඒ අපද්‍රව්‍ය බඩවැලට දෙනවා. බඩවැලෙන් නැවතත් අර ශ්‍රාවය ශරීරය හැමතැනම යවනවා. ශරීරයේ තියෙන හැම සනීභවන අපද්‍රව්‍යයක්ම ඒකෙන් දිය කර ඉවත් කරන ක්‍රමයක් තියෙනවා. ඒ සනීභවන කාබනික අපද්‍රව්‍ය ඇදල බඩට (ආමාශයට) සහ බඩවැලේ අසූචියට යවනවා. මේ නිසා ඉන්ද්‍රියන් හැම වෙලේම පිරිසිදුයි. නමුත් මේ ක්‍රමය තවම හොයාගෙන නෑ.

හැබැයි වස විස කැවුනට පස්සෙ අජීර්ණ වෙච්ච සෙම ගිහින් අර විදිහට බඩවැලේ රැඳෙනවා. ඒකෙන් රුධිරය ක්‍රියාත්මක නොවී තියෙනවා. ඒ අපද්‍රව්‍ය බඩවැලේ ඇතුලේ සිවියට තමයි යන්නේ. ඒකෙන් සිවිය වහනවා. එතකොට බඩ වේලෙනවා. වැඩිපුර වතුර බිව්වත් ඒ විස යන්න විදිහක් නැතිව බඩ යනවා. අසූචි අක්‍රමිකතාවයට පත්වෙනවා. එක්කො වේලිලා නැත්නම් විරේක වෙලා යනවා. ශරීරය සුද්ධ පවිත්‍ර කරන ක්‍රමය නැතිවෙලා යනවා. ඉන්පසු ඒ අපද්‍රව්‍ය සෙලවල ඉතිරි වෙනවා. ඒවා ආස්වාස ප්‍රාස්වාස වාතයෙන් ගෙනියන්න බෑ. වායුවෙන් ගෙනියන්න පුළුවන් සියුම් කොටසක් විතරයි. ඊළඟට සනීභවන කොටස් ගෙනියන්නේ මුත්‍රාවලින් හා දහඩියෙන්. ඊටත් වඩා සනීභවන මට්ටමක් තියෙනවා. ඒවා ගෙනියන්නේ අර කියන ශ්‍රාවය බඩ වැලේ සිවිය අතරට ගිහින් බඩවැලට ඇදල දැමීමෙන්. නමුත් මේ ක්‍රමය තවම හොයාගෙන නෑ. මේ සිව්වලින් විස බඩවැලට ඇදල දාන ක්‍රමය තමයි දැන් ඔය වස විස කැවුනම නතර වෙන්නේ. නතර වුනාම ශරීරයේ ඉන්ද්‍රියන් අක්‍රීය වෙලා සෙල ඇතුලේ කාබනික ද්‍රව්‍ය පිරෙනවා. එතකොට ශරීරය මහත් වෙලා කැක්කුම් දෙනවා.

සෙලවලට ශක්තිය නිපදවන්න තෙල් හා සීනි අවශ්‍යයි. මේ දෙකෙන් උපනිශ්‍රය ලබාගෙන තමයි සෙලවලට චිත්තජ රූප හදල අතපය ක්‍රියාත්මක කරවන්නේ. නමුත් ඇතුලෙ කාබන් සහිත අපද්‍රව්‍ය පිරුනම සීනියි, තෙලුයි දෙක ශක්ති නිපදවන්න සෙල තුලට යවන්න බැරිව ඉතිරි වෙනවා. නමුත් මේ ක්‍රියාවලිය දන්නෙ නැති නිසා ඊට පස්සෙ මොකද කරන්නේ, සීනි අඩු කරන්නයි කියල ඉන්සියුලින් දෙනවා. කොලෙස්ටරෝල් අඩුකරන්න තෙල් කෑම කන්න එපා කියනවා. නමුත් තෙලුයි, සීනියි දෙක තමයි ශක්තිය බවට පත් කරන්නේ. ඒක කරන ක්‍රමයක් තියෙනවා. අවශ්‍ය වෙලාවට දෙනවා. නැති වෙලාවට ගබඩා කරල තියෙනවා. ඒක කමයි ඇලදිවෙන් කරන්නේ. ඕකට තමයි ඉන්සියුලින් නිෂ්පාදනය කරනව කියල කියන්නේ. නමුත් දැන් වෙලා තියෙන්නෙ ඉන්සියුලින් නිෂ්පාදනය නතර වෙන එක නෙවෙයි. එහෙම ඉන්සියුලින් කියල හැඳෙන විශේෂ මාංශජනක ප්‍රෝටීනයක් තියෙනවා. අපේ ශරීරය හදිසියේ වෙහෙසුවොත් ඒ වැය වෙච්ච ශක්තිය වේගයෙන් හදල දෙන්න නිෂ්පාදනය කරන එක තමයි ඒකෙන් කරන්නේ.

නමුත් දැන් ඇල දිව හරියට ක්‍රියාත්මක වෙන්නෙ නෑ. මොකද ඇලදිවේ සෙලවලත් කාබනික අපද්‍රව්‍ය බැඳිලා. තෙලුයි සීනියි ඉතිරි වෙලා. හේතුව අර කාබනික ද්‍රව්‍ය සුද්ධ කරන ක්‍රමය දැන් නතර වෙලා. ඒ ස්වභාවික ක්‍රමය දැන් අක්‍රියයි. ඊට පස්සෙ ඒ අපද්‍රව්‍ය බඩවැලට වදිනවා. බඩවැල හිර වෙනවා. මේකට ලේසියෙන් බේතක් හරියන්නෙ නෑ. බඩ සුද්ධ වෙන්න කියල බේත් බිව්වට ඒක ඇරෙන්නෙ නෑ. උඩින් මත්තෙන් යනව විතරයි. හැබැයි මේකට ගැලපෙන විනරාජ කසාය හා ලය විරේකය වගේ පැරණි කාලෙ දුන්නු ක්‍රමවේදයන් තවමත් තියෙනවා. ඒකත් දැනගෙන හරියට කරන්න ඕන. වැඩි වුනොත් අමාරුයි. මෙන්න මේ විස ඉවත් කරන්න තමයි දැන් බේත් ඕන වෙලා තියෙන්නේ. නමුත් වෙදකම් කළත් හෙද කම කරන්න දැන් බෑ. ඒ කියන්නේ ඉන්පසු යලිත් ආහාරයට ගන්න වෙලා තියෙන්නේ ඉහත කී විස සහිත එළවළු, පළතුරු, ධාන්‍ය වර්ග ආදියයි.

**ඒත් සමග අලි මදිවට හරක් කියල තවත් පිරිසක් තව ක්‍රමයකින් වස කවනවා. ''වශී! වශී! පිනට වශී! ගෙන්නන්න, පන්නන්න, අනියම් සබඳතා දුරු කර දෙන්න...'' මේ ආදී දේවල් කියමින් මලයාලි - රොඩී ගුරුකම් කරන තාපසවරු වගේ ඇඳගත්තු අමුතු සාන්තුවරු මේවායේ බරපතලකම නොදන වස විස කවනවා. මේවත් විස වෙලා පසු කාලෙක ඉහත කී ආබාධවලට මුල් වෙනවා.** රටේ වගකිවයුත්තන් විසින් නීති රීතිවලින් තහනම් නියෝග පැනවීමෙන් මේවා පාලනය කරන්න පුළුවන්. වගකිවයුත්තන් මීට මැදිහත් වී මේ අපරාධ නොවැලැක්වුවොත් තවත් වසර 50 ක් පමණ යනකොට මුළු සමාජයම ආබාධිත අනාථ පිරිසක් බවට පත් වෙලා වැනසිලා යන්න පුළුවන්. වගකිවයුත්තන්ගේ අණ පනත් පරිදි එළවළු, පළතුරු, ධාන්‍ය ආදිය වෙළඳපොලට එවීමට පෙර වස විස ඇත්දැයි, ප්‍රමිතියට අනුකූලව නිෂ්පාදනය කර ඇත්දැයි දැඩි අධීක්ෂණය යටතේ පරීක්ෂා කළ යුතුව තියෙනවා.

**ඒ වගේම විවිධ සන්නාසීන් (යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම් කරන උදවිය) දෙන ගුප්ත දේවල් අමනුෂ්‍ය බලපෑම් සහිතව සිරුරුවලට ජීර්ණ වෙලා පසු කාලයක පිළිකා, දියවැඩියා, අංශභාග ආදී ආබාධවලට බලපානවා.** ඔවුන් ඒවා ගැන නොදැන වර්ණනා කරමින් ප්‍රසිද්ධ දැන්වීම් මගින් ප්‍රචාරය කිරීම මේ වන විටත් මහා පරිමාණයෙන් සිද්ධ වෙනවා. මේ භයානක අපරාධ ගැන නොදත් අහිංසක ජනතාව සැනසුම පතාගෙන මේවා එකිනෙකාට කවන්න පෙළඹෙනවා. අණවින, කොඩිවින ආදියත් කරනවා. මේවා භයානක අපරාධ බව ජනතාව දැනුවත් වීම අනාගත පරපුරේ අභිවෘද්ධියට හේතු වෙනවා.

පපුවේ වියලී ඇති සෙම නිසා අධික කැස්ස ඇති වෙනවා. ලය විරේක කිරීමෙන් මේ ආබාධය දුරු වෙනවා. එතකොට පපුවෙ තියෙන සෙම ටික කොහොමද ලය විරේක කරල බඩෙන් යන්නෙ කියන කාරණය වෛද්‍ය විද්‍යාවට අහුවෙලා නෑ. බඩේ තියෙන දේවල් වමනෙ විදිහට යනකොට පපුවෙ තියෙන සෙම නැති වෙන්නෙ කොහොමද කියන කාරණය වෛද්‍ය විද්‍යාවට ප්‍රශ්නයක්. කලින් සඳහන් කළා වගේ ආහාර ජීර්ණ පද්ධතියත් සමග සම්බන්ධ වෙච්ච මුඛයේ පටන් අධෝ මාර්ගයට යනකල් ඒකට ගැලපෙන ශ්‍රාවයක් යවල ඇදගැනීමේ ක්‍රියාවලියක් තියෙනවා.

ආමාශයේ තියෙන සිව්වලින් අවශ්‍ය රසායනය යවල පපුවෙ තියෙන අපවිත්‍ර සෙම වැනි ඉන්ද්‍රියන්ගේ ඇති අපද්‍රව්‍ය දියකර හරිනවා. නැවතත් ඒ රසායනය අරගෙන ආමාශයට දෙනවා. වමනය කරනකොට ඒ විස පිට වෙනවා. නැවතත් ආමාශයේ තියෙන ඖෂධීය රසායන දියර සිව් මගින් පපුවට රැගෙන යනවා. මේ ආකාරයටයි සෙම සුද්ධ කරන්නේ. මේ ක්‍රියාවලිය කරන්න බැරි වුනාම බඩේ (ආමාශයේ) සෙම හිරවෙනවා. ඒ නිසා තමයි වමනෙ කරන කොට ආමාශයේ (බඩේ) තියෙන සෙම ටික ගියාම ඉන්ද්‍රියන් ක්‍රියාත්මක වෙන්නේ. පපුවෙ තියෙන සෙම ටික ආමාශයට ඇදිල ඇවිත් වමනෙත් එක්ක පිට කරනවා. පස්සෙ බලනකොට පපුවෙ සෙම නෑ. ආහාර මාර්ගයත්, පපුවත් අතර විශේෂ සම්බන්ධයක් තියෙන නිසයි එහෙම වෙන්නේ. හැබැයි මේක දකින්නෙ නෑ. දිවැසට සමාධියට ගෝචර වෙන දෙයක්. බටහිර වෛද්‍ය විද්‍යාවේ තියා දැනට තියෙන ආයුර්වේද වෛද්‍ය විද්‍යාවෙවත් මේ කොටස නෑ. ඉස්සර නම් තිබුණා. නමුත් දැන් සැඟවිලා.

ඒ වගේම මේ කාරණය

# උපතින් සමාන මිනිස් ජාතිය, පසුව වඩන ගතිය අනුව වෙනස් වන හැටි

දෙවියන්ටත්, මනුෂ්‍යයන්ටත්, පැවිදි වූවන්ටත් පින උපකාරී වෙන බව බුද්ධ දේශනාවේ පැහැදිලිව දක්වා තියෙනවා. (අංඃනිඃ(3) 50 පිටුව, සුමනා සූත්‍රය) පින් කරන කොට පින් සිත් පහල වෙනවා. පින් මග නිතර බොහෝ ඇසුරු කරන කොට පින් සිත් පරම්පරා දිගටම ඇති වෙනවා. ලෝක ආස්වාද ඇති කරමින් ඒ ආස්වාදයන්ගේ බැඳිල හදවත් ගිලගෙන සිටින ලෝභ ගතිය, පින් සිත් පහල වෙන කොට දුරුවෙනවා. හැබැයි ලෝභය ඇති කරන අනුෂය මතුවීමට නැවත ඉඩ තිබීම දුරුවෙන්නෙ නෑ. ලෝභකම විද්‍යමාන නොවන්නේ ඇයි? මෙහිදී සිත විද්‍යමාන වෙමින් පිහිටන්නේ අලෝභ, අද්වේෂ, අමෝහ ගුණයන් අරමුණු කරගෙනයි. ඒ තෙරුවන් ගුණ උදෙසා ඇති වන පිනා යාමෙන්. තෙරුවන් ගුණ උදෙසා හැර බාහිරින් කරන පින්වලත් අලෝභ, අද්වේෂ, අමෝහ ගති ඇති වුණත් ඒ තමන්ගේ පැත්තෙන්. නමුත් අති බලවත් වෙන්නෙ නෑ. මොකද පිළිගන්වන පුද්ගලයා ලෝභ, ද්වේෂ, මෝහ සහිත නිසා. දෙන්නෙත් එබන්දෙකුටයි. මේ නිසා තෙරුවන් ගුණ සිහි කර ඒ උදෙසා දෙන දානය මහා බලවත් වන විදිහේ අලෝභ, අද්වේෂ, අමෝහ පින් ඇති කරනවා. ඒ



වගේම දෙන පුද්ගලයාගේ පුද්ගල ගුණවත්භාවය, ආර්ය භාවය නිසා මේ පින ඒ අනුවත් බලවත් වෙනවා. එහෙම නැතිනම් බලය අඩු වෙනවා. ''යථාවාදී තථාකාරී, යථාකාරී තථාවාදී'' කියන මහා ගුණය ඇති බුදුරජාණන් වහන්සේට ගරු සත්කාර කර තමනුත් ඊට අනුව කටයුතු කරනවනම්, එබඳු ගුණවතුන්ගෙත් පින බලවත් වීමට ඒක හේතු වෙනවා.

ආරය හරි නම් බුදුපියාණන් වහන්සේගේ දරුවෝ වන සිව් පිරිසත් එසේම ගුණ ගරුක වෙනවා. බෞද්ධ බවට පත් වන සත් ගුණවතුන්ට නියම ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් නාම රූප ධර්මයෝ මුණ ගැසෙන්නේ එවිටයි. එවන් ශ්‍රමණයන් වහන්සේලා ඇසුරු කරන දායකයන්ට ''නාම රූප පච්චයා විඤ්ඤාණං'' කියන සිද්ධාන්තයට අනුරූපව ශාසන ගරුක පුණ්‍යමය කුසලමය විඤ්ඤාණ හට ගන්නවා. ඒ සත් පුරුෂ පින්වතුන්ට උපාසක උපාසිකා යන ගති සිත් හට ගන්නේ එවිටයි. ප්‍රධාන නායකයා යන ගමන් මග පසුපසින් එන පිරිසත් අනුගමනය කරනවා වගේ සුමගට පිවිසි උපාසක උපාසිකා පිරිසක් හට ගැනීමට මේ උතුම් ශ්‍රමණ ගුණ (ස+මන-සමන, ස-නිවීම, සැනසීම, සුවය, මන-හිත, එනම් යහපතේ පිහිටපු හිත යන්න ශ්‍රමණ ☞

---

28 වෙනි පිටුවෙන්..

## හදවත් රෝග මුල්කරගෙන හටගන්නා විවිධ ආබාධ සඳහා....

ඔප්පු වෙන තැනක් ත්‍රිපිටකයේ භේසජ්ජ ඛණ්ඩයේ තියෙනවා. බුදුන් වහන්සේට හැදිච්ච අධික සෙම් අමාරුවකට ජීවක වෙද මහත්මයා ඖෂධීය ශක්තිය ගැබ් කරපු නෙළුම් මල් තුනක් හදල උන්වහන්සේට ඉඹින්න දුන්නා. එක නෙළුම් මලක් එක වතාවක් ඉම්බම දහ වතාවක් බඩ යනවා. ඒ වගේ නෙළුම් මල් තුන, තුන් වතාවක් ඉම්බම තිස් වතාවක් බඩ යනවා. උන්වහන්සේගේ ශරීරයේ තිබිච්ච සෙම් ආබාධයක් මුල් කරගෙන බඩ විරේක කරපු ක්‍රමයක් තමයි මේකෙන් කියන්නේ. ඇඟට කිසි අමාරුවකුත් නෑ. හරි පහසු ක්‍රමයක්. එක මලක් සැරයක් ඉම්බම දහ වතාවක් බඩ යනවා. ඉන් පසු දෙවන මලත් ඒ විදිහටම දෙනවා. ඒකෙනුත් දහ වතාවක් ගියාට පස්සෙ තුන් වෙනි මලත් දෙනවා. එතකොට තිස් වතාවකදී සම්පූර්ණයෙන්ම සුද්ධ වෙනවා. ඒත් උන්වහන්සේට විසි නව වතාවයි ඒක සිද්ධ වුනේ. නමුත් බුදුන් වහන්සේ දැනගෙන හිටියා, ඊළඟ වතාවෙ යන්නෙ උණු වතුර ස්නානය කළාමයි කියල. ඉන් පස්සෙ දායකයෙකුගෙන් ලබාගෙන උණු වතුර ස්නානය කළා. එයින් තිස් වන වතාවත් ගියා. ඒකෙන් පස්සෙ ඒ සෙම් අමාරුව සුව වුණා. මේ එදා තිබිච්ච ක්‍රමයක්, අදත් ත්‍රිපිටකයේ තියෙනවා. අද ලෝකයා විඳින රෝගාබාධ දිහා බැලුවම මේවා බොහොම වටින දේවල්. නමුත් හරි ක්‍රමය සැඟවිලා ගියපු එක තමයි ගැටළුව. ඒ විදිහට සැඟවිච්ච කාරණයක් තමයි මේ නැවතත් මතු කරල දුන්නේ. ඉදිරියටත් මෙවැනි සුවිශේෂීය ප්‍රතිකර්ම විධි බලාපොරොත්තු වන්න. සැමට නිරෝගී සුව වේවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

යන්නෙහි අදහසයි) දරන උතුමන් මහෝපකාරී වෙනවා. මේක සංසරත්නයෙන් ලබන මහා පිළිසරණක්. සසුන්ගත උතුමන්, උතුම් ගුණ යම් තරමකට දරයි ද ඒ තරමටම ගිහි පිරිසත් සංවර බවට පත් වෙනවා.

**''තමාට තමාම පිළිසරණය. අන් කවරෙක් පිහිට වේද?'' කියන දහම ගැන වැරදි අදහස් අරගෙන, මට පිළිසරණ මම ම වන නිසා මගේ පාඩුවේ ප්‍රතිපත්ති පුරමියි කියල අදහස් ගත්තොත් ප්‍රතිඵලයෙන් අසරණ වෙනවා.** ඒ නිසා මේකෙන් කිව්වේ මොකක්ද කියල හොඳින් තේරුම් ගත යුතුයි. ''මැණික් ගලේ පය හැපුනට කණා ඇහිඳලා ගනීද'' යන කියමන ගැනත් සිතා බලන්න. මැණික්වල වටිනාකම අපට ලැබෙන්නේ අහුල ගත්තොත් පමණයි. වටිනාකම ඇති පලියට අපි ඒවා ගරා නොගත්තොත් මැණික් තිබුණු පලියට ඒකෙන් අපට යහපතක් ලැබෙන්නෙ නෑ. ඒ නිසා තමාගේ පිළිසරණ තමාට ගන්න නම් තමාම අහුලාගත යුතුයි. අනුත්තර පින් කෙත තියෙනවා. වපුරා ගත්තොත් අස්වැන්න ලැබෙනවා. කුඹුරු සරු නිසා වැපිරීමේ පිළිසරණ ලැබෙන හැටි සලකා බලන්න.

එසේම මැණික් තුනක් ලෝකයේ විද්‍යමාන වෙනවා. (මාන්නය ක්ෂය කිරීමයි මාණික්‍ය හෙවත් මැණික් කිව්වේ) ඒ ත්‍රිවිධ රත්නයයි. තමා ක්‍රියාත්මක වෙලා ඇසුරු කළොත්, වන්දනාමාන ගරුසත්කාර කර දහම් ශ්‍රවණය කළොත් පිළිසරණ ලබාගන්න පුළුවන්. දේව මනුස්ස වන්නේ පින්වලින්. දහම් මග තියෙන්නෙත් ශාස්තෘත්වය තියෙන්නෙත් දේව මනුස්ස කියන දෙගතියටයි. (බ්‍රහ්ම යන්නත් දේව ගතියටම අදාළ වෙනවා) ''සත්ථා දේව මනුස්සානං'' යන්නෙන් ඒ බව පැවසෙනවා. ඒ නිසා රැවටුම් නැතිව හරි මග ගන්නයි කිව්වට ''අන්ධො බාලො පොතුජ්ජනෝ'' යනුවෙන් පෘථජ්ජනයා අන්ධයි, බාලයි. පෘථජ්ජනයාට සත්‍යය දැනගෙන නොරැවටී හරි මග යන්නැයි කිව්වට, අන්ධ බාල ගති ඇති සාමාන්‍ය ලෝක සත්ත්වයා කෙසේ නම් තෙරුවන් සොයා ගන්නද? පින් කරන්න, තෙරුවන් කෙරෙහි නැමී සිටින්න, තෙරුවන් විද්‍යමාන වන තැන් සොයා ගන්න අන්ධ බාල පෘථජ්ජනයා අදක්ෂයි. අන්ධයාට ඉලක්කය බලාගෙන ගහන්න බෑ. මේ වගේ අතපත ගගා යනවා මිසක් හරියට දකින ඇසක් මිනිසාට මුලදීම නෑ.

මිනිසා අවබෝධ කරගත හැකි මහා ඥාන ගුණයට හිමිකම් ඇති අයෙක් විය හැකි නමුත් ඒ වාසනාව යටපත්ව තිබිය හැකියි. **දහම් මගට අන්ධ බාල වුනත්, මේ අය ලෞකික ශාස්ත්‍ර අතින් ග්‍රහ තාරකා කරාත් යමින් පරීක්ෂණ කරන විද්‍යාධරයන් විය හැකියි.** නමුත් ඒක ලෞකික මාර්ගයක්. ලෞකිකත්වය තුළ නැගෙන්නේ ලෞකික විද්‍යා ඥානයයි. ඒ මගින් ලෞකිකත්වය පිළිබඳව දියුණුව නම් ඇති කරනවා. ඒක ලෝකය ආක්‍රමණය කරන පරීක්ෂණ මාර්ගයක්, කෙළවරක් නොපෙනෙන අසරණ මාර්ගයක්. **මෙබඳු අය තුළත් සැඟවුණු දහම් නුවණ ලබන ශක්තිය බොහෝ විට පවතිනවා. හැබැයි පිළිසරණ නොලැබුණොත් අනාථයි. ඒ ශක්තියෙන් ප්‍රයෝජන ගත්තා වෙන්නෙ නෑ.**

නාම රූප ඇසුරු නොකිරීමෙන් ලබන විඤ්ඤාණයක් ලෝකයේ නෑ. ඒ නිසා බුද්ධ පුත්‍ර බව විද්‍යමානව පැවතීම, නියම දහම් වදන්, බුදු ගුණ විද්‍යමාන වීම ලොව අති දුර්ලභ කාරණයක්. මේවායේ මූලාරම්භය ලොව්තුරා බුදුපියාණන් වහන්සේ නමක් ලොව බිහි වීමෙන් සිදුවන්නක්. ඒ නිසා රත්න භාවයෙන් සලකනවා. නියම රත්න භාවය නම් තෙරුවන්මයි. මේ පිළිසරණින්, තෙරුවන් ඇසුරින් ලබන පුණ්‍ය විඤ්ඤාණ පහළ වුනාමයි දේව මනුස්ස ගති පහළ වෙන්නේ. මෙහිදී දෙවියන්ට දේව ගති නැද්ද, මිනිස්සුන්ට මිනිස් ගති නැද්ද කියල ප්‍රශ්නයක් ඇති වෙන්න පුළුවන්. උපන්නේ දෙවියෙක් නම්, ඉපදුණේ දේව ගතියෙන් බව ඇත්ත. මිනිසෙක් නම් මිනිස් ගතියෙන් බවත් ඇත්ත. නමුත් මේ ගති, ජීවිත පැවැත්මේදී ඇති වන ආකාරය හිතල බැලිය යුතුයි. සත්ත්වයාට පටිච්ච සමුප්පාද ක්‍රමයකින් උපන් ජාති ක්‍රමයෙන්ම ප්‍රවෘත්ති ජාති පිළිවෙතක් ලැබෙන හැටි ධර්මයේ විස්තර කර තියෙනවා. ඒක දැන ගත්තම හරි මග ඉතා හොඳින් තේරුම් ගන්න පුළුවන්. ඇසීමට ඉතා දුර්ලභ වූ ජාති මැන ගන්නා ක්‍රමයක් පිළිබඳව පටිච්ච සමුප්පාද විවරණයක් සූත්‍ර නිපාතය- බුද්ධ ජයන්ති ග්‍රන්ථමාලා 25 පොත 199 පිටුවේ එන <u>වාසෙට්ඨ සූත්‍රයේ</u> තියෙනවා. ජාති මොනවාද?

ලෝකය ජාතිවලින් පිරිලයි තියෙන්නේ. ගස් ජාති, වැල් ජාති, කෘමි ජාති, මත්ස්‍ය ජාති, තිරිසන් ජාති, අමනුස්ස ජාති, දේව ජාති, මනුස්ස ජාති ආදිය ඉන් සමහරක්. ගස් ජාතිවල තත්ත්වය කොහොමද? වැල් ජාතිවල තත්ත්වය කොහොමද? එක වැල් ජාතියක් තවත් වැල් ජාතියකට හාත්පසින්ම වෙනස්. සමහර වැල් කුඩායි. සමහරක් ලොකුයි. සමහරක් කිරි සහිතයි. තවත් සමහරක් කිරි රහිතයි. සුවඳයි. දුගඳයි. මෙසේ නොයෙක් ආකාර, නිමිති, ප්‍රඥප්තිවලින් විද්‍යමාන වෙනවා. ගස් ජාතිත් මෙසේමයි. සත්ත්ව ප්‍රාණ නොවුනත් ප්‍රාණ විශේෂයක්. කෘමි ජාතීන් ද එසේමයි. ආකාරය, සම්බන්ධය, ප්‍රමාණය, සංසර්ගය කියන මේවා අසම්බන්ධයි, අසමානයි. නොයෙක් ජාති ප්‍රභේද තියෙනවා. තිරිසන් ජාතිත් එසේමයි. ලොකු කුඩා වර්ග වෙනවා. සම්බන්ධ කිරීම්, බද්ධ කිරීම් අතින් අසමානයි. නානා ප්‍රභේද තියෙනවා. මත්ස්‍ය ජාතිත් එසේමයි. ලොකු, කුඩා වර්ග ඉන්නවා. සම්බන්ධ කිරීම්, බද්ධ කිරීම් අතින් වෙනස් නානා ප්‍රභේද තියෙනවා.

නමුත් මිනිස් ජාතිය ඉහත සඳහන් සියල්ලටම වඩා වෙනස් වූ සමානකම් පෙන්වනවා. බද්ධ කිරීම් සහිතයි. සංසර්ග ගැළපෙනවා. ඇසට ඇස, කනට කන, දිවට දිව, නාසයට නාසය, සිරුරට සිරුර, ලෙයට ලෙය, ඉන්ද්‍රියන්ට ඉන්ද්‍රියන් කොහේ හිටියත් සමානතාවක් දරනවා. උපතින් ගස්වැල්වලට, තිරිසනුන්ට, කෘමීන්ට වගේ අසම්බන්ධතා නෑ. උපන් ජාති එකාකාරව පෙන්වනවා. **මුළා සහගත, මාන සහගත, අනුන් හෙළා දකින මෝඩ මිනිසුන් විසින් මෙසේ වූ නොවෙනස් එකාකාර මිනිස් ජාතියට, ජාති භේදයක් හදා ගෙන තියෙනවා. ප්‍රදේශය අනුව, දඬුවම් වශයෙන්, සශ්‍රිකත්වයෙන්, කතා කරන භාෂාවෙන්, කුලමළවලින් මෙසේ විවිධ බාහිර හේතූන් මත මුළා සහගත ලෙස ජාති භේද හදාගෙන භේද භින්නතාවයෙන් පාපී ගති ඇති කරගෙන ඉන්නවා.** නමුත් ඒක නියම බෙදීම නොවන බවත්, අසාධාරණ හිස් බෙදීමක් බවත්, සාධාරණ වූ කරුණු සහිත ජාති බෙදීම එය නොව පහත ක්‍රමය බවත් බුදුන්වහන්සේ පෙන්වා තියෙනවා.

**එකම මිනිස් ගතියෙන් එකාවන් ජාති ආකාරයෙන් උපත ලැබුවත්, පසුව ඇති කර ගන්නා ගති හේතුවෙන් හේතු සහිත, ඵල සහිත ජාති ක්‍රමය මෙය බවත්** දේශනා කර තියෙනවා. මිනිසා උපතින් මිනිස් ගතියෙන්ම පහළ වෙනවා. මිනිස් විඤ්ඤාණයකට හිමිකම් කියනවා. උපක්ලේශ මතු නොවී උපන් මිනිස් දරුවා, පසුකාලීනව ලෝකයේ නොයෙක් නාම රූප ස්පර්ශ කරනවා. ඒ හේතුවෙන් උපන් ගතියෙන්, පිටස්තර වූ ඇසුරෙන් විඤ්ඤාණ ගති පහළ කරනවා. ආකාර, ලිංග, නිමිති, උද්දේශ, ප්‍රඥප්ති හෙවත් නාම රූප ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වෙනවා. ඒ විඤ්ඤාණයෝ අනුරූප වන නාම රූප ඇති කරනවා. එයින් සාදන ආයතන ඒ නාම රූපවලට අනුරූප ස්වභාව දරනවා. ඒ කොහොමද?

මිනිස් ගති ඇති දරුවා ක්‍රමයෙන් වැඩෙනකොට බාහිර පරිසරය ඇසුරු කොට ඒ ඒ ආකාර, නිමිති... ආදී නාම රූප ගන්නවා. දරුවා වැඩෙන කොට ☞

කයත් එහෙමයි. මොන ජාතියේ වුණත් ඇසට ඇස, කනට කන, දිවට දිව, නාසයට නාසය, කයට කය මෙසේ සමානකම් ඇතිව වැඩෙන අතර, ඇසුරු කරන ස්වභාවයන් අනුව සිත අසමාන තත්ත්වයන්ට පසුකාලීනව බහිනවා. කෙනෙක් හොරකමට, කෙනෙක් මංකොල්ලයට, කෙනෙක් මිනීමැරුමට, කෙනෙක් මස් සඳහා සතුන් මරා විකිණීමට, කෙනෙක් ලෞකික ශාස්ත්‍ර ඉගෙනීමට, කෙනෙක් ගුණවත් බවට, කෙනෙක් බලවත් බවට, කෙනෙක් ගොවිතැනට.. ආදී ලෙස යොමු වෙනවා. මෙසේ ජීවත් වෙන්න රැකියාත් කරනවා. වින්දනය සඳහා නොයෙක් අයුතුකම් ද කරනවා. මේ අනුව තමා කරන කටයුත්ත අනුව අනුකූල වූ ගති ජාතියක් ඔහුට හිමි වෙනවා. ඒ ගතිය අනුව ලබන ජාතිය ඔහු නොදන සිටියත් ගතියට අනුව පහල වෙනවා. මෙසේ **කර්ම භව නිසා කර්ම ජාති හෙවත් මිනිස් කය ඇතිවම බලු හිත්, හරක් හිත්, දේව හිත්... ආදී ලෙස ලබමින් මිනිස් බල්ලෙක්, මිනිස් හරකෙක්, මිනිස් දෙවියෙක් ආදී ලෙස මෙලොවම ප්‍රවෘත්ති ජාති ලබනවා.** මේ ''භව පච්චයා ජාති'' කියන සිද්ධාන්තයයි.

මෙසේ හොරා, මංකොල්ල-කාරයා, මිනීමරුවා, මස්වැද්දා, ගුරුවරයා, ගුණවතා, බලවතා, ගොවියා... ආදී ජාතිවලින් තමාට හිමි ජාතිය බෙදෙනවා මිසක්, ශරීරවලින් ජාති බෙදුවට නියම පටිච්ච සමුප්පාද (පටි-බැඳීම, ඉච්ච - කැමැත්ත, සම-සමානව, උප්පාද-උපත, එනම් බැඳීමෙහි කැමැත්තට අනුව සමානව උත්පාදනය වීම) ජාති මග හිමි නොවන බවත්, ඉහත කී ලෙස තමා කරන පුණ්‍ය, පාප කටයුතු අනුවම ජාති බෙදීම, නියම ජාති බෙදීම බවත් බුද්ධ දේශනාවේ පෙන්වා තියෙනවා. ඒ නිසා ඔවුන් කුමන ජාති කුල ගෝත්‍ර වශයෙන් හඳුන්වා දුන්නත්, කුමන කුලයක වුවත් මිනීමැරුවොත් ඔහුට කියන්නේ මිනීමරුවා කියලයි. ගොවිතැන් කළොත් ගොවියෙක්. දාමරිකකම් කළොත් දාමරිකයා කියනවා. ගුණවත් වැඩ කළොත් ගුණවතා කියනවා. මෙසේ කරන වැඩය අනුව ක්‍රියා රටා, ගති ලක්ෂණ පහල වෙලා මනු ලොව ජාති හට ගන්නවා. **උපතින් පොඩි දරුවා, ළපටියා, ළමයා ආදී පොදු නමකින් හැඳින් වුවත්, කියන කරන කටයුතු අනුව සිදුකරන බෙදීම නියම හේතු යුක්ති ඇති ජාති බෙදීමයි.**

යමෙක් යම් ගතියක එල්බගෙන කරන අනුකූල කටයුතු අනුව ඔහුට හිමි නියම ජාතිය දිස් වෙනවා. නියම රජ ගතියෙන් කටයුතු කළොත් නියම රජෙක්. හොර ගතියෙන් කටයුතු කළොත් හොරෙක්. සමාජය විසින් හොරෙක් රජකමට පත් කරගෙන සම්මත නාමය දීල රජා කියල කියන්න පුළුවන්. නමුත් නියම තත්ත්වය නම් හොරාට රජකම දීමයි. රජකම් කළත් ඔහු හොරෙක්. රජ වුවත් ඔහුගෙන් ලැබෙන ප්‍රතිඵලය විනාශයයි. ගොවියෙකුට රජකම දුන්න නම් සම්මතය අනුව රජතුමා කියනවා. නමුත් ගොවියෙක්. ගුණවතෙක් කියල ලෝකයේ සම්මත කර ගත්තත් මෝඩකම් කරන්නෙක් නම් ඔහුට සමාජය, සම්මතය අනුව ගුණවතා කියල කිව්වත් ඔහු මෝඩයෙක්මයි. ''**නජච්චා වසලො හොති-නජච්චා හොති බ්‍රාහ්මණෝ-කම්මනෝ වසලෝ හෝති-කම්මනෝ හෝති බ්‍රාහ්මණෝ**'' යන බුද්ධ දේශනාව සිහිපත් කර ගැනීම මෙහිදී ඉතා වැදගත්. එහෙනම් කෙනෙක් වසලයෙක් හෝ බ්‍රාහ්මණයෙක් වෙන්නෙ උප්පත්තියෙන් නෙවෙයි, කරන ලද අයහපත් හෝ යහපත් ක්‍රියා අනුවයි. **වස වූ ලයක් ඇති කෙනාටයි වසලයා කියන්නේ.** වස වෙනවයි කියන්නේ නරක් වෙනවා කියන එකයි. නීවරණ නිසා නරක් වුණා, වැහිල ගියා කියන එකයි. බහ කළ (බැහැර කළ) හෙවත් අළු කළ මනසක් ඇත්තා බ්‍රාහ්මණයි. අළු කර දමන්නේ මනසේ තියෙන ලාමක අකුසල ධර්මයන්. බහ+මන-බ්‍රාහ්මණ කියන්නේ ඒකයි. මේ තමයි බුදුරජාණන් වහන්සේගේ නියම ජාති බෙදීම. මේක හේතුඵල සහිතයි.

මේ අනුව සමාජය තමාට දීල තියෙන නාමය ලෝක සම්මත නාමයක් මිසක් පරමාර්ථ වශයෙන් තමාගේ ගුණයට අනුරූප නමක් නෙවෙයි. උදාහරණ ලෙස ගුණයෙන් පාලනය වන්නාට ගුණපාල කියල කියනවා. නමුත් උපතින් ගුණපාල කියන නාමය දෙමව්පියන් විසින් ළමයෙකුට දීල තිබුණත්, ඔහු ලොකු මහත් වුනාම හොර මැර වංචා, තියෙන තරමක් තක්කඩිකම් ඔක්කෝම කරන්න පුළුවන්. ඒ වුණත් ලෝක සම්මත සමාජයේදී ඔහු ආමන්ත්‍රණය කරන්නේ ගුණපාල කියලයි. නමුත් අර කලින් කියපු ගුණයට දැන් ඔහු අහු වෙන්නෙ නෑ. ඒ නිසා **නියම නාමය තමයි තමා ළඟ ඇති ගති ගුණයෙන් ඊට අනුකූල වූ ගතිකයා හඳුන්වන නම.** තමන් දන්නව නම්, අවංකව පිළිගත්ත නම් ඒ ගතිකයාට කියන නම තමන්ට උරුම බව, දෙවියෙක් වෙන්නත් මිනිසෙක් වෙන්නත්, තිරිසනෙක් වෙන්නත්, බල්ලෙක් වෙන්නත්, ඌරෙක් වෙන්නත්, ගුණවතෙක්, ශ්‍රමණයෙක්, බ්‍රාහ්මණයෙක් වෙන්නත් තමාටම පුළුවන්. මෙසේ පටිච්ච සමුප්පාදය දන්නව නම්, අපි උපතේදී අල්ලගෙන හිටපු නාම රූපයෝ ඇති කළ විඤ්ඤාණය නිසා මිනිසෙකුව උපන් බව දැනගන්නවා. ඒ නිසා උපතින් මිනිස් විඤ්ඤාණයක් සඳහා හිමිකම් දරුවා. මේ විදිහට සෑම ආකාරයේම නාමරූපයන් හඳුනා ගන්න අපි දක්ෂ වුනා නම්, අපි ඇසුරු කරන නාම රූප අනුව උපත සිදුවන අයුරු අපටම දැනගන්න පුළුවන්.

මෙලොව කවුරු මොන නමින් කුමන ප්‍රශංසාවකින් හෝ නින්දාවකින් හෝ කතා කළත්, ඇසුරු කරන්නේ තිරිසන් නාමරූප නම්, තිරිසන් ගතිකයෙක් වෙලා අභ්‍යන්තරව වෙනස් වෙමින් ඒ අත්බවයේ මිය යන තුරු ගෙනා මිනිස් කයෙන් අනෙක් මිනිසුන් අතර සමානයෙක්ව පෙනී සිටියත්, තිරිසන් නාමරූපවල ගතිය තිරිසන් කරවන නිසා තිරිසන් සළායතන, තිරිසන් ස්පර්ශය, තිරිසන් වේදනාව, තිරිසන් තණ්හාව, තිරිසන් උපාදානය, තිරිසන් භවය ගෙනැවිත් තිරිසනා යන සම්මත නාමයෙන් ඉඳල මිය යන මොහොතේ, චුත වන මොහොතේ ඒ භවයෙන් (ගතියෙන්) තිරිසන් ජාතියේ උපත ලබනවා. චුත වන මොහොතේ ඔහු උපාදාන කළ කර්ම භවය අනුව උප්පත්ති භවයට පත්වී, උප්පත්ති ජාතිය ලබනවා. එතකොට තමයි කයෙන් අනුකූල සතාගේම මිනිසා, දෙවියා ආදී ලෙස වෙන්නේ. මෙසේ **යක්ෂ, ප්‍රේත, මනුෂ්‍ය, දේව, බ්‍රහ්ම ආදී නාමරූප සෑම සැරිසරන මනුෂ්‍යයකුටම හිමි නිසා ඔවුන් කුමක් හෝ ගතියක එල්බගෙන සෑම මොහොතකම ඉන්නවා.** මිනිස් භාවයේ සිටින ඔබට ලෝකයා කෙසේ ගරුසරුව කතා කළත්, නිගරුව කතා කළත්, චුත වන මොහොතේ ඔබට හිමි වන්නේ ගතියේ උපතයි. ඒ වෙන තුරුත් ඔබ ගති අනුරූප පුද්ගලයෙක්. ඉහත කී ලෙස කිසි තැනක අල්ලන කාම හෝ රූප හෝ අරූප හෝ නාමරූපයෝ නැද්ද, එහෙනම් ඔබට ගති නෑ. ඒ නිසා ජාති ඇති වෙන්නෙ නෑ. එහෙනම් පිරිනිවෙනවා. පිරී නිවෙනවා කියන එකයි මේ කිව්වේ. මෙසේ මෙලොව ප්‍රවෘත්තිය පෙන්වන ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදය යමෙක් නොදන්නවද, (වචනවලින් නොව අදහසින්) ඒ පුද්ගලයාට නිවන් දැකීමට කොතෙක් සිතුවත් බැරිය යනු බුද්ධ දේශනාවයි. (වාසෙට්ඨ සූත්‍රය) ඉතින් ඒ බුද්ධ දේශනාව පැත්තක දමල මොන ජාතියේ පොත්පත් බැලුවත්, බණ භාවනා කළත් නිවන් දකින්න බෑ. මේ ලෝකයේ තිරිසන් වෙන්නෙත්, දෙවි වෙන්නෙත්, බ්‍රහ්ම වෙන්නෙත්, මනුෂ්‍ය වෙන්නෙත්, ශ්‍රමණ වෙලා නිවන් අවබෝධ කරන්නෙත් කවදා හෝ මනුෂ්‍යයන් වෙලා සිටියදී කරපු ක්‍රියා පිළිවෙල අනුවයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 14 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ◆ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. ◆ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම. ◆ සමන් සිල්වා මහතා - නාගොඩ, කළුතර. ◆ ඩී.සී.ආර් ඇක්සස් ලංකා මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුලු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ. ◆ එස්. එම්. ජයසේකර මහතා - මාලබේ. ◆ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය. ◆ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත. ◆ නයනා නිශ්ශංක මහත්මිය - කැළණිය. ◆ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව. ◆ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම. . ◆ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ◆ නන් අයුරින් දායක වූ පිංවතුන්

**මූල්‍යමය දායකත්වය** ◆ ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර ඕස්ට්‍රේලියාව - රු. 50,000/- ◆ සමන් සිල්වා මහතා - කළුතර - රු. 19,605/- ◆ තුසිත නාකන්දල මහතා - ගල්කිස්ස රු. 6000/- ◆ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු. 5,000/- ◆ මනෝජ් ජයසූරිය මහතා - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ශාන්ත මාරසිංහ මහතා - කෙන්ගල්ල, නිමල් දහනායක මහතා - කොළඹ, සුභාෂිනී අබේරත්න මහත්මිය - ජාඇල, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව - රු. 6,500/- ◆ පුබුදු ශ්‍යාමික මහතා - නිට්ටඹුව - රු. 4,000/- ◆ වසන්ත අභයසිංහ මහතා සහ පද්මා කහදූව මහත්මිය - තලපත්පිටිය - රු. 2,850/- ◆ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ◆ වරුණ සුගතපාල මහතා - ගොතටුව - රු. 2,000/- ◆ සුනිල් තලේරත්න මහතා ඇතුළු පවුලේ සැම - කඩුවෙල - රු. 2,000/- ◆ කෝෂලා සිරිවර්ධන මෙනෙවිය - ගාල්ල - රු. 2,000/- ◆ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ◆ මධුභානි කළුවැව මහත්මිය - මාලබේ - රු. 1,000/- ◆ මානෙල් කුමාරතිලක මහත්මිය - ජාඇල - රු. 1,000/- ◆ දිල්රුක් ෂෙහාන් බස්නායක මහතා - මත්තෙගොඩ - රු. 1,000/- ◆ නන්දාවතී සුබසිංහ මහත්මිය - ගාල්ල - රු. 1,000/- ◆ මහින්ද ජයවර්ධන මහතා සහ ශමිලා ජයවර්ධන මහත්මිය - ගම්පහ - රු. 1,000/- ◆ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 108,955/- ◆ පිටපත් 5000 ක් සඳහා මුද්‍රණ වියදම - රු. 135,000/- ◆ අනෙකුත් වියදම් - රු. 11,695/- ◆ සම්පූර්ණ වියදම - රු. 146,695/- ◆ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා!**

**එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සහා ගුවන් හඬ''ට පිවිසෙන්න.

# පහාස අපායෙන්...



මිස දිටු මුලාවෙන් මත් වී රඟ පෑම
රස යැයි වයා කාමය ගැන ගී කීම
වස බඳුනකින් මී පැණි කියමින් බීම
ලෙස සම කෙරිය හැක මෙතුනින් රැවටීම

නොපා ලොවට ගුණ දම් කෙළි කවට ගතී
පපා නැටුම් රැඟුවොත් කාමයෙහි පැතී
අපායක පහාසය නම් නමක් ඇතී
එපා වෙන තුරුම ගිනි උඩ රැඟුම් දෙතී



ගිනි ගත් පොළොව මත සැදි වේදිකා වල
වැනි වැනි ගයති නටමින් දුක් කඳුළු ගිල
පැණි මෙන් දුටුව පෙර කළ ගී රැඟුම් පෙළ
දුනි මේ ලෙසින් අද නිරයෙහි ඉපිද ඵල

තැනෙක සොඳුරු මල් පොකුරක් ලෙසට පෙනේ
හනෙක ගිහින් අල්ලන්නට අතට ගැනේ
සැනෙක එමල් ගිනි ගුලි වී ගතට දැනේ
දිනෙක මෙඵල දෙන රැඟුමන් කුමට අනේ !

වයන ගයන ගින්නෙන් තැනි උපකරණ
සොයන විගස අහුවෙන මුත් නැත සරණ
මියෙන බවට අඩුවෙන් කය රත් කරන
බියෙන තැනකි සැනසීමක් නැත දරන



පහසක් ගන්න අටියෙන් ලෝ සත රවටා
දහසක් මුලා පද වැල් රූපද දවටා
අහසක් උසට වපුරා මෝහය අවටා
සහසක් පැසෙන කල් විඳවයි කළ පවටා

හිතුවොත් කාම රැඟුමන් ලොකු පිනක් ලෙස
රැඟුවොත් එයින් පිනවන්නට අනුන් ඇස
ගැයුවොත් සවන් මත් කරවන වදන් විස
හැදුවොත් යමක් මෙලෙසින් එයි මහත් දොස



රැගෙන මුලා රූපද දහසක් දවටා
දෙගුණ තෙගුණ කරමින් මෝහය බවටා
නැගෙන පාප කඳ නිම් හිම් නැත එවටා
නොගෙන ඉඳිවි පහසක් රැඟුමින් රවටා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නොපෙනෙන ලොවින්...



ඉඳිකටු තුඩ වන් විය සිදුරක සිට
විඳිනට දම් රස පොදියට වී වට
සැදී එදවස සත හිමි වැඩ සිටි විට
මදි නොම විය ඉඩ මග එල ලැබුමට

නොපෙනෙන ලොව ඇති අනතවු ලෝ සත
බැඳගෙන දූ දරු මල්ලන් හැම අත
වැඳගෙන මුනි රජ අරගෙන බැති සිත
බිඳගෙන ගිය පුවතකි මොක් පුර වෙත

අනතවු ලෝකය මෙතෙකැයි කියනට
නැණ මදි වෙයි ලොව සිටිනා සත හට
දින දින වැඩි වන නව විදු ලොව කට
පැනයකි යළි යළි විසඳුම් ලබනට

උඩ යට වට ලෙස ගත්තද මිනුමක්
අඩමානෙකි නැත කෙළවර පෙනුමක්
දොඩමලු වූවට මනු ලොව දැනුමක්
ඉඩ මදි ලැබගන්නට ලොව දිනුමක්

මස් ලේ ඇසකින් දෙන තීරණය
දොස් ඇත නැත කිසි විට පූරණය
බස් නොදොඩා විමසා කාරණය
ඇස් හැර බැලුවොත් වෙයි ධාරණය

අපමණ සක්වල ලැගගෙන ඉන්නේ
මෙපමණ සතුනැයි නැත අප දන්නේ
කොපමණ දෝ දෙව් බඹ මනු වන්නේ
එපමණකිනි මුනි බණ දැක ගන්නේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.